සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2556ක් වූ නිකිණි මස (ව්‍යවහාරික වර්ෂ 2012 අගෝස්තු)

දහවෙනි කලාපය





# ප්‍රිය භාවය සිඳ බැලීම

## හෙවත් පිරිසිඳ දැකීම



මැසි මදුරුවන් පලවා හැර හෙළුව වසා
සිසිලස උණුසුමද සමනය කරන ලෙසා
නිසි ලෙස සකස් කළ ඇඳුමට වැඩිය මසා
රිසි සේ නොමැති කය හැඩ වැඩ කෙරුම දොසා

ගල් මුල් මිසක මල් නොඑවන ලොවේ මනු
වල් වැඩවලට ඇත දහසක් පියලි තැනු
කල් පවතිනා කිසිවක් නැති නිසා දිනූ
බොල් වැඩ බොල්ම වෙයි දැනගෙන අතැර ලනු

ටොපියට වඩා ටොපි කොළයට රැවටීම
හිටියට වඩා තරුණව ඇඟ දැවටීම
හැටියට තමන් තරමට වැඩි හැඩවීම
පිටියට වන් මහල්ලෙකු මෙනි පැරදීම

සිව් සැට මායම්ද ලොව ඇති නෙක බහුරු
සව් සත මුළා කරවන හැඩ වැඩ නුහුරු
පව් විඳවන කයකි නිති තුන් දොස ඇහුරු
ගෙව් කය තබා ගත්තේ රිසි ලෙස කවුරු

සුන්නත් වෙලා යන කයකට සිය ගානේ
ඇන්දත් වටින සළු පිලි එලයක් නෑනේ
සින්දත් මුදල් පෙන්වන්නට පුහු මානේ
දුන්නත් වටී බලු කපුටන් හට දානේ

කුස ගින්නට නැතත් එක බත් ඇටයක් වත්
එස වෙන්නට බලයි හැඩයෙන් අඟලක් වත්
දොස එන්නට කලින් බුදු බණ පදයක් වත්
අසමින් හිට මළත් එයි මතු නිවනක් වත්

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# සැඟව ගිය බොදු මග යළි මතුවීමට එරෙහි කෙනෙහිලිකම්වල බරපතළකම

මේ අත් බවයේ දීම මගඵල ලබන නිවැරැදි දහම් පිළිවෙත ධර්මානුකූලව හා හේතුඵල සහිතව විග්‍රහ කරන කොට, විතණ්ඩවාදී ඇතැම් තර්කවාදීන් බුද්ධ දේශනාව වැරදියට අර්ථ නිරූපණය කරමින් සෝවාන් වීම සක්විති රජකම ලබා ගැනීමටත් වඩා අමාරු බව ප්‍රකාශ කරමින්, බොදුනු පින්වතුන් මංමුළා කර මන්දෝත්සාහී කිරීමට ගන්නා උත්සාහයන් ද වාර්තා වෙනවා. මෙවැනි ප්‍රකාශයන් කොතරම් දහම් විරෝධී හා පින්වතුන් නොමග යවනසුළු ද යන්න දැන ගැනීමට බුද්ධ දේශනාව කෙසේ දැයි විමසා බැලිය යුතුයි.

සං: නි: (2) කාණ්ඩයේ සෝතාපත්ති සංයුක්තයේ 139 පිටුවේ එන රාජ සූත්‍රයේ දක්වෙන ආකාරයට බුදුන් වහන්සේ මෙසේ දේශනා කර තියෙනවා. ''**මහණෙනි, යම් සිව් දිවයින් පිළි ලැබුමක් වේද, ඒ කියන සක්විති රජකම ලැබූ පුද්ගලයා, යම් සිවු දහම් පිළි ලැබූ සෝතාපන්න අරිය ශ්‍රාවකයකුගේ සොළොස් කලාවෙන් කලාවකුත් නොවටින්නේය.**'' මෙතනදී සිව් දිවයින් පිළි ලැබූ කිව්වේ සක්විති රාජ්‍යයක් ලැබුවා කියන එකයි. සිවු දහම් කිව්වේ බුදුන් කෙරෙහි අචල ප්‍රසාදය, දහම් කෙරෙහි අචල ප්‍රසාදය, සඟුන් කෙරෙහි අචල ප්‍රසාදය හා අරිය කාන්ත සීලය කියන සෝවාන් අංග හතරයි.



එතකොට මේ විදිහට විග්‍රහ කරන්නත් හේතුවක් තියෙනවා. සෝවාන් පුද්ගලයා සදහටම සතර අපායෙන් නිදහස් වූ කෙනෙක්. නමුත් සිවු දිවයිනේම ඉසුරු ඵල ලබා සක්විති රජ වුණත්, මරණින් මතු දෙවියන් අතරට පැමිණියත්, නඳුන් උයනේ දිව්‍ය අප්සරාවන් සමග පස්කම් සැප විඳිමින් හිටියත් ඒ පුද්ගලයාට හතර දහම් (සෝවාන් අංග හතර) නෑ. ඒ නිසා ඔහු නිරය, තිරිසන් යෝනිය, ප්‍රේත විෂය, විනිපාතික අසුර කියන සතර අපායෙන් මිදිල නෑ. එහෙනම් සෝවාන් පුද්ගලයාගේ වටිනාකම වැඩිවෙන්න හේතුව තමයි මේ.

**මේකෙන් පෙන්වන්නේ චක්‍රවර්ති රාජ්‍යය ලැබුවත්, සතර දිවයින් ලබාගෙන රජකම් කළත්, ඒ කියන සක්විති රජකම සෝතාපන්න අරිය ශ්‍රාවකයාගේ වටිනාකමින් සොළොස් කලාවෙන් කලාවක්වත් වටින්නෙ නෑ කියන එකයි.** එහෙම නැතිව සෝවාන් වීම, සක්විති රජකම ලැබීමටත් වඩා අමාරුයි කියන කතාවක් නෙවෙයි මේ කියන්නේ. අමාරුයි කියන්නේ එකක්. වටිනාකම කියන්නේ තව එකක්. මේ කාරණා දෙක එකිනෙකට විශාල වෙනසක් තියෙන අදහස් දෙකක්. **වටිනාකමක් නෑ කියන එකයි මේ විදිහට අමාරුයි කියල අර්ථ පටලවාගෙන තියෙන්නේ.** ඉතින් මේ වචන දෙකේ වෙනසවත් වටහා ගන්න බැරි කෙනෙක් කොහොමද සද්ධර්මය විවේචනය කරන්නේ? **අනෙක මේ වගේ දහම් විරෝධී ප්‍රකාශයන් නිසා සක්විති රජකමේ අහලකටවත් කිට්ටුවෙන්න බැරි නම් සෝවාන් වීමක් ගැන හිතන්නවත් බෑ කියල පින්වතුන් සම්පූර්ණයෙන්ම මුළාවට පත්වෙනවා. විශේෂයෙන් නිවන් දැකීම අරමුණු කරගෙනම පැවිදි දිවියට ඇතුළත් වූ භික්ෂූන් වහන්සේ නමක් මේවගේ ප්‍රකාශ කරනවනම් ඒක බරපතළ පාපයක්, ධර්මය විකෘති කිරීමක්.**

නමුත් මේ වෙනකොට අර්ථ විපරීතයන්ට ලක් වූ සැඟව ගිය දහම් කරුණු ත්‍රිපිටක සූත්‍ර දේශනාවලට අනුකූලව හේතුඵල සහිතව පෙන්වා දෙන කොට, සමහරු කෑ ගහනවා පවතින ධර්මය විකෘති කරනව කියල. මෙතනදි අපි දැනගන්න ඕන, **නිවන් දකින්න අවශ්‍ය වෙන්නේ ප්‍රණීත ධර්මය කියල.** නමුත් අද වෙනකොට දේශනා කරන ධර්මයෙන් නිවන් දකින්න පුළුවන්ද? ඒක කොතරම් බුද්ධ දේශනාවට අනුකූලද? ඒ ධර්මය ඇසුරු කරන කොට රාගක්ෂය, ද්වේෂක්ෂය, මෝහක්ෂය කරගන්න පුළුවන්ද? ඒකෙන් නිවන් මග මතු කර ගන්න පුළුවන්ද? පවතින ධර්මය සුද්ධ වූ භාෂිතයක් නම්, එයින් නිවන් මග හෙළි කර ගන්නා ක්‍රමය මොකක්ද? මේ ආදී කාරණා එකක්වත් ඒ අය පැහැදිලි කරල දෙන්නෙ නෑ. ඒ වෙනුවට යම් යම් මාධ්‍යයන් අල්ලගෙන නිර්මල දහම් මග මතුවීමට එරෙහිව පහර ගහන එකයි කරන්නේ. ඇතැම් පහර ගැසීම් කොච්චර ද්වේෂ සහගතද කියනවනම්, පිස්සන්, මූලධර්මවාදීන්, මනස විකෘති වූවන්, හොරුන්.... ආදී ලෙසින් බෞද්ධකමට කිසිසේත්ම නොගැලපෙන වචනත් පාවිච්චි කරමින් තමයි පහර ගහන්නේ. ඒ විදිහට පහර ගහන්නෙත් බෞද්ධ භික්ෂූන් වහන්සේලාටයි, බෞද්ධ පින්වතුන්ටයි. සමහර අවස්ථාවල අපවත් වෙච්ච භික්ෂූන් වහන්සේලාටත් පහර ගහනවා. කනගාටුවට කරුණ නම් මේ විදිහට පහර ගසමින් අපවාද කරන්නෙත් අපේම ඇතැම් භික්ෂූන් වහන්සේලා සහ ගිහි පින්වතුන්මයි.

නමුත් ලොව්තුරා බුදු පියාණන් වහන්සේ අන්‍ය පුද්ගලයන් විවේචනය, විශේෂයෙන් පෞද්ගලික විවේචනය කිසිසේත්ම අනුමත කළේ නෑ. බුදු දහම තියෙන්නේ තමන්ට හැදෙන්න මිසක් ලෝකයා හදන්න නෙවෙයි. ලෝකයාට පහර ගහන්න නෙවෙයි. **තමන් හරි මග ගිහින් හැදිලා, ඒ මග තවත් කෙනකුට කියා දුන්නට කමක් නෑ. ඒක බොහොම හොඳයි. නමුත් තමන් කප්පරක් අසූචි වළේ එරිල ඉඳගෙන ගොඩ ඉන්න මිනිහගෙ අතේ අසූචි යැයි කියමින් කෑගහන එක තමයි මේ විදිහට පහර ගහන බොහෝ අය කරන්නේ.** තමන් වැටිල ඉන්න අසූචි වළ ඒ අයට පේන්නෙ නෑ. ඒ තරමටම මුලාවෙන් වැහිලා. **තමන් පැවිදි වෙලා හෝ ගිහිව ඉඳගෙන හෝ යම්කිසි ශාසනික කටයුත්තක නිරත වෙන්නේ, කවදා හෝ අනන්ත සංසාරයෙන් මිදිල නිවන් දැකීමේ බලාපොරොත්තුවෙන් මිසක් ලාභ, කීර්ති, ප්‍රශංසා, තාන්නමාන්න රැක ගන්න නෙවෙයි නම්, නිර්මල දහම් මග මතුවීමට** ඔච්චර බය වෙන්නෙ ඇයි? ඊට එරෙහිව පහර ගැසීමෙන් ඒ අය බලාපොරොත්තු වෙන්නෙ මොකක්ද? අවසානයේ ඔවුන්ට ලැබෙන ඵලය මොකක්ද? මේ කියන ලාභ, කීර්ති, ප්‍රශංසා, තාන්නමාන්න ආදියත්, අනිච්ච, දුක්ඛ, අනත්ත වූ හරයක් නැති දේවල් මිසක් බදාගෙන එල්ලීගෙන ඉන්න සුදුසු දේවල් නෙවෙයි කියල දහම් ඇසින් දැක ගත්ත නම්, එදාට ☞

තේරුම් යන්න ඕන, අනේ මොන හරයක් ඇති දේවල් පසුපසද අපි මෙච්චර කල් දිව්වෙ කියල. නමුත් ඒක තේරුම් ගන්නත් අර්ථ විපරීත වෙච්ච දහමකින් බෑ. එහි අර්ථය හා ධර්මය නිරුක්ති සමගින් දකින්න ඕන. ඒක තමයි මේ මතුවෙමින් එන්නේ.

නිර්මල දහම විකෘති කිරීම ඒකාන්තයෙන්ම අපාගත වීමට හේතුවන ආනන්තරික පාප කර්ම තරම් බලවත් නොවුණත්, ඊළඟට ඇති බරපතළම පාප කර්මවලට වැටෙන බව <u>අංගුත්තර නිකාය (1) ආනාපත්ති වර්ගයේ</u> සූත්‍ර කිහිපයකම පෙන්වා තියෙනවා. **ධර්මය අධර්මය කිරීම, අධර්මය ධර්මය කිරීම, විනය අවිනය කිරීම, අවිනය විනය කිරීම කියන කාරණා ශාසනය අතුරුදන් වෙන්න හේතුවන බවත්, එය මහා පව් රැස්කරන කටයුත්තක් බවත්** පෙන්වා තියෙනවා. ඇවත නොඇවතයි කීම ගැනත් පැහැදිලි විග්‍රහයක් ඒ සූත්‍රවලම දක්වල තියෙනවා.

එහෙනම් අර්ථ විපරීතයන්ට ලක් වෙච්ච නිර්මල දහම් මග නැවත මතුවෙන කොට ඒකට පහර ගැසීමත්, ඒ වගේම බරපතල පාපයක් බව දැන ගන්න ඕන. මොකද **ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමක් දේශනා කොට වදාළ ශ්‍රී සද්ධර්මය කාලයක් යනකොට අර්ථ විපරීතයන්ට ලක් වෙලා සැඟව යෑම අද ඊයෙ පමණක් සිද්ධ වෙච්ච එකක් නෙවෙයි.** බුදු කෙනෙක් පිරිනිවන් පාලා කල්යත්ම ඒ දහම විපරීත වෙලා කාලයක දී නැවත මතු වෙනවා. (මේ කාරණය ප්‍රඥා අධික බුදු කෙනෙකුගේ ශාසනයේ සිද්ධ වෙන දෙයක්. උදාහරණ : මොග්ගලීපුත්ත තිස්ස හා මලියදේව යන මහරහතන් වහන්සේලාගේ කාලයේ විපරීතවී ගිය දහම නැවත බැබලීම) ඒ මතු වූ දහම නැවතත් කාලයක් පැවතිලා විපරීතයන්ට ලක්වෙලා සැඟව යනවා. හැබැයි **බුද්ධෝත්පාද කාලයක දී සිදුවන ඒ සැඟව යෑම තාවකාලිකයි.** අපේ ශාසන ඉතිහාසය දෙස හොඳින් බැලීමේ දී පෙනී යන කරුණක් තමයි, මේ වගේ නිර්මල දහම **කාලයක් බැබළීම හා කාලයක දී අර්ථ විපරීතව සැඟව යෑම කියන කාරණා දෙක වරින්වර සිද්ධවීම.** ඒක හරියට මුහුදු රැල්ලක් වගෙයි. වෙලාවකට විද්‍යමාන වෙනවා. තවත් වෙලාවකදී යටපත් වෙනවා. ඒ තමයි ලෝක ධර්මතාවයේ හැටි. බුදු සසුනටත් ඒක ඒ විදිහටම බලපානවා.

අනෙක් කාරණය නම් යම්කිසි භික්ෂූන් වහන්සේ නමක් හෝ ගිහි කෙනෙක් හෝ වේවා, තවත් භික්ෂූන් වහන්සේ නමක් හෝ බොදුනු පින්වතෙක් හෝ විවේචනය කිරීමේ බරපතල පැත්තකුත් තියෙනවා. අංගුත්තර නිකාය (2) හි 7 වන පිටුවේ එන <u>පඨමඛත සූත්‍රයේ</u> දක්වෙන පරිදි **නොදැන නොවිමසා අගුණ කිව යුත්තන්ගේ ගුණ කීම, ගුණ කිව යුත්තන්ගේ අගුණ කීම, නොපැහැදිය යුතු තැන පැහැදීම, පැහැදිය යුතු තැන නොපැහැදීම කියන කාරණා සිදු කර ගන්නා පුද්ගලයා මහා පව් රැස්කර අපාගත වෙන බවත්** පැහැදිලිව විස්තර කරල තියෙනවා. බැරිවෙලාවත් ඒ අපවාදයට **ලක්වන පුද්ගලයා පැවිදි වේවා ගිහි වේවා ආර්ය භාවයට පත් පුද්ගලයෙක් නම් ප්‍රතිඵලය වඩාත් භයානකයි.** එහෙම වුණොත් ඒ අය එමගින් ආර්ය උපවාදයක් සිද්ධ කරගෙන නිරයට වැටෙන බවත්, නිරර්බුද එක්ලක්ෂ තිස්භයකුත්, අර්බුද පහකුත් නිරයේ පැසෙන බවත් පෙන්වල තියෙනවා. (නිරර්බුද කියන්නේ කාලය මනින චක්‍රයක්) ඒ වගේම අංගුත්තර නිකාය (2) 159 පිටුවේ එන <u>වණ්ණ සූත්‍රයේත්</u> මේ විදිහටම පෙන්වා තියෙනවා. **ඔසවාගත් බරක් බහා තැබූවක් සෙයින් දුගතියේ උපදින බව** පෙන්වනවා.

මේ නිසා **ඉවක් බවක් නැතිව කටයුතු කරන ඇතැම් අය බණ භාවනා කරන, ධර්ම දේශනා කරන ස්වාමීන් වහන්සේලාට සමච්චල් කරමින් ඒ අය විකෘති වූ මානසික රෝගීන් ගණයට ඇද දමමින් කරන ප්‍රකාශවල ප්‍රතිඵල අති භයානක වෙන්න පුළුවන්.** මොකද අපි නොදැනුවත්වම ජාත සෝතාපන්නයින් ලෙස හඳුන්වන, පෙර අත්බැව්වලදී මග ඵල ලබා නැවත මිනිස් ලොව ඉපදුණු අයත් ඔය අතර ඉන්න පුළුවන්. මේ නිසා ''අද ඉන්නේ මගඵල කියා රැවටුණු පිස්සන'' යැයි කියමින් ඔක්කෝම එකම ගොඩට දමන්න යෑම සුදුසු දෙයක් නෙවෙයි. එහෙම රැවටිච්ච උදවියත් ඉන්න පුළුවන්. නමුත් සියල්ලම එහෙම නෙවෙයි. අනෙක **රැවටුණයි කියල ඒ අයට පහර ගහන්න යෑමත් ධර්මයට ගැලපෙන්නෙ නෑ. ඒ අයත්** කවදා හෝ මේ සසරින් එතෙර විය යුතුයි යන්න අමතක නොකළ යුතුයි. **වෙනත් කෙනෙක් රැවටිච්ච බව කවුරුහරි දන්නව නම්, ඒ දන්න පිංවතා හේතු සාධක ඇතිව වෙනස විග්‍රහ කරල පෙන්වල සත්‍ය ක්‍රමයත් හේතු සාධක ඇතිව පෙන්වා දිය යුතුයි.**

මීළඟ කාරණය නම් පෘථජ්ජනයා හා ආර්ය ශ්‍රාවකයා කියන කාරණා දෙකේ වෙනස වටහා ගැනීමයි. සං.නි 5 (2) සෝතාපත්ති සංයුක්තයේ 229 පිටුවේ එන <u>නන්දිය සූත්‍රයේ</u> මෙසේ පෙන්වනවා. නන්දිය කියන ශාක්‍යයා බුදුන් වහන්සේගෙන් මෙහෙම අහනවා. ''ස්වාමීනි, අරිසච්භට (එනම් සෝවාන් ආර්ය ශ්‍රාවකයාට) සෝවාන් අංග සියල්ලෙන් සියල්ල මුළුල්ලෙන් සියල්ල නැද්ද ඒ අරිසච් ප්‍රමාද විහරණයට පත්වන්නේ කොහොමද?'' එවිට බුදුන් වහන්සේ මෙහෙම දේශනා කරනවා. ''නන්දිය **යමෙකුට සිව් සෝවාන් අංග සියල්ලෙන් සියල්ල මුළුල්ලෙන් සියල්ල නැද්ද ඔහු බාහිර පුහුදුන් තත්ත්වයේ පුද්ගලයකු යැයි** මම කියමි.'' (මෙහි බාහිර කිව්වේ ශාසනයෙන් බැහැර කියන එකයි.) එතකොට ඒ පුද්ගලයාට කවදාවත් සියල්ලෙන් සියල්ල මුළුල්ලෙන් සියල්ල නැත්නම්, එනම් අංශු මාත්‍රයක්වත් නැත්නම් ඔහු බාහිර පුහුදුන් කෙනෙක්. එනම් පෘථජ්ජන කෙනාට මේ සෝතාපත්ති අංග හතරෙන් මාත්‍රයක්වත් නෑ. **බුදුන් කෙරෙහි, දහම් කෙරෙහි, සඟුන් කෙරෙහි, අරිය කාන්ත සීලය කෙරෙහි ප්‍රසාද මාත්‍රයක්වත් නෑ.** මේ තමයි පෘථජ්ජනයාගේ ස්වභාවය. හැබැයි **මේ අංග හතරෙන් පොඩ්ඩක් හරි තියෙනව නම් පෘථජ්ජනයෙක් නෙවෙයි,** ඒ සෝවාන් මාර්ග අනුගාමිකයෙක්.

සංයුක්ත නිකාය (5) 1 වන කාණ්ඩයේ මුදුතර වර්ගයේ 361 පිටුවේ එන <u>පටිපන්න සූත්‍රයෙන්</u> මෙසේ පෙන්වනවා. ශ්‍රද්ධා, වීර්ය, සති, සමාධි, ප්‍රඥා කියන ඉන්ද්‍රිය පහ සම්පූර්ණයෙන්ම පූර්ණ නම් රහත් ඵලයයි. ඊටත් වඩා මෘදු ඉන්ද්‍රියන් නම්, එනම් ඊටත් වඩා බාලයි නම් අරිහත් මාර්ග අනුගාමිකත්වයයි. ඊටත් වඩා මෘදු නම් අනාගාමී ඵලයයි. ඊටත් වඩා මෘදු නම් අනාගාමී මාර්ග අනුගාමිකත්වයයි. ඊටත් වඩා මෘදු නම් සකෘදාගාමී ඵලයයි. ඊටත් වඩා මෘදු නම් සකෘදාගාමී මාර්ග අනුගාමිකත්වයයි. ඊටත් වඩා මෘදු නම් සෝවාන් ඵලයත්, ඊටත් වඩා ඉන්ද්‍රියන් පහ මෘදු නම් සෝවාන් මාර්ග අනුගාමිකත්වයත් වෙනවා. මෙහෙම ගිහින් මේ ඉන්ද්‍රියන් පහ සියල්ලෙන් සියල්ල මුළුමණින්ම සියල්ල නැත්නම් තමයි පෘථජ්ජන වෙන්නේ. ඒ කියන්නේ මේ ඉන්ද්‍රියන් පහ එකින් එක මෘදු මට්ටමටම අඩුවෙලා ගිහින් අංශු මාත්‍රයක්වත් නැත්නම් තමයි පෘථජ්ජන කියන්නේ. **මේ නිසා සමහර භික්ෂූන් වහන්සේලා ''පෘථජ්ජන අපි'' කියල කියන කොට මේ කාරණා ගැනත් පොඩ්ඩක් විමසා බැලීම වටිනවා.**

''පෘථජ්ජන අපි'' කියල කියා ගන්නා කෙනෙක් ධර්ම ධරයන් **වහන්සේලා හෝ දේශකයන් වහන්සේලා විවේචනය කරමින් ධර්මය නිරවුල් කර පෙන්වන්න යෑම මොන තරම් මුලාවක්ද** කියල මේ අනුව තේරුම් ගත යුතු අතර, ඒ පින්වතුන් අඩුම තරමේ පළමුවන ධ්‍යානය හෝ සෝතාපන්න ඵලය වත් ලබා ගන්නට ගුරු ඇසුරකින් කටයුතු කර ගන්නව නම් ඒක බොහොම වටිනවා.

ඉතින් මේ කාරණා ටික තේරුම් අරගෙන, අති දුර්ලභව පහළ වන්නාවූ සම්බුද්ධ ශාසනයක දුර්ලභව ලැබූ මනුෂ්‍ය අත්භවය නිරපරාදේ ගෙවී යාමට නොදී, මේ මතුකරන දහම් කරුණු මොනවද කියල එක පාරටම පිළි නොගෙන කළබල නොවී, තමාම විමසිලිවත්ව සිතා බලා, අති භයංකාර වූ සසර කතරින් එතෙර වෙන්න සෑම පින්වතෙක්ම උත්සාහ ගන්න ඕන. ඒ වගේම නිර්මල දහම් මග මතුවීමට එරෙහිව කටයුතු කරන උදවියටත් කියන්න තියෙන්නේ, අනේ කවදා හරි නුඹලාටත් මේ සත්‍යය යථාර්ථය වැටහිලා, උතුම් වූ නිර්වාණයම ලැබිල අනන්ත වූ සංසාර දුකෙන් මිදේවා, ඒ සඳහා නැණ නුවණ පහළ වේවා කියන එකයි. සාරා සංඛ්‍ය කල්ප ලක්ෂයක් අපමණ පෙරුම් පුරා ලොව්තුරා බුද්ධත්වයට පැමිණි බුදු පියාණන් වහන්සේ

28 වෙනි පිටුවට...

# මේ කියන තරම් නිවන් දකින්න අමාරුද?

ලෝකයාට මේ වෙනකොට නිවන් දොරටු විවර කර ගන්න තියෙන බාධා මොනවද කියලයි මේ විමසා බලන්නේ. ලෝකයේ මෙච්චර සැප පෙනි පෙනී තියෙද්දිත් නිවන් දකින්නේ මොකටද කියල, මේවගේ දෘෂ්ඨියක් සමහර අයට තියෙනවා. අපට ඊයෙ කියල දවසක් තිබුණා. ඊයෙ අපි මෙවැනි ආස්වාද වින්දා. දූන් අපි සිහිකරන, ඊයෙ දවසේ හිටපු ''අපි '' අද දවසේ මෙතන ඉන්නවා. සිහි කරල බැලුවම ඊයෙ දැකපු අපේ රූපවලට පණක් තියෙනවද? ඒ සිහිකරන රූපවල චිත්‍රපටියක දකින රූපවලටට වඩා වෙනසක් තියෙනවද? මේ ගැන මොහොතක් කල්පනා කරල බලන්න. ඒ ක්‍රියා කරපු ආකාරයට වඩා වෙනස් චලනයක් දකින්න බෑ. ''ඊයෙ මේ වැඩේ කරපු හැටි හරි නෑ. මීට වඩා හොඳට කරන්න ඕන..... '' මෙහෙම කියල ඊයෙ කරපු දේ අද වෙනස් කරන්න පුළුවන්ද? ''මම'' කියල යමෙක් හිටියනම්, ඒ මේ දූන් සිටින ''මම'' නම්, මට ඕන හැටියට ඒ දේ වෙනස් කරන්න බැරි ඇයි? අද වෙනසක් කළොත්, ඒ වෙනස අලුතින් කරපු දෙයක් මිසක් ඊයෙ කරපු දේ වෙනස් කළා නෙවෙයි. ඇඳල තිබුණ ඇඳුමේ පාට, ඒ පාටම මිසක් වෙන පාටක් වෙන්නෙ නෑ. මේ පිළිබඳව හොඳට හිතල බලන්න.

එහෙනම් ඊයෙ ''මම'' හිටිය කියල පණ ඇති රූපයක් සේ දැකපු ''මම'' අද ආපසු බලන කොට පණ නැති රූපයක්. මොහොතක් මොහොතක් පාසා කාලයට දිය වෙවී යන, ගෙවී ගෙවී යන, වැනසි වැනසී යන රූපයකට ''මම පණ ඇති කෙනෙක්'' කියල වැරදි දෘෂ්ඨියක ඉන්නව නේද? **උපන්දා පටන්ම මේ රූපය ගෙවී ගෙවී, වැනසි වැනසී යනවා මිසක් තමන් කැමති ආකාරයට එක මොහොතක් හෝ පවත්වගන්න පුළුවන් වුනාද කියල හිතල බලන්න.**

ඉතින් මේ පෙනි පෙනී තියෙන සැප කියල අපි මැනගෙන ඉන්න සියළු සම්පත් - රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාන කියන සියල්ල මොහොතින් මොහොත ගෙවී ගෙවී වැනසිලා යනව නේද? මේ ''මම'' කියල හඳුන්ව ගන්නා රූපයත්, බාහිර ලෝකයේ සම්පත් කියල ආස්වාද ජනක යැයි හිතන් ඉන්න රූප, විඳීම්, හඳුනා ගැනීම්, ක්‍රියා ආදී සියල්ලමත් මොහොතින් මොහොත ගෙවී ගෙවී, වැනසිලා යන, තමන් කැමති පරිදි මොහොතකටවත් නතර කර ගන්න බැරි සැපත් වටිනවද? **ලෝකයේ මොන තරම් සැප පෙනි පෙනී තිබුණත් ඒවා ගෙවිල වැනසිලා යන ධර්මතාවයෙන් යුක්තයි. ඒ ධර්මතාවය අපට වෙනස් කරන්න පුළුවන්කමක් නැති නිසා අපි අනේක වාරයක් දුක් වෙච්ච හැටි සිහි කරල බලන්න. සැප නමැති මායා ස්වභාව මාත්‍රය ගොඩනගාගන්න, පවත්වාගන්න, තරඟ කරන්න පෙළුණු වාර අප්‍රමාණ බව සිහි කරල බලන්න.**



- මේ අවස්ථාව මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත් වන්නේය.
- සියළු අවස්ථාවෝ මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත්වන්නෝය.
- සියළු අවස්ථාවෝ මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත්වීම ධර්ම ස්වභාවය කොට ඇත්තෝය.
- පෙනි පෙනී ඇති සියලු සැප සම්පත් යැයි වෙන්කර ගන්නා ලද ධර්මයෝද ගෙවී ගෙවී ගොස් විනාසයට පත් වීම ධර්ම ස්වභාවය කොට ඇත්තෝය.

නිවන පමා කර ගන්නා තවත් කරුණක් තියෙනවා. මේ රැකී රක්ෂා නොකළොත් ජීවත් වෙන්නෙ කොහොමද? දරු මල්ලන් රැකෙන්නෙ කොහොමද? මේවාට කාලය ගත කරද්දී නිවනක් ගැන හිතන්න වෙලාවක් නෑ. රැකී රක්ෂා කියන්නෙත්, අඹුදරුවන්, දෙමාපියන් කියන්නෙත් ඉහතින් සඳහන් කරපු, මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත් වන ධර්මතාවයෙන් යුත් තවත් රූප කොටසක්මයි. දූ දරුවෝ වැඩිහිටි වෙනකොට ඔබ වයස්ගත වෙනවා. එතකොට අහන ධර්මය හිතේ රැඳෙන්නෙ නෑ. රඳවාගත් ධර්මය ක්‍රියාත්මක කරන්න කය වාරු නෑ. කායික වශයෙන් තියෙන දුර්වලතාවය නිසා මානසිකත්වය රඳවගන්න බැරි වෙනවා. එතකොට කියන්න වෙනවා, ''මේ ලෙඩ කයත් එක්ක නිවන් දකින්න බෑ, රස්සාවක් නෑ, මේ සොච්චම් විශ්‍රාම වැටුපෙන් ජීවත් වෙන්නත් අමාරුකොට මොන පින් දහම්ද? ඒවටත් මුදල් හදල් නැතුව බෑ....'' ආදි වශයෙන්.

මෙතැනදී විනාශය කියන්නෙ නිකම්ම ගෙවිල නැති වන දේ කියල හිතුවොත්, අර්ථය විදිහට වැටහෙන්නෙ කොටසක් විතරයි. වින+ආශය=විනාශය. මේ වින කියන වචනයෙන් හඳුන්වන දේ විමසා බැලිය යුතුයි. අපි අනවින, කොඩිවින කියන වචන වගේම වින කරනවා කියල අදහස් කරන්නෙ මහා අවැඩක්, මහා දුක් ගින්නක් ඇති කරන අර්ථයක්. අවිද්‍යා තෘෂ්ණා සහගතව පංචකාම සුඛාස්වාද පසුපස යනකොට, ඒවා ඉටුකරගන්න දස අකුසලය කරා ඇදී යන්නේ නිරායාසයෙන්. මේ විදිහට සිදුවන දස අකුසල්වල විපාක ගෙවන්න වසර කෝටි ගණනක් දුක් විඳිමින් සතර අපා දුක් විඳින්න සිද්ධ වෙනවා. දස අකුසල් තරම් තවත් විනයක් ලෝකයේම නැති බව තේරුම් ගන්න ඕන. ඡන්දරාගයෙන් ☞

බැඳුන ආස්වාද මොහොතක් ගෙවී යන්නේ මේ වින ආශ්‍රයට පත් කරවමින්. නිකම්ම ගෙවිල නැති වෙනවාට වඩා විනාශය භයානක වන හැටි මේ විදිහට දැක ගන්න ඕන.

දැන් ඉතින් ප්‍රමාදයි. ''පමාදෝ මච්චුනෝ පදං.....'' ප්‍රමාදී වූවෝ මළවුන් වැනිය. රහත් වෙන්න පිං තිබුණු, සම්පත් තිබුණු, මහධන සිටුතුමාට ප්‍රමාදවීම නිසා ජීවිතය අවසාන භාගයේ දිළිඳු වෙලා සිඟමනින් ජීවත් වෙන්න සිද්ධ වූ බව බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. සියළු බුදුවරයන් වහන්සේලා, ඊට පෙර වැඩ හිටපු අතීත බුදුවරයන් වහන්සේලා කටයුතු කරපු ආකාරය සිහි කරල බලනවා. මීට පෙර රැකියාවල් කරපු අය, අඹුදරුවන් පෝෂණය කරපු අය නිවන් දකල නැද්ද කියල ධර්මය ඇසුරින් හොයල බලමු.

ඛුජ්ජුත්තරා කියන්නෙ සාමාවතී බිසව ඇතුළු පන්සියයක් අන්තඃපුර බිසෝවරුන්ට මල් සපයපු සේවිකාව. ඒක ඇගේ රාජකාරියක්. නමුත් ඇය බුදුන්වහන්සේගෙන් බණ අහල සෝවාන් වෙලා ඒ ධර්මය බිසෝවරුන්ටත් කියල දීල ඒ අයත් සෝවාන් පෙලෙහි පිහිටෙව්වා. සෝවාන් වුණා කියන්නෙ නිවන් දැක්කා කියන එකයි. නිවන් මාර්ගය පූර්ණ වීමෙනුයි අරිහත් වෙන්නෙ. එනම් දහම් දැක අනුගමනයෙන් සියලු කෙලෙස් බිඳ හැර කෙළවර වුනාමයි අරිහත්වය කියන්නේ.

සුනීත කියන්නේ වසුරු කඳන් ගෙනිච්ච පහත් යැයි සම්මත කුලයක උපන් දුගී කම්කරුවෙක්. අම්බපාලි කියන්නෙ ගණිකා වෘත්තියේ යෙදුනු රූමත් ස්ත්‍රියක්. ඒ අයත් ධර්ම ශ්‍රවණය කරල මග ඵල ලැබුවා. සුද්දෝධන රජතුමා රාජ්‍යයක් පාලනය කරපු රජ කෙනෙක්. රජ කෙනෙකුට තරම් රාජකාරී කටයුතු අපේ රැකියාවක තියෙනවද? නමුත් එතුමා අනාගාමී වෙලා හිටපු බව ධර්මයේ සඳහන් වෙනවා.

බිම්බිසාර රජතුමත් සෝවාන් වෙච්ච කෙනෙක්. සන්තති ඇමති කියන්නේ යුද්ධයක් දිනපු සෙන්පතියෙක්. රාජාභරණ සහිත රජ ඇඳුමින්ම හස්තියෙක් පිට ඇවිත්, හස්තියානයෙන් බැහැල බුදුන් වහන්සේ හමුවෙලා, උන්වහන්සේගෙන් බණ අහල අරිහත්වයට පත්වුණා. චිත්ත නමැති ගෘහපතියා අඹුදරුවන්, සේවක කාරකාදීන් පාලනය කරමින් හිටියත් නියම කාලයේ ධර්ම ශ්‍රවණය කරල අනාගාමී වුණා. ධර්මය හදාරල බලන කොට තවත් බොහෝ උදාහරණ පෙන්වන්න පුළුවන්. මඟ ඵල ලබන්න අවශ්‍ය වන්නේ සුදුසු කාලයේ ශ්‍රී සද්ධර්මය යෝනිසෝ මනසිකාරයෙන් යුක්තව සිහිකිරීමයි. ශ්‍රී සද්ධර්මය දේශනා කරන කෙනා කල්‍යාණ මිත්‍රයෙකු වීමත් අත්‍යවශ්‍ය කරුණක්. සෝවාන් ඵලයට පත් වෙන්න ඒ ධර්ම දේශනා මොහොත ප්‍රධාන උපනිශ්‍රයක් වෙනවා.

මේ තරම් අපි බැඳී සිටින දෙමව්පියෝ, දූ දරුවෝ කියන්නේ කාටද? ඒ අය එක්ක එබඳු සබඳකම් ගොඩනැගුනෙ කවදාද? කුමක් නිසාද? කවදා වෙනකල් මේ බැඳීම් පවතීද? විමසා බලමු. මේ සසර ගමනේ එක් අත්බැවක් වූ මේ මිනිසත් බව උපමාවකින් කියනවනම්, දුර ගමනක් යන මගීන් සඳහා වූ අම්බලමක් වගෙයි. සතර දිගින් යන එන පිරිස් රාත්‍රිය ගත කරන්න අම්බලමට ගොඩ වදිනවා. හිඟන්නන්, ගොවියන්, වන්දනාකරුවන්, පණ්ඩිතයන් වගේම මංකොල්ලකරුවන්, තක්කඩියන්, බෙබද්දන් අම්බලමේ නවතිනවා. රාත්‍රිය ගතවෙලා හිරු උදාවන තුරු ඒ ඒ අය කතාබහ කරනවා. ආගිය තැන් යන එන තැන් කරන කියන දේවලුත් කතා කරනවා. ඇත්ත කියන අය වගේම බොරු කියන අයත් ඇති. ඒ කවුරුත් හිරු උදා වුණාට පසු තම තමන්ගේ සිතැඟි පරිදි විසිරිලා යනවා. ඒ එක්කෙනෙක්වත් අනෙක් අයගේ උපදෙස් බලාගෙන ඒ අනුව තම තමන්ගේ බලාපොරොත්තු කටයුතු වෙනස් කරන්නෙ නෑ. ඒ අම්බලමේදී ආර්ය උතුමෙක් ප්‍රඥාවන්තයෙකුට කලාතුරකින් හමුවුනොත් ඔහු විතරක් විශාල යහපතක් කරගන්නවා. අනිත් අය අයාලෙ යනවා.

පෙර සසර ගමනේදී එක් එක් අත්බැව්වල හමුවෙලා උදව් උපකාර ලබාගත් අය, උදව් උපකාර දුන් අය, නපුරු දුෂ්ඨකම් කරපු අය, තමා විසින් කරපු නපුරු දුෂ්ඨකම්වලට ලක් වූ අය..... මේ ආදී පිරිස් තමයි සසර අම්බලමේ දූ දරුවන්, දෙමාපියන්, ස්වාමි භාර්යාවන් වෙලා ධර්මතාවය විසින් ඒ ඒ කර්මවල විපාක විඳින්න හොඳ හෝ නරක අය ලෙස හමුවෙලා ඉන්නේ.

''තණ්හා ආශා ඔලොගු කරේ ලා.....'' යන මේ සසර ගමනේ කම්මස්ස කොම්හී, කම්ම දායාදෝ.... ආදී වශයෙන් කර්මය අයිති කරගෙන, කර්මය දායාද කරගෙන, කර්මය උප්පත්ති කරගෙන, කර්මය නෑයා කරගෙන, කර්මය පිළිසරණ කරගෙන තණ්හාවෙන් ආසාවෙන් එකිනෙකා පිළිබඳව ගොඩනගා ගත් සංඛාරවල විපාක ගෙවන්න, විපාක විඳින්න අපි මුණගැහිල ඉන්නවා. එදා වගේම අදත් ණය වෙනවා, ණයට ගන්නවා, ණය ගෙවනවා, ණයට දෙනවා. මේ ණය වීම ලෝක සම්මත ණය වීමට වඩා වෙනස්. ණය දීම, ණය ගැනීම ආදියත් ලෝක සම්මත කතාවට වඩා හාත්පසින් වෙනස් වෙනවා. උදාහරණයක් විදිහට ගත්තොත් භික්ෂූන් වහන්සේලාට උපාසක උපාසිකාවෝ ණයට දානෙ දෙන්නෙත් නෑ, උන්වහන්සේලා ණයට ඉල්ලන්නෙත් නෑ. නමුත් සිල් ගුණ සලකල දෙන දානය ප්‍රත්‍යවේක්ෂාවෙන් තොරව පරිභෝක කරන භික්ෂුව, ඉන පරිභෝගය හෙවත් ණයට භුක්ති වින්ද වෙනවා. ඒ ණය ගෙවන්න අලි, හරක් ආදී සතුන් වෙලා උපදින්නත් සිද්ධ වෙන බව ධර්මයේ සඳහන් වෙනවා. එහෙම ඉපදිලා දායක ගෙවල්වලට ණය ගෙවන්නත් වෙනවා.

ඒ නිසා යමෙක් කරන සියලු අයුතු අසාධාරණකම් ලොවටම ණය වීමට අයිති වෙනවා. ණය බලාපොරොත්තු නොවුනත්, අයුතු අසාධාරණවලට ගොදුරු වෙච්ච පිරිසට සිද්ධ වූ අයුතු අසාධාරණ කරපු ණය ගෙවන්න ඔහුට සිද්ධ වෙනවා. ලෝකයේ සම්මත විදිහට ණය වෙලා ණය නොගෙවීම, ණයට දීල බලාපොරොත්තුව සිටීම ආදිය බලවත් බන්ධනයන් වෙනවා. ණයට අරගෙන වංචාවෙන් රවටමින්, ලබාගෙන නොදී හිඳීම වගේ දේවල් වසර කෝටි ගණනින් සතර අපා මහ දුක් විඳින්න හේතු වෙනවා. ණයට දීල නොදුන් නිසා දාහයෙන් පෙලෙමින් බලාපොරොත්තුව සිටීම නිසා සසර ගමන දිගු කරමින් රෞද්‍ර වූ කොටි, වලස් වැනි ජාතිවල ඉපදෙමින්, ලෝක ධර්මතා පරිදි ණය වෙච්ච අය ගොදුරු සතුන් වෙලා ඉපදෙමින් කොටි, වලස් ආදීන්ට ගොදුරු වෙමින් වසර කෝටි ගණන් ගෙවිය යුතු කරුමක්කාරයන් බවටත් පත් වෙනවා.

යුතුකම් ඉටුකිරීම වගේම වැඩි යහපතක් සිදු කර දීම නිසා, බලාපොරොත්තු නොවුනත් සසරේදී ලෞකික සුව ලැබීමට හා අයුතු අසාධාරණකම්වලට ගොදුරු නොවී රැකවරණ ලැබීමටත් හේතු වෙනවා. යුතුකම් ඉටු නොකළ පිරිසට ඒ හේතුවෙන් අනුන්ගේ අයුතු අසාධාරණකම්වලට ගොදුරු වෙන්නත්, අභූත චෝදනා ආදියට ලක් වෙන්නත් හේතු වෙනවා. ලෝක ධර්මතාවය විසින් මේ විදිහට අපිව මුණගස්සල තියෙනවා. මේ පිරිස් කවුරුන් හෝ වේවා, තමාත් පවුලේ සියළු දෙනාත් ආවේ කොහි සිට දැයි දන්නෙ නෑ. කොච්චරකල් එක්වෙලා ඉඳීවිද කියල කියන්න දන්නෙත් නෑ. කවදා වෙන්ව යාවිද, කොතැනට වෙන්ව යාවිද කියල කියන්න දන්නෙත් නෑ. කරන ලද පාප කර්මයක් හෝ පුණ්‍ය කර්මයක් හේතුවෙන් එහි විපාක ඵලය ලෙස හමුවෙලා අම්බලමේ රැය පහන් කරන්නා සේ, මේ ජීවත් වන කෙටි කාලය තුළ ඒ අය වෙනුවෙන් කළ යුතු යුතුකමක් වගකීමක් තියෙනව නම් ඒක මගහැර නොයා යුතුයි. ඒවා ඉටුකළ යුතුයි. හැබැයි, ඒ, රාගයෙන් හෝ ද්වේශයෙන් හෝ මුලා සහගතව ☞

නෙවෙයි. ඥාන සම්ප්‍රයුක්තව හේතුව - ඵලය දැනගෙන, නොඇලී නොබැඳී ඉටුකළ යුතුයි. **මගේ කියල බැඳිල කටයුතු කිරීමෙන් මේ අනාත සසරේ තවත් බොහෝ දුර යන්න සිද්ධ වෙනවා.** තමා කැමති විදිහට බුක්ති විඳින්න පුළුවන් තිරසාර සැපක් නැති මේ මායා සසරේ තවත් දුක් විඳිය යුතු දැයි මෙනෙහි කරල බලන්න. රැකියාව හෝ දූ දරු, දෙමාපිය ආදීන් නිවනට ඇති කටු අකුල් සේ නොසලකන්න. අති දුර්ලභ වූ බුද්ධෝත්පාද කාලයක සද්ධර්මය ශ්‍රවණය කරන්න, වටහා ගන්න නුවණක් ඇති උතුම් මනුෂ්‍ය අත්බවය ගෙවිල වැනසිලා යන පංචකාම ගුණ උපධීන් (මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ) කෙරෙහි නොයොදා අප්‍රමාදී වීමට අධිෂ්ඨාන කර ගන්න.

ඒ කාලේ මග ඵල ලබපු අය හිටියට දැන් එහෙම අය ගැන දැනගන්නවත් නෑ. අහන්නවත් ලැබෙන්නෙ නෑ. මේ තමයි නිවන වහගෙන තියෙන තවත් මතයක්. කල්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබන්න තියෙන මග වැහිල තියෙන හැටි. මේ කාරණය ගැන කරුණු පැහැදිලි කරන්න සිදුවෙන්නේ සූත්‍ර දේශනා පෙන්වා දෙමිනුයි. අද බොහෝ බණ දහම් දේශනා කරන ගිහි පැවිදි විද්වතුන් බොහෝ දෙනෙකුගෙන් අහන්න ලැබෙන්නේ මේවගේ කියමන්. ''මාර්ග ඵල ලැබුව කියල ඇත්තටම ඵල ලබපු අය නම් කියන්නෙ නෑ. එහෙම කියනව නම් කියන්නෙ ලාභ, කීර්ති, ප්‍රසංසා බලාපොරොත්තු වන අය''.

මේ කියමන් කොතෙක් දුරට පිළිගත හැකි දැයි විමසා බලමු. බුදුපියාණන් වහන්සේ මහා පරිනිර්වාණ සූත්‍රයේදී දේශනා කරපු සතර මහා පදේශ අනුව විමසා බැලීම අප විසින් කළ යුතු දෙයක්. එසේ කිරීම කිසිවෙක් කෙරෙහි අගෞරව කිරීමක් නොවන බවත් උන්වහන්සේ දේශනා කරල තියෙනවා. තුන්කල් දැකපු බුදුපියාණන් වහන්සේ ශ්‍රාවකයින්ගේ යහපත පිණිසයි සතර මහා පදේශයන් දේශනා කළේ.

මීට ශතවර්ශයකට පමණ පෙර, එනම් 1912 දී දර්ශන විශාරද මහාචාර්ය අග්ගමහා පණ්ඩිත පොල්වත්තේ බුද්ධදත්ත හිමිපාණන් විසින් රචනා කරන ලද ධර්ම ග්‍රන්ථයක මෙහෙම සඳහන් වෙනවා. ''තවද මාර්ගඵල ලාභීහු ඉතා බලවත් කරුණක් නොමැතිව තමන්ගේ අධිගමය අනුන්ට ප්‍රකාශ නොකරත්...'' එහෙනම් කෙසේවත් ප්‍රකාශ නොකරනවා නෙවෙයි. ඉතා බලවත් කරුණක් නොමැතිව ප්‍රකාශ කරන්නෙ නෑ. මේ අවස්ථාව සඳහන් කරල තියෙන්නෙ, ධර්මාශෝක රජතුමා විසින් කරපු විහාර ආරාමයක් පූජා කරවන අවස්ථාවේ පිරිනමන ලද දානයට මජ්ජන්තික නම් රහතන් වහන්සේ පරණ වෙච්ච දුර්වර්ණ වෙච්ච සිවුරු පොරවගෙන වැඩපු නිසා, වයස්ගතවෙලා පැවිදි වෙච්ච අයෙක් කියල හිතාගෙන සේවක පිරිස උන්වහන්සේ පෙරමුණේ වැඩසිටීම නොරිසි වූ අවස්ථාව මුල්කරගෙනයි. ඒ වෙලාවෙදී එතනින් ඉවත් වෙච්ච උන්වහන්සේ, රජතුමා පළමු පිණ්ඩපාතය පිළිගන්වන කොට පොළව විවරකරගෙන රජතුමා ඉදිරියේ මතුවෙලා පිණ්ඩපාතය පිළිගෙන රජතුමාට යහපත සලසපු බව සඳහන් වෙලා තියෙනවා. **අන්‍යයන්ගේ යහපත පිණිස මගඵල ප්‍රකාශ කිරීම බලවත් වූ විශේෂ හේතුවක්.**

ඒවගේම දීඝනිකාය (2) 429 පිටුවේ එන <u>සක්කපඤ්ඤහ සූත්‍රයේ,</u> සක් දෙවිඳුන් තමන්ගේ සතුට ප්‍රකාශ කිරීම සඳහා (බුදු පියාණන් වහන්සේ සතුටු වීමට හේතු විමසූ විට) කරුණු 6 ක් දන්නා නිසා තමා මහත් වූ සතුට ප්‍රකාශ කරපු බව පවසල තියෙනවා. ''අහං භෝ පණ භන්තේ භගවතෝ සාවකෝ සෝතාපන්නෝ අවිනිපාත ධම්මෝ නියතෝ සම්බෝධි පරායනෝ ති.....'' යනුවෙන් මම භාග්‍යවතුන් වහන්සේගේ ශාසනයේ සෝතාපන්න වූ නියත සම්බෝධිය ඇති ශ්‍රාවකයෙක්මියි ප්‍රකාශ කරන කොට අපි හිතල බලන්න ඕන, **මේ ලෝකයේ අපි විඳින සැප, සක් දෙවිඳු විඳින සැප සම්පත් සමග සමකරන්න පුළුවන්ද, එබඳු වූ සැප සම්පත් ආඩ්‍ය වූ සක් දෙවිඳුන් බුදුන්වහන්සේගෙන් මොන ලාභ කීර්ති ප්‍රශංසා බලාපොරොත්තුවෙන්ද මග ඵල ප්‍රකාශ කළේ, එහෙනම් මගඵල ප්‍රකාශ කරන්නේ ලාභ කීර්ති ප්‍රශංසා උදෙසාම යැයි කරන ප්‍රකාශ සූත්‍රයට ගැළපෙනවද කියන කාරණා.**

මේ කාලයේ නිවන් දකින්න බැරිය කියන මතය නිසා මන්දෝත්සාහී වෙලා ඉන්න, එහෙත් ධර්ම මාර්ගයේ මහත් උනන්දුවෙන් හැසිරෙන්න කැමති පිරිසක් අදත් ඉන්න බව හොයල බැලුවොත් දැනගන්න පුළුවන්. ඒ අයගේ යහපත පිණිස යම්කිසි අධිගමයක් ලබපු කෙනෙක් ඒක ප්‍රකාශ කරනවනම්, ඒ ප්‍රකාශ කිරීම බලවත් වූ විශේෂ හේතුවක් නෙවෙයිද? ඒක ලෝකයාට යහපත පිණිස ප්‍රකාශ කිරීමක් නෙවෙයිද? අධිගමය ප්‍රකාශ කළත් නොකළත් පුණ්‍ය වන්තයාට ලැබීම ධර්මතාවයක්, පිදුම් ලැබීම ධර්මතාවයක්. ''අජානීය වූ ධ්‍යායිකය, ඔබගේ ධ්‍යානය පෙනේ, ධ්‍යාන අරමුණ නොපෙනේ, අපි ඔබට දුර සිට නමස්කාර කරමු''යි කියා දෙවියොත් දුර ඉඳන් නමස්කාර කරන බව (විශේෂයෙන් අරිහතුන් වහන්සේලාට) ධර්මයේ පෙන්වා තියෙනවා. **නැති මග ඵල තියෙනවයි කියල ප්‍රකාශ කරන කෙනාට ඒක බොහෝ කාලයක් පෙන්වගෙන ඉන්න පුළුවන් කමක් නෑ. ඒක ධර්මතාවය විසින්ම හෙළිදරව් කෙරෙනවා.** එතකොට මොන ලාභ ලැබීමක්ද? නින්දා අපහාස නම් ලැබෙන්න පුළුවන්.

මේ නිසා ඒකාලේ විතරක් නෙමෙයි, මේ කාලෙත් කොහේ හෝ ඉන්නවනම් හමුවේවා කියා, තමන්ගේ ධර්ම ප්‍රතිපදාව, කටයුතු ශ්‍රද්ධාවෙන් භක්තියෙන් ගෞරවයෙන් කරන්නාට එබඳු උතුමන් හමුවීම ධර්මතාවයක්. මනස පූර්වාංගමව ගොඩනැගුණු ලෝකයෙන් නික්මීමටත්, මනස පූර්වංගම වෙනවා. උට්ඨානවතෝ සතිමතෝ සුචිකම්මස්ස නිසම්ම කාරිනෝ සඤ්ඤ තස්සච ධම්ම ජීවිනෝ - අප්පමත්තස්ස යසෝභී වඩ්ඪති.

මනා සිහියෙන් ඉඳගෙන උත්සාහයෙන් යහපත් කර්මාන්තවල යෙදෙමින්, කුසල් දහම්වල හැසිරෙමින් දැහැමි දිවියක් ගතකරන්නාගේ යසස වැඩෙනවා කියන්නේ මෙහි මතුපිටින් පෙනෙන සරල අදහසයි. නමුත් **බුදුන්වහන්සේ දේශනා කරපු සතරපද ගාථාවක් වුණත් නිවන් දකින මගක්. අබුද්ධෝත්පාද කාල වලදීත් බ්‍රහ්මචාරී ජීවිත ගතකරපු උතුමෝ සුචරිතයේ අගය දේශනා කළා.** බුදුකෙනෙක් ලෝකයට පහළවෙලා දේශනා කරන්නේ ඊට වඩා ගැඹුරු දහමක්.

අප්‍රමාදීව උත්සාහයෙන්, මනා සිහියෙන් යෙදිය යුතු යහපත් කර්මාන්තය තමයි අරිඅටගි මාර්ගයේ දක්වපු ආර්ය වූ, ලෝකෝත්තර වූ, නිවනට හේතුවන්නා වූ සම්මා කම්මන්තය. එනම් අසාර ලෝකයේ ප්‍රාණඝාත, හොරමැර වංචා, සුරාසූදු දුරාචාර කරල ලබාගන්න වටිනා හරවත් කිසිවක් නැති බව අවබෝධයෙන් යුතුව දැනගෙන එවායින් වෙන්ව වීතරාග, වීතදෝශ, වීතමෝහ වූ නිවනට මුල්වන්නා වූ කටයුතු සද්ධර්මයයි කියල දැනගැනීමයි. ඒ සද්ධම්ම ජීවිතයේ යෙදීමෙන් වර්ධනය වන්නේ යසස නම් උතුම් වූ නිවනයි. **සුචරිත වූ යහපත් ජීවිතයෙන් වැඩෙන්නා වූ, ලෞකික සැප සම්පත් නම් වූ යසස කියන්නේ මරණයෙන් අතහැර යන්නක්. නිවන කියන යසස උතුම් අරිහත්වයට පත්වන තුරු සෝවාන් වූ තැන් පටන් මරණයෙන් නොපිරිහෙන දෙයක්.**

ඒ නිසා ඔබට ලෝකය අසාර බව වැටහෙනවනම්, අප්‍රමාදීව නිවන අධිෂ්ඨාන කරගෙන ධර්මයේ හැසිරෙනවනම්, ඒ උතුම් යසස ඔබටත් හිමිකර ගන්න මාර්ගය විවෘත වෙලා තියෙන බව පෙනී යන්න ඕන.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**(විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී)**
**කඩවත**

# සැප පෙන්වා දුක් දෙන ලෝකය

*(පසුගිය කලාපයෙන් - එදා සක්විති රජවරුන් අද තණකොළ උලා කති....)*

දැන් අපට වහ වහා දැන ගන්න උවමනා වෙන්නේ මහා දුක් දෙවන සතර අපායෙන් සදහටම නිදහස් වෙන්න තියෙන එකම මග කුමන ආකාර පිලිවෙතක් අනුව සිදු කළ යුතුද කියලයි. මොකද මේ අති දුර්ලභව මනුස්සයෙක් වෙච්ච වෙලාවෙ සියල්ල කැප කරල හරි මහා දුක් සහිත සතර අපාය ඉක්මවා නොගියොත් සිද්ධ වෙන දේ දන්න නිසා. දැන් ඔබට වැටහෙනවා ඇති, මේ සංසාර ගමනෙදි අනිවාර්යයෙන් වැටෙන්න සිද්ධවෙන මහා දුක් සහිත ආගාධයෙන් ගැලවෙන්න වහ වහා යමක් කළ යුතු බව. මහා කරුණාවකින් කල්‍යාණ මිත්‍රයෙක් මේ සතර අපා දුකින් මිදෙන මග කියල දෙන වෙලාවෙ, අනෙක් සියලු වැඩ දෙවෙනි කරල තමාගේ ජීවිතය ඒ වෙනුවෙන් කැප කළාට කිසිම පාඩුවක් නොවන බව තමාට හොඳ හැටි වැටහෙනව කියල, යමෙකුට සිහියට එනවනම් ඒ ඇති. මොකද අනාගතයේ විඳින්න සිද්ධවෙන මහා දුකෙන් අත්මිදෙන්න බුදු කෙනෙකුගේ දහමක් කියල දෙන කල්‍යාණ මිත්‍රයෙක් මුණගැසෙන අති දුර්ලභම අවස්ථාවක් විය හැකි නිසා.



ඒ නිසා බුදුපියාණන් වහන්සේගේ දේශනා අනුව මේ පන්සීයක් දෙනා (පසුගිය කලාපයෙන් විස්තර කළ) හෝ මේ සාසනයේ සෝවාන් ඵලයට පත් වුනා යැයි කියන තවත් දහසක් දෙනා, සෝවාන් ඵලයට පත් වුනේ කොහොමද කියල හොයල බැලීමෙන් මේ සරල සුගම එකම මග සොයා ගන්න පුළුවන්.

මේ ලෝකය මායා කාරයෙකුගේ ඇස් බැන්දුමක් වගේ කියල මේ පන්සීයක් දෙනාම දැකල තියෙනවා. ඒත් සෝවාන් මග ඉක්මවා ගිය අය හැර අනෙක් හැම දෙනාම මේ මායාවෙන් වැහිල ඉන්න නිසා, ඒ අය දකින්නේ මේ ලෝකයේ තියෙන දේවල් මහා වටිනා දේවල් විදිහටයි. ඒවා අල්ලල බලන්නත් පුළුවන්. පරිහරණය කරන්නත් පුළුවන්. වැඩි හරියක් දේවල් පරිහරණයට බොහොම ප්‍රිය ජනකයි. ඒවගේම නැවත නැවත විඳින්න ආස හිතෙන ආස්වාදයක්මයි ඒවායින් ලැබෙන්නෙ. කොයි අත බැලුවත් ආස්වාදයේ කිසිම අඩුවක් නෑ. ඒ නිසා ඒවා තමන් සතු කරගෙන ගබඩා කරගැනීම තමයි දුකක් නොවිඳ සැප ලබන්න තියෙන හොඳම ක්‍රමය. මේ තමයි පෘතජ්ජන ලෝකයා දකින හැටි. ඒ නිසා ලෝක සත්ත්වයෝ ආස්වාද බලාපොරොත්තුවෙන් තමන්ට ප්‍රියජනක වස්තූන් වැඩි වැඩියෙන් රැස්කරන එක තමයි කරන්නේ. මේ වැඩපිලිවෙල නොනවත්වා කරගෙන යාම තමයි සංසාර ගමන කියන්නේ. එසේ වැඩි වැඩියෙන් ඒ ප්‍රිය ජනක වස්තු රැස්කරගෙන, ඒවා කැමති විදියට පරිහරණය කරන්න ලැබීම තමයි ලෝක සත්ත්වයා සැප විඳිනවා කියන්නේ. මේ අදහස දහසක් ආකාරයෙන් විග්‍රහකර පෙන්වන සූත්‍ර දේශනා තිබුණත්, දැනට කෙටියෙන් මේ ගැන විමසා බලමු.

මේ ලෝකයේ හටගත් වැඩිමනත් දේවල් සැපම ලබා දෙන බව අපට අත්දැකීමෙන්ම පේන්න තියෙද්දී, මේ පන්සීයක් දෙනා කොහොමද මේ ඇස් පනාපිට සැප දෙන බව පේන ඒවා අසාර බවට තීරණය කළේ? ඒ විතරක්ද ඒවා හටගන්නා ලෝකයත් අසාරයි කියන නිගමනයකට ඇවිත්. බුදු පියාණන් වහන්සේ මේ පෘතජ්ජන ලෝකයාට කෙසේවත් නොවැටහෙන, මෙන්න මේ සැප සහ දුක පිලිබඳව මේ තුන් ලෝකයේ උගත් යැයි, මහා පඬිවරු යැයි කියන කිසිවෙකුටවත් කියන්න තියා හිතන්නවත් බැරි පුදුමාකාර විග්‍රහයක් කරල තියෙනවා. ඒ විග්‍රහයේදී එහි මූල සිද්ධාන්තය වන අනිච්ච, දුක්ඛ, අනත්ත කියන වචන තුනකින් සහ බැඳි අකුරු අටකින් සමන්විත තිලකුණ දේශනා කරල තියෙනවා. මේ තිලකුණ යමෙක් පිරිසිඳ (ප්‍රිය භාවය සිඳ දමා) වටහා ගත්තොත් ඒ පුද්ගලයා ලෝකය අසාර තැනක් බව දැක්ක කෙනෙක් වෙන බවයි උන්වහන්සේ දේශනා කළේ. එනම් නිවනම සාර තැනක් බව දැක, ඒ නිවන් මගින් ආපසු නොහැරෙන සෝවාන් වූ ආර්ය ශ්‍රාවකයෙක් බවට පත්වෙනවා. එසේනම් මෙන්න මේ මූල සිද්ධාන්තය පිරිසිඳ වටහා ගත්ත පන්සීයක් භික්ෂූන් වහන්සේලා තමයි ආනන්ද හිමියන් සමග ඒ වෙලාවේ මහ මග වඩිමින් හිටියේ. මේ මූල සිද්ධාන්තය වටහා ගන්න නම්, ඒ වචන තුන අපට තේරෙන විදිහට නිර්වචනය කරගන්නම වෙනවා. කිච්ච ගමන්ම තේරෙන අය විශේෂයෙන් අද කාලයේ නම් ලක්ෂ සංඛ්‍යාවකින් කෙනෙක්වත් නෑ. ඒ නිසා පළමුව මේ ආර්ය ධර්මය තුලින් ලෝකය ගැන පිරිසිඳ දැකගන්න කියලයි බුදුන් වහන්සේ දේශනා කළේ.

බලන්න මේ ලෝක සත්ත්වයා, වටිනවයි කියල මහා ප්‍රිය මනාපෙන් සැපයි සැපයි කියල ලංකරගෙන තියෙන දේවල් මොහොතක සැප වින්දනයක් දීලා දුකක්ම ලං කරල දෙන හැටි. තමන් නොසිතූ මොහොතක සොර සතුරෙක් උදුර ගත්තොත්, මොන යම් හේතුවක් නිසා හෝ නැති වුනොත්, ගං වතුරකට ගහගෙන ගිහින් වැනසුනොත් විතරක් ☞

නෙවෙයි, කාලයාගේ ඇවෑමෙන් පරණ වෙලා ජරා වෙලා වැහැරිලා විපරිනාමයට පත් වෙලා, අපි නොදැනුවත්වම තමන් අතින් ගිලිහී ගියොත් මොකද වෙන්නෙ? **මෙච්චර සතුටෙන් ජීවිතය පරදුවට තියල සැපයි කියල හිතාගෙන ගොඩ ගහගත් සැප ගොඩවල් අපි නොදන්නා මොහොතක මේවගේ ගෙවිල වැනසිලා ඇත්වෙලා යනවා.** එතකොට ඇතිවෙන්නෙ සැපක් සතුටක්ද නැතිනම් විඳින්න අකමැතිම දුකක්ද කියල බලන්න. **මේ ගැන දුරදිග හිතන්න වෙන්නෙ මේ විදියේ ප්‍රියමනාප දේවල් වැනසීමෙන් ඇතිවෙන මේ දුක් කන්දරාව මේ ජීවිතේට විතරක් සීමා නොවන නිසයි.** මතු මතුත් උපදින වාරයක් පාසා මේවගේ එකතු කිරීම්, වියෝ වීම්, වැනසීම් සිද්ධ වෙලා දුකට පත්වීමේ අවසානයක් දකින්න ලැබෙයිද කියලත් විමසිල්ලෙන් බලන්න.

මෙන්න මේ නිසාමයි බුදු පියාණන් වහන්සේ මේ ලෝකයත්, ලෝකයේ හටගත් සියල්ලත් අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල දේශනා කළේ. නමුත් මෙහිදී විශේෂයෙන් අවබෝධ කරගත යුතු වැදගත් දෙයක් තියෙනවා. මේ ලෝකයේ හටගත් මොන තරම් වටිනා දෙයක් අපිට ලැබුනත්, අපි ළඟ තිබුනත්, අපි දුක් මහන්සියෙන් හරි හම්බ කළත්, මානසික දුකට පත්වෙන්න සිද්ධවෙන්නේ, ඒවා සමග දැඩි ආසාවකින්, තණ්හාවකින් බැඳුනොත් විතරයි. එනම් ඒවා සමග ඡන්ද රාගයෙන් බැඳුනොත් විතරයි.

ඒ කියන්නෙ අපි හරි හම්බ කරන මුදල් හදල්, වතු පිටි, හරක බාන, යාන වාහන, බිරින්දෑවරු, දරු මුණුපුරෝ විතරක් නෙවෙයි, මහා වටිනාකමක් දීල එක්කාසු කරගත් මෙකී නොකී සියලුම දේවල් සමග ඡන්දරාගයෙන් බැඳිල අත්පත් කර ගන්න කොට අපිට සැප දෙනවා වගේ සිරියාවට පෙන්නනවා. නමුත් මේවා සමග ඡන්දරාගයෙන් බැඳිල හිටියොත් අවසාන වෙන්නේ දුකක්ම දීලයි. අපි මේවා ආසාවෙන් ලං කරගන්නෙ සැප ලබා ගන්න මිසක් දුක් විඳින්න නෙවෙයි. ඒ නිසා සැප විදියට තිබුන දේ දිගටම සැපදෙන්න ඕන. නමුත් ඒක එහෙම වෙන්නෙ නෑ. **ඒවා අපිට කැමති විදියට පවත්වා ගන්න බැරි වෙලා දුකක් දීගෙන වැනසිලා යනවා.** මේ තමයි ලෝක ස්වභාවය. මේ ලෝකයත්, ලෝකයේ හටගත් සියල්ලත් අනිච්චයි. නමුත් ඒ එකක්වත් අපට කැමති විදියට පවත්වාගෙන යන්න බැරි බව පේන්නෙ නැත්තෙ, අවිද්‍යාවෙන් මනස අන්ධ කරල තියෙන නිසයි. ඒ නිසා තමයි කොහොම හරි පවත්වාගෙන යන්න හිතාගෙන, සැප දෙන ප්‍රිය මනාප දේ වැඩි වැඩියෙන් ළඟට ගන්න උත්සාහ ගන්නේ. නමුත් ඒවා, ඒවාට උරුම ආකාරයෙන් විපරිනාමයට (කැමැත්තට පටහැනි පරිනාමය) පත්වෙලා ගෙවිල යන කොට, ඊට වැඩි දුක් ගොඩක් දීගෙනයි අවසන් වෙන්නෙ. මේ තමයි ලෝක ස්වභාවය. නමුත් **මේ මොනවා විපරිනාමයට පත්වෙලා වැනසිලා ගියත්, ඒවා ඇස් ඉදිරිපිටම වැනසිලා යන බව පෙනුනත්, ඒවා තමන්ට අදාල නැති වෙනත් කෙනෙකුගේ නම්, ඒ නිසා අපිට කිසිම දුකක් ඇතිවෙන්නෙ නෑ.** එවගේම තමන්ගේ වුනත් ඒවා සමග තමන් ඡන්දරාගයෙන් බැඳිල නොසිටියානම්, ඒත් ඒ වස්තු නිසා ඡන්ද රාගයෙන් හටගන්න කිසිම දුකක් ඇතිවෙන්න හේතුවක් නෑ.

ඒ කියන්නෙ විඤ්ඤාණය නමැති විජ්ජාකාරයා මහා දුක් ගොඩවල් මායාවකින් වහල, අපට පෙන්නන්නෙ හරිම ප්‍රිය මනාප සැප ගොඩවල් විදියට. මෙහෙම සංසාරෙ පුරා රැවටිච්ච අපි අනන්ත වූ සංසාර දුකකට වැටෙන, ඒ සැප කියල පෙන්නපු දුක් ගොඩවල්ම නැවත නැවත පතන්නේ අවිද්‍යාව නිසා කියලයි බුදු පියාණන් වහන්සේ දේශනා කළේ. ඔබ හොඳින් හිතල බලන්න, මෙච්චර කාලයක් සැප කියල ලං කරගත් දේවල් ප්‍රිය මනාප සැප විදියට නේද මුලින්ම ආවේ. නැතිව දුක් කරදර විදියට ආවනම් ඒවායින් වහාම ඉවත්වෙනවා මිසක් බොහොම ප්‍රිය මනාපෙන් ගිහින් බදාගන්නෙ නැහැනේ. **ඒ සැප දේවල්ම එහෙම ප්‍රිය මනාපෙන් ඇවිත් බලාපොරොත්තු නැති මොහොතක ජල, ගිනි, සුලං හෝ කාලයාගේ ඇවෑමෙන් විපරිනාමයට පත්වෙලා නොදන්වාම තමන්ට අහිමි වෙලා යනවා.** ඒ අහිමි වීම් සිද්ධවෙන වාරයක් පාසා දුකට පත්වෙන්න සිද්ධ වෙන්නෙ ඇයි? ලෝකයේ හටගත් මේ මහා දුක් ගොඩවල් සැප දෙන වටිනා දේවල් විදියට පේන්න මායාවකින් වහල සඟවලයි ඉදිරියට දාන්නේ. ඉතින් පුහුදුන් ලෝකයා මේ සැප ගොඩවල් නමැති මායාවලට ආසාවෙන් නොදැනුවත්වම බැඳෙනවා. මේ විදියට දුක වහල සැප විදියට පෙන්වන විජ්ජාකාරයාගේ මායාවට අහුවෙන්නෙත් අවිද්‍යාව නිසයි.

අනිච්ච, දුක්ඛ, අනත්ත වූ ලෝක ස්වභාවය තතු සේ නොපෙනෙන තරමට අවිද්‍යාවෙන් අන්ධ වෙච්ච නිසාම, දුක සඟවපු මේ සැප ගොඩවල් තමා සන්තක කරගන්න ඕන කියන තණ්හාවෙන් ලෝකයා පෙලෙන්න පටන් ගන්නවා. ඒ නිසා තණ්හාවෙන් අන්ධවෙලා අර දුක සඟවලා, සැප වැඩි වැඩියෙන් රැස් කරගන්න තමයි පෙළඹෙන්නේ. නමුත් තමන් නොදැනුවත්වම ඊට සමාන සැඟවිච්ච දුකකුත් ලැබෙන නිසා සංසාරය පුරාම මේ දුක විඳින්න සිද්ධවෙන එක නවත්තන්න බෑ. ඒ කියන්නේ **තමන් කැමැත්තෙන් පැතූ සැප, දුක දීගෙන නොදන්වාම ගෙවිල යනවා. කෙසේවත් එනවට අකමැති දුක අනන්ත දුක් දීගෙන නොදන්වාම ලඟා වෙනවා. කැමති සැප යනවා, අකමැති දුක එනවා. මේ තමයි ලෝක ධර්මතාවය.**

මේ අදහස මූලිකව වටහා ගන්න පුංචි උදාහරණයක් මෙහෙම දෙන්න පුළුවන්. තරුණයෙක් තරුණියක් සමග විවාහ වෙන්නෙ බොහොම සතුටෙන් හිනාවෙලා මිසක් අඬාගෙන වැලපීගෙන නෙවෙයි. ඒ යන්නෙ තමන්ට මහා වටිනා වස්තුවක් ලැබගෙන සැප විඳින්නයි. කිසිම විදියකින් දුකක් කරදරයක් වෙනවට නම් කිසිම කැමැත්තක් නෑ. ඒත් අනේ මාසයක් ගියේ නෑ, ජීවිතය පුරා සැප විඳින්න ගෙනිච්ච තරුණියගෙ හෝ තරුණයගෙ ඇඟ පුරාම දදයක් හෝ කුෂ්ඨයක් මතුවෙලා කහන්න ගන්නවා. දැන් ඒ සැප වස්තුව දෙන්නටම මහා දුකක් දෙනවා. ඒ පැතූ සැප යනවට අකමැති වුනත්, මහා දුකක් දීගෙන නොදන්වාම ගිහින්. දුක එනවට කොච්චර අකමැති වුනත් ගෙනාපු සැප අස්සෙ තිබිල දුක ඇවිල්ලා. ඒත් තමන් එදා හිනා වෙලා සැප ගොඩක් කියල වැළඳගෙන තියෙන්නෙ දුක් ගොඩක් බව නොදන්නාකම තමයි අවිද්‍යාව කියන්නෙ.

ඒත් කෙනෙක් කියාවි, ඉතින් තරුණයට හෝ තරුණියට දදයක් හෝ කුෂ්ඨයක් හැදුනට ඒක ඔච්චර ලොකු දෙයක්, දුකක් වෙන්නෙ කොහොමද, බෙහෙත්වලින් හොඳ කරගන්න පුළුවන්නෙ කියල. එහෙම හිතුවත් ඒක හොඳ කරගන්නත් වෙහෙසක් මුදලක් වැය කරන්න වෙනවා. එතෙක් කල් දුකක්ම විඳින්න වෙනවා. එහෙම ඉඳල ඒකෙනුත් ගොඩ ඇවිත් දරුවෙක් ලැබෙන්න ගන්නවා. ගෙනාපු බිරිඳට දැන් මොකද වෙලා තියෙන්නෙ? තුන්වේල උයල රසට කන්න දෙයි කියල හිතල ගෙනාපු සැපදෙන වස්තුව, දැන් තනියම මොකවත් කරගන්න බැරි තත්ත්වයට පත්වෙලා. ☞

මහත්තය මාස ගණනක්ම උයනව, පිහිනව, නෝනට කවනව. මහත්තය දෙන්නගෙම රෙදි හෝදනව. සැප ගොඩ අස්සෙ තිබිල මහා දුක් කන්දරාවක් දෙන්නටම ඇවිල්ල. මේවගේ මහා දුක් කන්දරාවක් ප්‍රිය මනාප සැපක් විදියට වැළඳ ගැනීමේ ප්‍රතිඵලය වෙච්ච ඊළඟ බලාපොරොත්තුව මහා වටිනා සම්පත් ගොඩක් කියල එකතු කරල දරුවෙක් විදියට දෙන්නට හම්බ වුනා. දැන් දෙන්න බලාපොරොත්තු වෙච්ච අනාගත සැපය කිසිම අඩුවක් නැතිව දිගටම දෙන්න එපැයි. මාසයක් ගියා, දෙකක් ගියා දරුව බලා ගත්ත අතේ. අනේ දෙන්නම පැතුව, අනාගතේ සැප දෙන වස්තුවේ ඇස් දෙකම පේන්නෙ නෑ. එදා ඉඳන් දරුව දකින දකින වාරයක් පාසා පපුව පත්තු වෙන්නෙ සැප දෙන්නද? එහෙමත් නැතිනම් දරුවගෙ කන් ඇහෙන්නෙ නෑ. අනේ අපිට කන් ඇහෙන්නෙ නැති දරුවෙක් නේද ලැබිල තියෙන්නෙ! අපිට ගොලු දරුවෙක් හම්බ වෙලා තියෙන්නෙ! මෙහෙම කියල දුක් විඳවන්න, ජීවිත කාලෙම දුක් දෙන්න අර සැප වස්තුවම මුලික හේතුව වෙලා.

මේ විදිහට අවුරුද්දක් දෙකක් ගෙවිල ගියා. දෙන්නට දරුවොත් ලැබිල. අර සියලු දුක් ගොඩවල් සැප විදියට හිතාගෙන ගෙවල දම්මෙ අනාගතේ ගැන හිතලයි. දැන් ඉතින් ''දුක සැප නිති පෙරලේ - රිය සක ලෙස ලෝකේ'' කියල හිත හදා ගන්නවා. ජීවිතේ එහෙම නේන්නම්! ටිකක් දුක් විඳින්නෙ නැතිව කොහොමද සැප විඳින්නෙ? මේ දුක් විඳින්නෙ අපේ සරු සාර අනාගතේ වෙනුවෙන් කියල තමන්ගෙ හිත තමන්ම රවට ගන්නවා. හිතල බලන්න, මේ විඳින්නෙ කොච්චර දුකක් වුනත්, තමන් දුකක් විඳින බව නොදැන රෑ දවල් නැතිව මහා කලබලේකින් එහෙ දුවනව මෙහෙ දුවනව, වෙහෙසෙනවා. ඒ මොනවටද? තව තවත් සැප වැඩි කරගන්න. හවස ආරංචි වෙනව වැඩියෙන් සැප අරගන්න ලක්‍ෂ ගාණක් දීල ගෙනාපු අලුත්ම වාහනේ හැප්පිලා මහත්තයා එතනම මළයි කියල. දැන් ඉතින් මේ අත්බවය පුරාවටම ඒකෙ දුක විඳින්න වෙනවා.

නමුත් මේ සියලු සැප සම්පත්, මුදල් හදල්, ගේදොර, වතුපිටි තමන් සන්තකව තියෙද්දි, ඒවා ගැන ඡන්දරාගයකින් බැඳෙන්නෙ නැතිව, තමන්ට පුළුවන් හැම විටම ලෝක සත්ත්වයාට උදව් උපකාර කරන්න, පිනක් දහමක් කරගන්න මේ ධනය මට මහා පිටිවහලක් වුනා කියල දානයේ ආනිසංස දකින සිතිවිල්ලෙන් යමෙක් මේවා පරිහරණය කළොත්, මේවා මොන ආකාරයෙන් විපරිනාමයට පත් වුනත්, විපරීත වෙලා ගෙවිල වැනසිලා ගියත්, අනේ වැනසුනා කියල දුකක් හටගන්න හේතුවක් නෑ. මොකද මේවා තියෙන නිසා පරිහරණය කරනවා මිසක් රැක ගැනීමේ ආසාවෙන්, තණ්හාවෙන්, රකිනවා හෝ පරිහරණය කරනවා නෙවෙයි.

දැන් මේ කියන්නෙ ධෛර්යවන්ත මනුස්සයෙක් විදියට දැහැමිව හරි හම්බ කරගෙන දියුණු වෙන්න එපා, විවාහ වෙන්න එපා, දරුවො හදන්න එපා කියල නෙවෙයි. මෙහෙම දියුණු වෙලා සක්විති රජ වුනත් වරදක් නෑ. යහපත් දරුවො සීයක් සමාජයට දුන්නත් වරදක් නෑ, හොඳයි. නමුත් පළමුව මෙන්න මේ සැප තුල සැඟවෙච්ච දුකක් තියෙන බව දැනගන්න. මේ විදියට දුක්ඛ ආර්ය සත්‍යය අවබෝධ කරගෙන (එවිටම ඉතිරි සත්‍ය තුනත් අවබෝධ වේ) ඉස්සෙල්ලම සතර අපායෙන් නිදහස් වෙන්න කටයුතු කරගන්න.

බලන්න මේ ජීවිතේ මොනතරම් අවිනිශ්චිතද? **බත් පිඬක් මුවට අරගෙන ගිලින පමාවකින්, හුස්මක් ඉහළ ඇදල පහළ හෙලන පමාවකින් මැරිල වැටෙන්න පුළුවන්.** ඉතින් කොහොමද ඔබට සැප විඳින්න වෙලාවක් තියෙන බවට විස්වාස කරන්නෙ. මේ කථාවට කෙනෙක් කියන්න පුළුවන්, මොන උප්පරවැට්ටියක් දාල හරි ගාණක් හොයාගෙන, ඉන්න පුළුවන් ටික දවස හරි කාල බීල ජොලියෙ ඉන්නෙ නැතිව වෙන මොනව කරන්නද කියල.

මේ තමයි පෘතජ්ජන ලෝකයා හිතන පිළිවෙල. හෙට මැරුනත් හිතට සැපයි අද ජොලි කරලා. මේ ලෝකය කවුරු කිව්වත් ඉච්ඡයි (නිච්චයි), සුඛයි, අත්තයි කියල මිසක් අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල හිතන්න ඒ අය කැමති වෙන්නෙ නෑ. මේ සිතිවිල්ලෙන් තමයි අද රජවරු ඉන්නෙත්. එදා සක්විති රජ වෙලත් ලෝකය ගැන නොදැන මෙහෙම කටයුතු කරමින් හිටපු නිසා තමයි, අද වලිගය වන වනා තණකොල බුදින්න සිද්ධ වෙලා තියෙන්නෙ. අපේ ඇස් ඇරවන්නයි බුදු පියාණන් වහන්සේ මේ ගෙරි රැලක් පෙන්නල සක්විති රජවරුන්ටත් යන කල දසාව පෙන්වල තියෙන්නෙ. අපිටත් යම් දවසක සිද්ධවෙන මේ අනතුරින් ගැලවෙන හැටි තමයි කියල දීල තියෙන්නෙ. බුදුන් වහන්සේ පෙන්වපු මේ දුක් දෙවන අනතුර දැන්වත් දැක්කද? එහෙම දැකපු කෙනෙක් වෙනුවෙනුයි මේ දහම කියන්නේ. ඒ අනතුර දැකපු කෙනෙකුට, සතර අපා දුකෙන් නොමිදී කවදාවත් සැනසීමට පත් වෙන්න බෑ කියන අවබෝධය ඇති වෙනවා. එහෙනම් **සතර අපායෙන් සදහටම මිදෙන්නත් ලෝකයේ අසාරත්වය දකින්නම වෙනවා.** ලෝකයේ අසාරත්වය දැක්කොත්, අසාර ලෝකය පරිහරණය නිසා දුක හටගන්නා බවත් දකිනවා. ඒවගේම **සැප දෙන ප්‍රිය මනාප වස්තුවල දුක සඟවල තියෙනවයි කියන කාරණයත් දකිනවා.** මේ සැප තුල තමයි දුක සැඟවිලා තියෙන්නෙ කියන දැක්ම නිසා දුකට හේතුව ලෝකය පරිහරණය කරන්න යාම මිසක් වෙනකක් නෙවෙයි කියන ඇත්ත දකිනවා. මේවා පසුපස යන්න පෙළඹෙන්නේ ලෝකයේ හටගත් දේවල් වටිනවයි කියන සිතිවිල්ල නිසාම බව අවබෝධ වෙනවා. මේ අසීමිත වටිනාකම නිසාම තණ්හාව (තැන හාවීම) ඇති වෙනවා. දැන් දුකත්, දුකට හේතුවත් කියන දෙකම ඇති වෙලා තියෙන්නෙ අවිද්‍යාවත් තණ්හාවත් යන මුලා මානසිකත්වය නිසා බව අනුමානයෙන් හෝ දැකලයි ඉන්නේ.

මේ අවබෝධය ලැබුනෙ, මේ ලෝකයත් ලෝකයේ හටගත් සියල්ලත් අනිච්චයි දුක්ඛයි අනත්තයි කියන බුදු වදන අනුව විමසා බැලීම නිසයි. මේ යථාවබෝධය නිසා කෙනෙක් තීරණයක් ගන්නවා. ඒ අසාර දේ අසාර විදියට දැකල, අනිසි දෙය අනිසි විදියට දැකල, මේ අනිච්ච, දුක්ඛ, අනත්ත වූ දේවල් ඡන්දරාගයෙන් යුතුව පරිහරණය කිරීමේ දෘෂ්ඨියෙන් ඉවත්වෙලා, පැවැත්ම උදෙසා නිසි දෙය පමණක් පරිහරණය කරමියි කියන තීරණයට පත්වුනේ, මෙතෙක් පැවති අවිද්‍යාවත් තණ්හාවත් යම් පමණකට හෝ ක්‍ෂය වෙලා ගියපු නිසයි. මේ තමයි නිවන් මගේ පළමු පියවරට පත්වීම. එසේම ලෝකයේ අසාරත්වය දැක්ක නිසා ලෝකයෙන් මිදීම සාරයි කියල දකිනවා. මේ විද්‍යා දැක්ම නිසා තමයි සම්මා දිට්ඨියට පත්වුනේ. මේ ආකාර දැක්මකින් තමයි නැවත ලෝකයට දෘෂ්ඨි වශයෙන් නොඇලෙන සෝවාන් මාර්ග අනුගාමිකයා සහ ඵල ලාභියා කියන සතර අපායෙන් නිදහස් වූ ආර්ය පුද්ගලයා බිහිවෙන්නේ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**වෑබඩ සිරිසේන**

**අභයරතනාලංකාරය - 10**

# පටිභාන කවීත්වයෙන් නැගී ආ ගුප්ත ලොව ප්‍රතිකර්ම මගින් ලෙඩ රෝග සුවපත් කළ හැටි



*(පසුගිය කලාපයෙන් - දුර්ලභ වූ පටිභාන කවීත්වය තුළින් ගෙතුණු පුංචි දහම් කථාවක්...)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

ප්‍රටිභාන කවීත්වය ලැබිච්ච මුල් කාලයේ ඒ සමාධි ක්‍රමයෙන් යම් කිසි කෙනෙක් පිළිබඳ අවශ්‍ය විස්තරයක් ලබාගන්න කොට, ඒ ගැන අධිෂ්ඨාන කරල නවගුණ ගාථාව කියනවා. එතකොට නවගුණ ගාථාවේ කොතනක හෝ එහි පදයක් හෝ අකුරක් ලඟින් කවි පෙළ නැගෙන්න පටන් ගන්නවා. ඒ අනුව අදාල කටයුත්ත පිළිබඳ සිද්ධිය කියවෙනවා. ඒ පිළිබඳ සියලු කටයුතු අවසන් වුනාම ඒ ක්‍රියාවලිය නවතිනවා. කාරණය රෝගයක් නම්, රෝගය - ඊට හේතුව - රෝග නිවාරණය - ඊට ක්‍රමවේදය කියන මේ කරුණු අන්තර්ගතවීම තමයි මෙතනදී සියලු කටයුතු කියල අදහස් කළේ. මේ වගේ කටයුතුවලින් විවිධ පුද්ගලයන්ට සෙත සලසා දුන් වාර ලක්ෂ ගණනකටත් වැඩියි. එබඳු අවස්ථාවලින් එකක් දෙකක් පහතින් සඳහන් කරන්නේ, මේ ක්‍රමවේදය පිළිබඳව කරුණු ඉස්මතු කර තබන්නයි.

එක් අවස්ථාවක මව්පිය යුවලක් තමන්ගේ අවුරුදු දහයක පමණ කුඩා ගැහැණු දරුවෙක් සමග මා හමුවෙන්න පැමිණියා. මේක සිද්ධ වුනේ 1986-87 වගේ කාලයේ. දරුවා ගැන යමක් දැනගන්නයි ඒ පිරිස පැමිණියේ. ඒ වෙලාවේ අසනීප සහ නොයෙක් කටයුතු ගැන දැනගන්න විසිපස් දෙනෙක් පමණ ඇවිත් හිටියා. ඒ අතර මුලටම වගේ මේ මුලින් සඳහන් කරපු දෙමාපියන් සහ ළමයගේ වාරය පැමිණුනා. කටයුත්ත ඇරඹුනේ මෙහෙමයි.

ඉතිපි සෝ භගවා අරහං - සම්බුදු ගුණ නැණ බල මතු වේවා - සම්බුදු නැණ සත් බස ගෙන දේවා - සම්බුදු රජිඳුට නැමදුම වේවා - සම්බුදු ගුණ දරු වෙත සෙත දේවා

ආරම්භය කවියෙන් නැගුනේ මේ විදිහටයි. විස්තරය ඉවර වෙනකොට ඉතා හොඳට තේරෙන භාෂාවෙන් කවි හාර පන්සීයක් පමණ කියවිලා අවශ්‍ය විස්තරය හෙළිදරව් කරල දුන්නා. ඒ සිද්ධියේ සාරාංශය මෙහෙමයි.

එක්තරා ගමක බුදුබව පතන උපාසක මහතෙක් හිටියා. ඔහු තමයි පන්සලේ ලොකු උපාසක මහතා. මස් මාංශ නොකෑමේ ගුණ කියන මොහු පන්සලේ හාමුදුරුවන්ගෙත් ගජ මිතුරෙක් වුනා. මේ උපාසක මහතාගේ දානය දවසට අවට උපාසක උපාසිකාවන් විශේෂයෙන් සම්බන්ධ විය යුතු වුනා. හාමුදුරුවොත් සැදැහැවත් උපාසක මහතාගේ දානය බොහෝ වර්ණනා කළා. සුදු රෙද්දකින් ඔතාගත් බත් පෙට්ටිය උපාසක මහතාගේ හිස මත. අනෙකුත් එළවළු, ව්‍යංජන, මැල්ලුම්, තැම්බූ අල බතල ආදිය උපාසක උපාසිකා පිරිවරගේ හිස මත. මේවා අතින් එල්ලගෙන ගියොත් උපාසක මහතාගෙන් හොඳට බැණුම් අහන්න වෙනවා. සුදු ලේන්සුවක් හිස මත තබා ඒ මත දාන භාජන තබාගත යුතු වුනා. බුදුබව පතන මේ උපාසක මහතාගේ ගුණ රාවය අවට ගම්වලත් පැතිරිලා තිබුණා.

එක දවසක් දානය ගෙනියනකොට, පියවරෙන් පියවර සාදු නාදය දෙන අතර තුරේ උපාසක මහතාගේ පය මුලක හැපිල ඇදගෙන වැටුනා. බත් පෙට්ටිය පල්ලමට පෙරලිලා ගිහින් බත් විසිර ගියේ, බත් යට තිබූ තැම්බූ බිත්තර හත අටක් ද සමගින්. කොල්ලන්ගේත්, ගම්මුන්ගේත් හූ හඬ හා කොලොප්පම් මැද ඔහු එදිනම ගමෙන් පැන ගියේ නැවත ගමට නොඑන ලෙසයි. අවුරුදු 80 කට පමණ ආසන්න වූ මොහු, පැන ගිහින් අනුරාධපුර ප්‍රදේශයේ සුදු වතින් සැරසිලා සිල් ගත් කෙනෙක් විදිහට කල් ගෙව්වා. මොහු ඉඳගන්න පරිහරණය කළේ, මැදට මහ නෙළුම් මලක් සහ කොන් හතරට නෙළුම් මල් හතරක් සහිත ගල් ඇහැපත්වලින් වියපු රටා පැදුරක්. වකුටු වෙලා නිදන තරමට ඒක දිගයි. වැඩිපුර සෙනඟ ගැවසෙන තැන් අසල, කිට්ටු තැනක පැදුර එලාගෙන පිරිස යන තුරු ගල් ගෙඩියක් තිබ්බ වගේ භාවනාවෙ ඉන්න මොහුට, වටේ පිරිස ගරු නොකර ගියොත් ඔවුන්ට බැණ බැණා පැදුරත් අකුලගෙන තවත් තැනකට යනවා.

දිනක් එක්තරා කාන්තාවක් බඩගින්නේ අඬන තම දරුවාට කිරි ටිකක් දෙන්න සෙනඟ අඩු තැනක් බලනකොට, තමන්ගේ සීයා වැනි මේ උපාසක මහතා භාවනා කරන තැන දැකලා එතැනට ගිහින්, ''සීයෙ පුතා බඩගින්නෙ අඬනවා, කිරි ටිකක් දෙන්න පැදුර පොඩ්ඩකට දිගහරින්න පුළුවන්ද''යි ඇහුවා. දරාගත නොහැකි කෝපයට පත්වෙච්ච උපාසක මහතා නලියමින්, මම කවුරු කියල හිතාගෙනද පැදුරෙ ඉඩ ඉල්ලන්නෙ කියමින් බැණ බැණා, පැදුරත් අකුලගෙන කිහිල්ලට ගත් සැනින් එතැනම මැරිල වැටුනා. බුදුබව පැතුවත් පිරිමිකමට නොගැලපෙන කටයුතු කරපු මොහු ඒ හේතුවෙන් ගැහැණු අත්බවක් ලබා ඉපදුනා. (ලෝකයෙන් යමක් ගන්න බලාපොරොත්තු වෙනව නම්, ඒක ස්ත්‍රී ගතිය. ලෝකයට යමක් දෙන්න බලාපොරොත්තු වෙනව නම්, ඒ තමයි පුරුෂ ගතිය. මේ උපාසක මහතා, නැති ගුණයක් පෙන්වා ලාභ කීර්ති ප්‍රසංසා තමයි ලෝකයෙන් බලාපොරොත්තු වුනේ.)

අකුලගෙන කිහිල්ලේ ගහ ගත් පැදුරේ කුහරය පෙනහැල්ලට ගිහින් පෙනහැල්ලේ සිදුරක් ඇතිවයි ඉපදුනේ. උපාසක මහතා තමාටම කියල වෙන් කරගත් පැදුර විශේෂයෙන් මමත්වයෙන් ගත්තා. ''කොහෙවත් යන ස්ත්‍රියකට දෙන්න මගෙ පැදුර!'' කියන මානසිකත්වයත් සමග ඇතිවෙච්ච දාහ ගතිය නිසා තමයි, හුල්ල හුල්ලා ගිහින් මැරිල ඉපදිලා පෙනහැල්ලේ සිදුරක් හටගත්තේ. ඒ දූරිය තමයි දැන් මේ මා ඉදිරිපිට ඉන්නේ.

කවියෙන් කියාගෙන ගිය මේ විස්තරය මෙහෙම කිව්වත් අවසාන කවියේ අරුත භයානකයි. නමුත් දැන් මොනව කරන්නද කවිය කියල ඉවරයි. දරුවගේ මවගේ මුහුණේ කඳුළු ගලා ගියා. වෙනත් කළ යුතු දෙයක් නැති මම, මෙහෙම කිව්වට ගණන් නොගෙන දරුවා වෛද්‍යවරයෙකු ලවා පරීක්ෂා කර බලන ලෙසත්, පපුවේ සෙම ටිකක් හෝ තිබෙන්න පුළුවන් බවත් ඒ අය සනසන්න කිව්වා. ''අනේ මහත්තයෝ ළමය පොඩි කාලෙම පරීක්ෂා කරපු වෛද්‍යවරු, දුවගෙ පපුවෙ පෙනහැල්ලෙ සිදුරක් තියෙන බව කිව්වා. ඒකට ප්‍රතිකර්මයක් කරන්න බලන්නමයි අපි ආවේ'' මේ තමයි ළමයගෙ මව කියපු කතාව. ලෝකස්වභාවයට සාක්ෂියක් ඇස් පනාපිටම දැකපු මටත්, පැමිණ හිටපු පිරිසටත් සුසුම් හෙළුනේ නිතැතින්මයි.

දැන් ප්‍රතිකර්ම සඳහා සමාධි කවියෙන් ගෙතිල ආවේ අමුතුම ක්‍රමවේදයක්. මේ තමයි ඒ ක්‍රමවේදය. පන්සලට දානයක් ගෙනියන ලෙස බත් පෙට්ටියක් හදාගෙන, හෝටලයක තම්බල තියෙන පොතු ඇරගත් බිත්තර කිහිපයක් දූරියට හොරෙන් බත් පෙට්ටියේ මැද හංගා, තවත් ළමයි පිරිසක් සමග පන්සලට දානය ගෙනියන ලෙස ඇය ලවා කියවමින්, ලිං තොටක් තියෙන ස්ථානයක් අසලදී ඇයට නොදැනෙන්න, බත් පෙට්ටිය විසිවෙන ලෙස අතින් ඇන, ඉන්පසු ''අපිත් උඹට රැවටුනා, හාමුදුරුවන්ට බිත්තර තම්බගෙන යන හොර උපාසිකාව'' යැයි මෙහෙම කියමින් ඇය අඬනතුරු කොලොප්පම් කර, ගෙනිච්ච අනික් ව්‍යංජන, අල, බතල ආදියත් එතැනම දාලා ඇගේ ඉන්න අමනුෂ්‍යයන්ට ඒව බාරයි කියල, ඇයව ළිඳකින් නාවගෙන වෙනත් ඇඳුම් අන්දවාගෙන ආ යුතුයි. දාන පෙට්ටිය ගෙනියනකොට සුදු රෙදි පටියක් උතුරු සළුව වගේ දාගෙන ගිහින් ඒකත් එතැනම දැමිය යුතුයි.

ඉන්පසු මැදට නෙළුම් මලක් හා හතර කොනට නෙළුම් මල් හතරක් සිටින ලෙස හදපු ගල්ඇහැ රටා ඇති පැදුරක් අකුලාගෙන ඇවිත්, දරුවා කැමති ලස්සන සෙල්ලම් බඩුවකුත් රැගෙන එන ලෙස දන්නුවා. ඉන්පසු දරුවගේ දකුණු කිහිල්ලට අකුලපු ගල්ඇහැ පැදුර තබා, සෙල්ලම් බඩුව මගේ අතට අරගෙන ඒක දූරියට දෙමින්, මේක අරන් දුව පැදුර මට දෙන්නැයි කියා දූරියගේ කැමැත්තෙන්ම පැදුර ඉවතට ගත යුතුයි. ඉන්පසු ඒ පැදුර පන්සලක ධර්ම ශාලාවකට දමා යන ලෙසත් ඒ අයට දැනුම් දුන්නා. එදා පපුවට වැදුණු දාහය නිසා හටගත් විකෘති ශක්තිය ඉවත් කරන ක්‍රමවේදයක් තමයි සමාධි කවිවලින් ප්‍රතිකර්ම විදිහට සිද්ධ කළේ. එතැන් පටන් වසර දෙකක් පමණ යනකොට පෙනහළු ආබාධය දුරු වෙලා සුව වෙන බව තමයි සමාධියට වැටහුණේ.

ආයුර්වේද විද්‍යාව වගේ විෂයන් **මෙන්ම නක්ෂත්‍රය ආදිය පිළිබඳවත් සමහරු** වරදවා අදහස් ගෙන, **බුදුපියාණන් වහන්සේත් මේවා තිරච්චීන විද්‍යා ලෙස පෙන්වා ඇතැයි** කියනවා. නමුත් උන්වහන්සේ මෙබඳු දේවල් ගැන දේශනා කළේ, **යම් භික්ෂුවක් සැදැහැවත් සිතින් දුන් බොජුන් වළඳා ජීවිකාව පිණිස එබඳු විද්‍යා කටයුතුවල නිරත වීම තිරස්චීන ක්‍රියාවක්** ලෙසයි. (තිරස් අතට යන වැඩපිළිවෙල හෙවත් තිරිසන් වැඩපිළිවෙලයි තිරස්චීන. භික්ෂූන් වහන්සේ නමක් ජීවත් වීම සඳහා එබඳු ක්‍රියාවන්වල නිරත වුනොත් ඒක නිවන් මගට බාධාවක් වෙනවා.) එහෙම නැතිව එබඳු විද්‍යාවන්ට පහර ගහල නෑ. **ජීවක වෙද මහත්තයා කියන්නේ බුදුරජාණන් වහන්සේටත් ප්‍රතිකර්ම කරපු සෝවාන් ඵලයටත් පත්වෙච්ච වෛද්‍යවරයෙක් බව** දහමේ සඳහන් වෙනවා. යම් භික්ෂුවකට රෝගාබාධයක් හැදුනම සහයෝගයෙන් ප්‍රතිකර්ම කරගත යුතු බවත්, **ගිලානෝපස්ථානය බුද්ධ උපස්ථානයක් ලෙස සලකන ලෙසත්** උන්වහන්සේ අනුශාසනා කරල තියෙනවා.

ගස්වැල් මෙන්ම ලෝකයේ **නොයෙක් ද්‍රව්‍යවල පද අර්ථ දකින නුවණක් (ද්‍රව්‍ය පදාර්ථ ඥානය) තිබුණු පෙර හිටපු මහ ඍෂිවරු, සත්ත්වයාට ඇතිවන රෝග පිළිබඳව තතුත්, ඒවා හැදෙන්න හේතුත්, නිරෝගී වන ආකාරයත්, ඊට ප්‍රතිකර්මත් පෙන්වා දුන්නා.** මේ බලාපොරොත්තු වන්නේ, මා එබඳු ලෞකික ඥානලාභියෙක් කියල අඟවන්න නෙවෙයි, **ඒවා සත්‍ය බව ඔප්පු කරල පෙන්වන්න යම් මට්ටමක හැකියාවක් මේ කාලයෙත් ලබන්න පුළුවන් බවට සාක්ෂි කිහිපයක්** පෙන්වන්නයි. එසේම මේවා විස්තර කරන්නේ කිසිම ලාභ, කීර්ති, ප්‍රසංසාවක් ලබන්න නෙවෙයි, අධ්‍යාත්මික ඥාන බල ලබන්න උත්සාහ කරමින් බොදු මගත් ගමන් කර නිවන් අවබෝධයට කටයුතු කරන පින්වත් පිරිසට මේවායේ සත්‍යතාවය වැටහිලා, ධෛර්යය වැඩිවෙලා ඒ උතුම් ඵල ලබන්න උපනිශ්‍රයක් වේවා කියන අවංක හැඟීමෙන්.

මා පදිංචිවෙලා හිටපු ගම් ප්‍රදේශයේම මා හට ඥාතිත්වයකුත් ඇති, රෝහිනී නමින් හඳුන්වන කාන්තාවක් හිටියා. දැනට වසර 25 කට පමණ පෙර ඇය තරුණ වයසේ කෙනෙක්. එක් අවස්ථාවක පපුවේ දැවිල්ලක් ප්‍රභල ලෙස ඇති වෙලා රෝහල් ගතකරපු ඇයව පරීක්ෂා කරපු වෛද්‍යවරු, එබඳු රෝගාබාධයක් ඇයට නැතැයි නිගමනය කළත්, ඇය දරුණු වේදනාවෙන් කෑගහන්න වුනා. කියන්න තරම් රෝග තත්ත්වයක් නැතැයි වෛද්‍යවරු නිගමනය කරපු නිසා ඇය නැවත ගෙදර ආවත්, බොහෝ වේදනාවෙන් කෙඳිරිගාන්න වුනා. මා ඉහත කියපු ගුප්තමය ශක්ති විශේෂය ඒ කාලයේ අත්දැකල තිබුණු නිසා ඒ පිළිබඳව දැනගත්තු ඇය මා හමුවෙලා, ''චූටි මාමෙ මගෙ පපුව දනව අනේ මට පිහිටක් වෙන්න'' කියල කිව්වා. ඇයගේ රෝගය ගැන දැනගන්න ගුප්ත සමාධි ක්‍රමවේදයට නැඹුරු වෙච්ච මට මේ වගේ දර්ශනයක් පෙනුනා.

ඇගේ අතක ඇඟිලි දෙකක් මුගටියෙකු විසින් දෂ්ට කර ඇති බවත්, ඒ වෙලාවේ සර්පයෙක් ගිලල මත් වෙලා හිටපු මුගටියාගේ දත්වල තිබූ සර්ප විෂ ඇගේ ශරීරයට ඇතුල් වෙලා ඉන්පසුව සිදු වූ ප්‍රතික්‍රියාවක ප්‍රතිඵලයක් වශයෙන් පපුවේ දැවිල්ල හටගෙන ඇති බවත් ඒ දර්ශනයෙන් පෙන්නුම් කළා. ප්‍රතිකාර කරන්න පෙර, කාරණය දැනගෙන සිටීම වැදගත් නිසා ඇයට කථා කර, මුගටියෙක් ඇඟිලි දෂ්ට කළා දැයි ඇහුවා. ඒ මීට මාස හයකට පමණ පෙර සිද්ධ වූවක් ලෙස පෙනුන බව දැනගෙන මේ ගැන ඇහුවම, එය සත්‍යයක් බව ඇය කියා සිටියා. තමා පෝර කවරයක් (හිස් ඉටි කවරයක්) රැගෙන දර හොයන්න ගිය අවස්ථාවක, රබර් වත්තේ මුගටියෙක් ඉන්නව දැකල ඌව අල්ලගන්න ලඟට ගිය බවත්, ඌ නිහඬව හිටපු නිසා කවරයේ කට උගේ ඇඟට දමා ඌ කවරයට දමාගෙන පොඩි

කුඩුවක් හදල ඇති කරන අදහසින් මුගටියව එලියට ගන්න කවරයට අත දමුවාම ඇඟිලි දෙකක් දෂ්ඨ කරල හුඟක් ලේ ගිය බවත් ඇය පැවසුවා.

සත්‍ය හෝඩුවාවක් මේ විදිහට දැනගත් නිසා නැවත සමාධි ගතවෙලා ඊට ප්‍රතිකර්ම විමසුවා. මවපු ගුරුවරයා රෝගයට ප්‍රතිකර්ම පෙන්නුවා. ලෙලි ගහපු පොල් ගෙඩියක් තරමේ පුහුල් ගැටයක් අරගෙන පලා හිරමණයෙන් මදය ගාගෙන, ඒක මිරිකා ඉස්ම පත එකහමාරක් අරගෙන, රත්තැඹිලි ගෙඩියක ඇස්සේ තියෙන අඩලය ගාගෙන, ඒක පුහුල් ඉස්මෙන් මිරිකාගෙන, ඒ ද්‍රාවනයට කුඩා ගෙඩියක් සහිත ගැහැණු පුහුල් මලක (ලෙඩා පිරිමියෙක් නම් ගෙඩිය නැති, පිරිමි මලක) රොන් සුනු දියකර මඳක් රත්කර, ඒ ද්‍රාවණය තුන් කොටසකට බෙදාගෙන, එක් කොටසකට මැග්නීසියා පෙත්තක් බැගින් දමා උදේ, දවල්, සවස ලෙස තුන් වේලක් බොන්න දෙන ලෙස ඒ ප්‍රතිකර්මයෙන් කියවුනා.

මේ බෙහෙත මා විසින්ම සාදා පළමු කොටස ඇයට බොන්න දුන්නා. ඉන්පසු මම උවමනාවකට කඩපිලට ගිහින් පැයකින් පමණ ගෙදර එනකොට, කෙනෙක් උදැල්ලක් අරගෙන උදලු ගාමින් මඤ්ඤොක්කා දඬු වගයක් හිටවනව දැක්කා. දින ගණනක් ඇඳේ දිගාවෙලා නැගිටින්නවත් බැරිව, කෙඳිරිගාමින් හිටපු ඇය තමයි මේ මඤ්ඤොක්ක හිටවන්නේ. මා දකපු ගමන්, චූටි මාමෙ මට දුන් සනීපයි කියල ඇය කිව්වා. ඒ වුනාට කමක් නෑ අනිත් දෙවේලත් බොන්න කියල මම කිව්වා. ඇයට තිබ්ච්ච ඒ ආබාධය එයින්ම සුව වුනා. නැවතත් හැදුනෙ නෑ.

එයින් අවුරුදු 10 කට 12 කට පමණ පසුව යලිත් දිනක මා හමුවීමට පැමිණි ඇය ''චූටි මාමෙ පපුවෙ අමාරුවෙන් පස්සෙ මට මුකුත් අසනීපයක් තිබුනෙ නෑ, ඒත් දැන් මගෙ කකුලෙ කැක්කුමක් එනවා'' කියල පැවසුවා. මේ කාලෙ වෙනකොට මවපු ගුරුවරයගෙන් යමක් බලන්න අවශ්‍ය වුනේ නෑ. ඒ ගැන විමසා සමාධිගතව බලනකොට හිතට නැගී ආවේ මෙය රෝගයක් නොවේ කියලයි. එසේනම් කුමක්දැයි අධිෂ්ඨාන කර පිළිතුරට යොමුකරල නැවතත් බලනකොට, ඇගේ මියගිය මාමා දරුවෙක් ලෙස බඩට ඇවිත් (ඔක්කන්ති වී) ඇති බවත්, ජීවත් වෙලා හිටපු කාලයේ ඔහුගේ පාදයේ තිබූ ආබාධයක ගති ස්වභාවය මවට එසේ දැනෙන බවත් පෙන්නුම් කළා.



නමුත් මේ ගැන ඇයට එකපාරටම කියන්නත් බෑ. පළමු දරුවා ලැබිල මේ වෙන කොට වසර 10 ක් පමණ ගිහින්. විවිධ පවුල් සංවිධාන ක්‍රමත් ඇති නිසා මේ ගැන එල්ලකරල කියන්නෙ නැතිව මම මෙහෙම කිව්වා. ''නුඹල පවුල් සංවිධාන ක්‍රම කරගෙන ඇද්ද කියල මම දන්නෙ නෑ. නමුත් මට පේන්නේ ඔබේ මාමා උප්පත්තියට බඩට ආපු බව.'' එවිට ඇය, ''හැබැයි චූටි මාමෙ ඇත්ත වෙන්නත් පුළුවන්, දැන් සුමාන තුනකට විතර ඉස්සෙල්ල දවසක් මාම හීනෙන් ඇවිත්, දුවේ මම උඹ ලඟට එනව කියල කිව්වා'' යැයි පැවසුවා.

මේ කතාව ඇය තමන්ගේ නෑදෑ හිතවතුන්ට කියල තිබුණා. ''ඕව කියන්න පුළුවන් කාටද? උඹම හදල ඕව කියනවද කියල කවුද දන්නෙ?'' ඒ නෑදෑ හිතවතුන් ඒකට මෙහෙම පිළිතුරු දීල තිබුණා. ඒ ලඟම දිනක ඇය ඒ කතාවත් මට කිව්වා. එවිට මම ඊට දිය යුතු පිළිතුර සිහි කරල බැලුවම පෙනුනේ, උපදින දරුවගේ කකුලේ දණහිසින් පහළ වලලුකර දිහාට යනකල් කළු ලප කැලලක් තියෙන බවයි. මේ නිසා දරුවා ඉපදුනාට පසු මේ බව බලාගන්න කියල නෑදැයින්ට කියන ලෙසත් මම ඇයට දැන්නුවා. හැමදෙනාම ඒක හොඳ සාක්ෂියක් බවට පිළිගෙන ඒ බලාපොරොත්තුවෙන් දරුවා ලැබුණු දිනම නෑදෑ පිරිස ඒ සිද්ධිය දැක බලාගන්න ගියා. සමාධියෙන් දැකපු ඒ කැළල දරුවගෙ කකුලේ ඒ විදිහටම තිබුණා. මේවා ගොතල කියන කතා නෙවෙයි. අතිශයෝක්ති පදයක්වත් මෙතන නෑ. සිද්ධ වූ සත්‍යම සිද්ධි තමයි මේ කියන්නේ.

භෞතිකව සිද්ධ වෙන බොහෝ දේවල් භූත අමනුෂ්‍ය ලෙසට හිතල මනුෂ්‍යයෝ රැවටුනත්, සියයට සියයක්ම ඒක එහෙම නෙවෙයි. එබඳු අමනුෂ්‍ය බලවේග නිසා සිද්ධ වෙන උපද්‍රවත් ඒ අතර තියෙනවා. බුදුපියාණන් වහන්සේ බෝසත් තාපස අවධියේ අරිය පර්යේෂණය කරද්දී වනාන්තර ගතව ආරණ්‍ය වාසයේ ඉන්නකොට නොයෙක් භෞතික ශබ්ද ඇහෙද්දී බොහෝ අය ඊට අමනුෂ්‍ය ආදීන්ගේ වැඩ යැයි සිතා බය වුනත්, උන්වහන්සේ ඒවා විමර්ෂණය කිරීමේදී මුවෙක් දුවන හඬ, ගසක දිරාගිය අතු කැබැල්ලක් වැටෙන හඬ ආදිය ඇසුන බවත්, බොහෝ අය මේවාට අමනුෂ්‍යයන්ගේ වැඩ කියා බියවන බවත් පෙන්වා තියෙනවා. නමුත් භික්ෂූන් වහන්සේලා 500 ක් ආරණ්‍යයක කමටහන් වඩනකොට ඇත්ත වශයෙන්ම අමනුෂ්‍ය උපද්‍රව පැමිණි බව දැනගෙන, ඒවා සංසිඳවා ගන්න කරණීය මෙත්ත සූත්‍රය දේශනා කරපු බවත්, ඒ කරදර තිබුණු ඒ ආරණ්‍යයටම ගිහින් කමටහනක් වශයෙනුත් එක්ව සජ්ඣායනා කරමින් භාවිතා කර ඒ අමනුෂ්‍ය උපද්‍රව දුරුකරගෙන ආර්ය මග වඩා අරිහත්වයට පත් වූ බවත් බුදු දහමේ සඳහන් වෙනවා.

අමනුෂ්‍ය දෝෂයක් නිසා හටගත් එක්තරා ආබාධයක් සුව කරන්න මා විසින් අධ්‍යාත්මික ක්‍රමවේදයක් උපයෝගී කරගත් සත්‍ය සිද්ධියක් මේ විදිහට සටහන් කරන්නේ, **අධ්‍යාත්මික පරීක්ෂණ කරමින් යමක් දැනගන්න බලාපොරොත්තුවන පින්වතුන්ට ගුප්ත ලෝකයේ සත්‍ය සිද්ධීන් ඇති බව පෙන්වා දෙන්නයි.**

මේ කියන අමනුෂ්‍ය උපද්‍රවයට ගොදුරු වුනේ මගේම මාමා කෙනෙක්. ඒ කාලයේ ඔහුට වයස අවුරුදු 65 ක් පමණ ඇති. පාරම්පරිකව පවත්වාගෙන ආපු දුර්ලභ මන්ත්‍රයක් (කෙමක්), ඒ ක්‍රමය කරන කෙනෙකුගෙන් ඔහුට ලැබිල තිබුණා. ඒ ඔහු තරුණ කාලයේදීයි. එනම්, කෙනෙක් මියගිය පසු භූමදාන කරන්න මිනී වල කැපීමට, ඕනෑම ගල් සහිත ඉඩමක කරදරයක් නැතිව වල කපන්න තැනක් දැනගන්නා ක්‍රමවේදයක්. ඒ තැන පෙන්වා දෙන්නේ අමනුෂ්‍ය බලවේගයකින්. මහසොහොනා යනුවෙන් පවසන මේ බලවේගයේ ක්‍රියාත්මක වීමකින් අදාල තැන පෙන්වා දුන් පසු, උදැල්ලෙන් වලේ හතර කොනේ පස් පිඩැලි හතරක් කපා ඉවත් කර, ඉන් පසු වල කපන පිරිසට ඒ කටයුත්ත බාර කරනවා. ඒ වල අඩි හයක් පමණ කපනකල් ගල් කැටයක්වත් අහුවෙන්නෙ නෑ. මේ ක්‍රමවේදයෙන් ඔහු වලවල් පන්සිය ගණනක් ඒ වන විටත් කපන්න ලකුණු කරල දීල තිබුණා. ඒ වගේම ඒ සියල්ලම සාර්ථක වෙලත් තිබුණා. මෙබඳු ක්‍රමයකින් තොරව බොහෝ අය වලවල් කැපීමේදී, භාගයක් යටට කපනකොට ලොකු ගල් අහුවීම නිසා සිරිතක් විදිහට කෙසෙල් කොටයක් දමා වසා වෙනත් තැනක යලිත් වල කපන්න පුරුදු වෙලා ඉන්නවා. ඒ ක්‍රමයට වලවල් දෙක තුනක් කපන්න වෙන අවස්ථාත් තියෙනවා.

මේ නිසා ඉහත කියපු මාමා ලඟ තිබ්බ්ව කෙම් ක්‍රමය ඉතා වැදගත් වූ නිසා අවට ගම්මානවල අයත් භූමදානයකදී වල ලකුණු කරගන්න ඔහුව කැඳවාගෙන යාම සිරිතක් වෙලා තිබුණා. මේ මාමා පදිංචි වෙලා හිටියෙ පූගොඩ දංගල්ල කියන ගම් ප්‍රදේශයේ. මේ කෙම් ක්‍රමයට අනුව පොලොවට දණ ගහල කට ලං කරල පුංචි මන්ත්‍රයක් කියනවා. ඒ සමගම ඇඟට කාන්දම් බලයක් වැනි දෙයක් දැනෙන බව ඔහු කියනවා. ඉන්පසු කිසිවෙක් සමග කතා නොකර මළගෙදරට ගිහින් කැත්තක් අරගෙන අඩි හයක් පමණ දිග කෝටුවක් කපාගෙන, පෙට්ටියේ දිග පළල මැනගෙන ඒක කැත්තෙන් ලකුණු කරගෙන, උදැල්ලත් අරන් කෝටුව කරතබාගෙන වල කපන ස්ථානයට යනවා. ඔහු එතැනට ගමන් කරන්නේ නොපෙනෙන බලවේගයක මෙහෙයවීමෙන්. යම් නියමිත ස්ථානයකට මෙහෙයවෙන ඔහුගේ කරේ තියෙන කෝටුව (මරු දණ්ඩ) නැගෙනහිරත් බටහිරත් අතරට වැටෙන ලෙස විසි වෙලා බිම වැටෙනවා. ඉන්පසු ඒ වැටුණු තැන හතර කොනේ පස් පිඩලි හතරක් කපා අනිත් පිරිසට වල කපන්න කියනවා. මෙතැනට එනකල් කවුරුවත් සමග කතා නොකළ යුතුයි.

එක් දිනක් මේ විදිහට කෙම් ක්‍රමය ක්‍රියාත්මක කරලා පෙට්ටියේ දිග පළලත් ලකුණු කරගෙන එලියට බහිනකොට කවුරුන් හෝ කෙනෙක්, අප්පුහාමි උදැල්ල ගත්තද කියල ඔහුගෙන් අහල තියෙනවා. ඒ වෙලාවේ ඔහුට "ඔව්" කියල කියවුනාලු. මේ නිසා කෙම් ක්‍රමය වැරදුනා. ඔහු වීසිවෙමින් ගිහින්, ගලක් උඩට මරු දණ්ඩ හෙවත් ඒ මිනුම් කෝටුව දමා විකෘති ස්වභාවයක් ඇති මනසින් යුක්තව කුඹුරක නියර උඩින් ඇති අඩි පාරක් දිගේ එනකොට, තුන් පාරක් විසිවෙලා වෙලටත් වැටී නැවතත් නැගිටල ඇවිත්, ගෙදර ඉස්තෝප්පුවේ තාප්ප බිත්තියක් මත ඉඳගෙන "ඉවරයි තව දින දෙකයි" කියල කියන්න වුනා. කෑමක් බීමක් නොගෙන වෙනත් කිසි කෙනෙක් සමග කතා බහකුත් නැතිව ඔහු මෙහෙම කිය කියා හිටියා. මා ගැනත් හොඳින් දන්නා ඒ ගෙදර නිවැසියන් මොහු රැගෙන මා වෙතට ආවා. ගෙනවිත් මා විසින් ශාන්ති කර්ම කරන නිවසේ ඉස්තෝප්පුවේ පුටුවක ඉන්දෙව්වා. ඔහුට කිසිම නිච්චියක් නෑ. මම අධ්‍යාත්මික ගුප්ත ක්‍රමවේදයකින් ඔහු වෙතට මනස යොමුකර මේ ආබාධය කුමක්ද කියල සිහි කළා. ඔහු ලඟ, මිනිස් ඇසට නොපෙනෙන නමුත් අධ්‍යාත්මික ක්‍රමවේදයකින් දැකිය හැකි විශාල පුද්ගලයෙක් හිටියා. මනසට පෙනෙන විදිහට ලඟ හිටපු පුද්ගලයා බඹ දෙකක් පමණ දුරට ගිහින් බලා හිටියා. මම ඔහුගෙන් ඔබ කවුද, ඇයි මේ තැනැත්තා ලඟ ඉන්නේ කියල විමසුවා. එතකොට ඔහු ටිකක් ලං වෙලා මෙහෙම කිව්වා. "මම තමයි මහ සොහොන් කියන්නේ. මූ මට මිනියක් දෙන්න පොරොන්දු වෙලා වලක් කපන්න උදව් ගත්තා. ඒ වුනාට දුන්නෙ නෑ. මම මූත් එක්ක හත් දෙනෙක් බිලිගන්නවා."

ඉන්පසු, මොහු සමග හත්දෙනෙක් බිලි නොගෙන නිදහස් කරන්න ඔබට මළ මිනී කීයක් ඕනදැයි මම ඇහුවම, මා ඉල්ලන තරම් දෙන්න ඔබට පුළුවන්ද කියල ඔහු මගෙන් ඇහුවා. මම කිව්වා ඉල්ලන තරමක් දෙන්නම් කියල. ඔහු මේ විදිහට මගෙන් තුන් වාරයක් අහල පොරොන්දුව ගිවිසවාගෙන, අසීමිතව දෙන්නැයි කියා සිටියා. දැන් මොහු උත්සාහ කරන්නේ මාවත් කොටුකරගන්න. අසීමිතව දුන්නොත් ඔබට ගන්න පුළුවන්ද කියල මම ඔහුගෙන් නැවතත් ඇහුවා. දීල බලමුයි කියල ඔහු තලු මරමින් කිව්වා. මොහු සාමාන්‍යයෙන් ඉන්නකොට මිනිහෙක් වගේ පස් ගුණයක් තරම් උස මහතයි. මම ඔහුට ඉල්ලන තරම් දෙන්න පොරොන්දු වුනේ, එබඳු ගුප්ත ලෝකයේ උදව්යට අවශ්‍ය දේ මවල දෙන්න තරම් අධ්‍යාත්මික හැකියාවක් ඒ කාලයේ මම ලබල හිටපු නිසයි. මේ වගේ අයට බිලි මවන්නේ සුලැගිල්ලෙන්. අධිෂ්ඨාන කළාම ඒවා මැවෙන කවි පෙලක් මුවෙන් පිටවෙමින් දකුණු අත අනුකූලව ක්‍රියාත්මක වෙලා හිතු හිතු තරමට මැවිල එනවා. ඒ මැවෙන එක මටත් පේනවා. මනසට පෙනෙන මේ පෙනීම හෙවත් අධ්‍යාත්මික බලය, මස් ලේ ඇහැටත් සම්බන්ධ වෙලා ඇස් දෙකිනුත් දකින්න පුළුවන් අවස්ථාත් තිබුණා. ඒවා මවල දුන්නේ මේ කවි ක්‍රමයෙන්. **මේ කවි කල් තියල කටපාඩම් කරගත්තු හෝ ගොතල හදල මතක තියාගත්තු කවි නෙවෙයි. ඒ ඒ ක්ෂණයේ ඒ ඒ පදය මනසින් නැගිල කටින් පිට වෙන්නේ බෙර පද වයන විදිහට අනුකූල තාලවලටයි.** සමහර වෙලාවට වේගවත් වෙනකොට හේවිසි පද විදිහට අධිවේගවත් වෙනවා.

යකුනි තොපට අද නරබිලි දෙවනු ඇත
මෙබඳු එකට දහයක් දැන් මැවෙනු ඇත
අඩුව නොමැත හිතු පැතු ලෙස මවල දෙත
රැගෙන බුදිව අඩු නැති ලෙස රසඳ ඇත

මේ එබඳු කවියක්. කවිය කියල සුලැගිල්ල මහපටැඟිල්ලට තද කරල ගසන කොටම මොහොතින් මිනී දහයක් මැවිල විසිවුනා. ඔහු තප්පර දහයක් යන්නත් පෙර ඒ ටික ගිලල දැම්මා.

එකට සියක් යළි තොප වෙත මවල දෙමී
රැගෙන බුදිව් රස අඩු නැත එලෙස දෙමී
තොපට රිසිවු රස අඩු නැත සකස දෙමී
රැගෙන තවත් අවැසිද දැන් කියව මිමී

මේ එබඳු තවත් කවියක්. කවිය කියල ඉවර වෙනකොට මිනී සියයක් එකවිට මැවිල ඔහු ලඟට වීසි වුනා. ඔහු එකවිටම දහයක් පමණ බදාගෙන කෑදර කමට ගිලින්න හැදුවත් කට තුල හිරවුනා. ඒත් සමගම තවත් කවි නැගුනා.

කෙනෙක් අවැසි දැයි තවමත් නොකිය ඇතේ
එකට දහස් මළමිනි දැන් මැවිල එතේ
ගනුව එකින් එක අඩු නැත තවද දෙතේ
එකට දහස් දහසින් තව නැගෙනු ඇතේ

මේ තමයි ඒ විදිහට නැගිච්ච කවි.

මේ කවි කියල සුලැඟිල්ලෙන් කලින් වගේ විදිනකොට මළ මිනී මැවී මැවී ගිහින් ඔහුගේ හිසට උඩින් ශරීරයත් වහගෙන කන්දක් වගේ ගොඩගැහුණා. දූන් මිනී අතරින් අත් දෙක උඩට ඉස්සුවම මැණික් කටුවෙන් උඩට දෙඅත්ල පමණයි පේන්නේ. ඇති ඇති කියල ඔහු අතින් සංඥා කරල, දඟල දඟල මිනී ගොඩෙන් එලියට ඇවිත්, ''ඔබ මෙහෙම කෙනෙක් කියල දන්නෙ නැතිවයි අසීමිතව ඉල්ලුවෙ, මට සමාවෙන්න'' කියල බැගෑපත් වුනා. මේ විදිහට අසීමිතව දීගෙන ගියා නම් ඒ මිනීවලින්ම වැහිල ගිහින් හිරවෙලා මරණයට පත්වෙයි කියල ඔහුට බියක් ඇති වූ බව මටත් හැඟී ගියා. මවල තියෙන මිනී ගොඩවල් දිහා කෑදර කමින් බලමින් ඒවා මිටි බැඳගන්න වැල්පොටවල් වැනි දෙයක් නැතිව ඔහු වටපිට බලනකොට මේ කවිය පිටවුනා. (මේ ඒ කවියම නෙවෙයි, එබඳු කවියක්)

හිතු පැතු ලෙස දඬු කඩ මැවීයන්
සිතු පැතු ලෙස තෙද බල සැදීයන්
මොහුට රැගන්නට මෙම මිටි බැඳීයන්
අඩුව නැතිව සුව සොම්නස ලැබීයන්

මේ කවියත් සමගම මහා වැල්පොටවල් මැවිල මිනී කඳන් ගොඩ එකතුවෙලා, වැල් පොටවල් ගැටගහගන්න ඔහුගේ අතට ලැබිල තිබුණා. ඔහු මිනී කඳ උඩට නැගල තුන් පොලකින් ගැටගහගෙන මා දිහා බලාගෙන ගෞරවයෙන් හිස නැමුවා. මම ඔහුට සෙත් කවියකින් සුව ආසිරි පැතුවා.

හිතුව මොහොතෙ
හිතු සුව සෙත ලැබෙනු ඇත
අඩුව නොමැත
පිරිසට මුත් දෙවෙනු ඇත
සුවය හිතු පැතු
විලසම ලැබෙනු ඇත
පැතුව විලස
විය සෙත දූන් යන්න පුත

ඔහු ගරු කරල වැඳගෙන, මීට පස්සෙ කිසිවෙකුටවත් හිංසා නොකරන බවට පොරොන්දු වෙලා, ''මොහු නිදහස් ඔබටත් සුව'' කියා හිස නමල, මළ මිනී මිටිය හිස මත තියාගෙන යන්න ගියා.

මෙච්චර වෙලා අවසිහියෙන් හිටපු මාමා ''අනේ අම්මේ යාන්තම් දූන් ඇති. මහා බරක් මං හිර කරගෙන ඉඳල යන්න ගියා. මං මේ කොහෙද ඉන්නේ? මේ මගේ බෑණා නේද? කොහොමද මං මෙහාට ආවෙ?'' මෙහෙම කියල හිනාවෙලා හොඳ සිහියෙන් බැලුවා. නූල් පොටක් හෝ වතුර පොදක් හෝ සෙත් කරල ඔහුට දෙන්න අවශ්‍ය වුනේ නෑ. මාමා මොකක් කරන්න ගිහින්ද හිර වුනේ කියල මම ඇහුවම, ඉහත වල කපන්න ගිහින් සිද්ධ වෙච්ච සියල්ලම මට කිව්වා. දූන් ඉතින් ප්‍රශ්නයක් නෑ, මීට පස්සෙ ඒ වැඩේ කරනකොට කතා නොකර හරියට කරන්න කියල මම ඔහුට කිව්වා. ''අනේ අනේ මෙයින් ගියා ඇති, මීට පස්සෙ මම නෙවෙයි වලවල් කපන්න යන්නෙ, මම මේව කාටවත් දෙන්නෙත් නෑ, මගෙන්ම ඉවර වෙච්චාවෙ!'' මෙහෙම කියපු ඔහු ඉන් පස්සෙ වලවල් ලකුණු කිරීම ජීවිතේටම කළේ නෑ. මේ කිව්වෙ සුරංගනා කතාවක් නෙවෙයි. ගුප්ත වූ සත්‍යම සිදුවීමක්. මෙතැන අතිශයෝක්ති කිසිවක් නෑ.

ඉතිරි කොටස ලබන කලාපයෙන්....

**සටහන :-**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# 44 ක් සහ 77 ක් ලෙස ඥාණ දර්ශන විග්‍රහය

සං:නි: (2), 88 පිටුවේ එන <u>ඥාණවත්ථු සූත්‍රය</u> (ඥාන 44 හා සම්බන්ධවයි) - අතීතයේ යම් කිසි මහණ බමුණු කෙනෙක් සංස්කාර දන්නාහුද, සංඛාර සමුදය, සංඛාර නිරෝධය, සංඛාර නිරෝධ ප්‍රතිපදාව අද මම යම් සේ දකින්නේද, එසේම දන්නාහුය. මෙසේම අනාගතයේ යම් මහණ බමුණු කෙනෙක් සංඛාර, සංඛාර සමුදය, සංඛාර නිරෝධය, සංඛාර නිරෝධ ප්‍රතිපදාව අද මම යම් සේ දකින්නේද, එසේම දූනගනු ලබන්නාහුය. මෙසේ මේ න්‍යාය ධර්මය අනුව සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති, ජරා මරණ යන අංගයන්ද මෙසේ දූන මේ න්‍යාය ධර්මය අනුව අතීත, අනාගත පනවන්නේද, එසේ දූනුම් ඇති ඔහු පිළිබඳව බුදුපියාණන් වහන්සේ මෙසේ දේශනා කර තියෙනවා. (11 x 4 = 44)

මහණෙනි, යම් කලෙක මේ ආර්ය ශ්‍රාවකයාගේ මාර්ග ඥාණයත්, ප්‍රත්‍යවේක්ෂා ඥාණයත් මේ දෙනුවණ පිරිසිදු වූයේ, ඉතා පිරිසිදු වූයේ වේද, මහණෙනි, මේ ආර්ය ශ්‍රාවක තෙමේ දෘෂ්ඨි සම්පන්න යැයි ද, දර්ශන සම්පන්න යැයි ද, මේ සද්ධර්මයට පැමිණියේ යැයි ද, මේ සද්ධර්මය දකී යැයි ද, ශෛක්ෂ (සේක - අරිහතුන් වහන්සේගෙන් මෙහා ඉන්න මගඵල ලාභීන්) ඥාණයෙන් සමන්වාගත යැයි ද, ශෛක්ෂ විද්‍යාවෙන් සමන්වාගත යැයි ද, ධර්ම ස්‍රෝතසට පැමිණියේ යැයි ද, ආර්ය වූ නිර්වේදික ප්‍රඥා ඇත්තේ යැයි ද, අමා දොරට හැපී සිටී යැයි ද කියනු ලැබේ. (මෙසේ මේ අවබෝධය ඇත්තා ඒකාන්තයෙන් සෝතාපන්න බවයි දේශනා කරල තියෙන්නේ.)

මේ ඥාන 44 තවත් ආකාරයකින් 77 ක් වන ආකාරය පෙන්වා ඇත්තේ මෙසේය.

1. මෙකලද ජාති ප්‍රත්‍යයෙන් ජරා මරණ වේ යැයි දක්නා නුවණ.
2. ජාති නිරෝධයෙන් ජරා මරණ නිරෝධ වේ යැයි දක්නා නුවණ.
3. අතීතයෙහිද ජාති ප්‍රත්‍යයෙන් ජරා මරණ වී යැයි දක්නා නුවණ.
4. අතීතයෙහිද ජාති නිරෝධයෙන් ජරා මරණ නිරෝධ වී යැයි දක්නා නුවණ.
5. අනාගතයෙහිද ජාති ප්‍රත්‍යයෙන් ජරා මරණ වේ යැයි දක්නා නුවණ.
6. අනාගතයෙහිද ජාති නිරෝධයෙන් ජරා මරණ නිරෝධ වේ යැයි දක්නා නුවණ.
7. යම් ඒ (යථෝක්ත) ප්‍රත්‍යාකාර ඥානයක් වන්නේ නම් එයද ක්ෂය ස්වභාව ඇත්තේය, ව්‍යය (වැනසෙන) ස්වභාව ඇත්තේය, විරාග ස්වභාව ඇත්තේය, නිරෝධ ස්වභාව ඇත්තේ යැයි මෙසේ දක්නා නුවණ. (11 x 7 = 77)

මේ ආකාරයෙන්ම භව ප්‍රත්‍යයෙන් ජාති, උපාදාන ප්‍රත්‍යයෙන් භව, තණ්හා ප්‍රත්‍යයෙන් උපාදාන, වේදනා ප්‍රත්‍යයෙන් තණ්හා, ස්පර්ශ ප්‍රත්‍යයෙන් වේදනා, සළායතන ප්‍රත්‍යයෙන් ස්පර්ශ, නාම රූප ප්‍රත්‍යයෙන් සළායතන, විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාම රූප, සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ, අවිජ්ජා ප්‍රත්‍යයෙන් සංඛාර යන මේවාත් ඉහත කී ආකාර ඥාන හත අයුරින් දකීද එවිට 77 ක් ඥාන දර්ශනය වේ. මේ ඉහත 44 ක් ඥාන දර්ශන තවත් ආකාරයකින් දකින විදිහයි.

# මිනිස් ඇසට නොපෙනී බිත්තරය තුළ සැඟව ගිය ජීවය

*(පසුගිය කලාපයෙන් :- මස් මාංශ අනුභවය සම්බන්ධයෙන් වූ මතභේදාත්මක ගැටළුව නිවැරදි දහම් ඇසින්)*

අද සමාජයේ බොහෝ දෙනා අතර පවතින තවත් වැරදි මතයක් තමයි ගොවිපොළවල්වල හදන බිත්තරවල (ෆාම් බිත්තරවල) ජීවයක් නෑ, ඒනිසා ඒවා කෑවොත් පව් සිද්ධ වෙන්නෙ නෑ කියන කාරණය. ඒවායින් පැටව් හැදෙන්නෙ නෑ කියන තර්කය තමයි මෙතනදී මතු කරන්නේ. නමුත් ඒවායින් පැටව් බිහි නොවෙන්න විවිධාකාර හේතු තියෙනවා. ඒ හේතු දැනගන්න කලින් බිත්තරයක් කියන්නෙ මොන ආකාරයේ ස්වභාවයක්ද කියල විමසා බලමු.

**බිත්තරයක් කියන්නේ එක්තරා ගැබක්. එතකොට හේතුවක් නැතිව යම්කිසි ඵලයක් හට ගන්න විදිහක් නෑ.** බුදු දහම පෙන්වන්නේ හේතු ඵලයි. ඒ අනුවයි මේ කාරණය තෝරා ගත යුත්තේ. බිත්තර කියන්නේ කිකිලිගේ ගර්භාෂයේ හටගන්නා අමතර දෙයක්. එහෙම නැතිව කිකිලිගේ ශරීරයෙන් හට ගන්නා පිහාටු, නියපොතු වගේ කොටසක් නෙවෙයි. යම්කිසි හේතුවකින් බඩේ ගෙඩියක් හට ගත්ත කිව්වොත් ඒක ශරීරයේ රෝගතාවක්. නමුත් බිත්තර කියන්නෙ එහෙම දෙයක් නෙවෙයි. ඒක ජීවය හට **ගැනීමේ රස ධාතුව ගැබ් කරල, කළලයක් ඇතුළත් වෙලා හැදිච්ච දෙයක්.** කළලය කිව්වම ඒකෙ මූලිකම අවස්ථාව අද තියෙන අණ්වීක්ෂයකින්වත් හොයන්න බෑ. ඒ තරම්ම අති සූක්ෂම දෙයක්. හරියට ශරීරයක් තුළ තියෙන ඒක සෛලයක් වගේ. නමුත් අද කළලයක් කිව්වම හිතන් ඉන්නේ ඉන්ද්‍රියන් සහිත, කළල බන්ධය සහිත, ආලෝකයක් ඇල්ලුවම පේන්න තියෙන, පටලවලින් වට වෙච්ච මුං ඇටයක් වගේ ඇහැට පේන එකක් කියලයි. ඒක පේන්නෙ නැතිනම් කළලයක් නෑ කියනවා. ඒකෙන් පැටව් හැදෙන්නෙ නැතිනම් ඒකෙ කළලයක් තිබිල නෑ කියල අදහස් ගන්නවා. නමුත් මේ කියන විදියට කළලයක් තියෙනවද කියල තීරණය කරන්න බෑ. කළ+ආල+අය=කළලය. යම් ගතියකට ආලය කිරීමෙන් සම්බන්ධ වන්නේ ගන්ධබ්බයයි. එනම් ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාස, විඤ්ඤාණ යන ධාතු හයකින් ගැබට වන ඔක්කන්තියයි. මේ ගන්ධබ්බයා **අන්වීක්ෂයකටවත් නොපෙනෙන කර්මජ රූපයකින් යුක්තයි. මෙතනදී වෛද්‍ය විද්‍යාවටත් හසු නොවන කොටසක් තියෙන බව තේරුම් ගත යුතුයි. අති ඉන්ද්‍රිය ඥානයට, දිවැසට පෙනෙන දේවල්වලින් කලාවෙන් පංගුවක්වත් විද්‍යාවට හසුකර ගන්න මේ වන කොටත් බැරිවෙලා තියෙනවා.**

බිත්තරයක් බඩ ඇතුළෙ තියෙනකොට ඒක තුළ කළල බීජය වැඩිල තියේ නම් විතරයි පියවි ඇසට පේන්නේ. බිත්තරයක් මෝරන කොට ඒ තුළ හැදෙන



කළලයත් වැඩෙනවා. ඒක වැඩිච්ච එක තමයි යම්කිසි විදුලි ආලෝකයක් අල්ලල, පොඩි තිතක් වගේ දකින්න පුළුවන්කමක් තියෙන්නේ. නමුත් **සමහර කළල තියෙනවා ඉතාම සියුම්. හැබැයි ඒවාට වැඩෙන්න අවශ්‍ය කරන එක් සාධකයක් හෝ නැතිනම් ඒක වැඩෙන්නෙ නෑ.** උදාහරණයක් ලෙස කෙනෙකුගේ ශරීරයේ කාබෝහයිඩ්‍රේට්, ප්‍රෝටීන් ආදී සියල්ලම තියෙන්න පුළුවන්. නමුත් එක අත්‍යවශ්‍ය විටමින් ජාතියක් හෝ අඩු වුණොත් ඒ ශරීරය නොවැඩී තියෙන්න පුළුවන්. මේ වගේ යම් රස ධාතුවක එක කොටසක් අඩුයි නම්, අනෙක්වා ඔක්කෝම තිබුණත් නොවැඩී තියෙන්න පුළුවන්. සමහර විට **සමහර සත්ත්වයන්ගේ කර්ම බලවේග මුල් කරගෙන අන්‍ය පුද්ගලයන් රැවටීමට හසුවීමෙන්, ඒ බිත්තරයේ සතෙක් නෑ කියන නිගමනයකට ඇවිත්, අත්‍යවශ්‍ය කොටසක් අඩුවෙලා කර්ම ශක්තියෙන්ම එවැනි සතුන් අඩුපාඩු සහිත ගැබක උපදින්න පුළුවන්. එතකොට ලෝකයේ මනුෂ්‍යයන්ට තියෙන දෘෂ්ටිය නිසා ඒ බිත්තරවල සත්ත්වයන් (ජීවයක්) නෑ කියන නිගමනයකට එනවා. මේ වගේ යථාර්ථය නොදැන කරගන්නා පාප කර්ම නිසා අර වගේ දෘෂ්ටියකට වැටිලා, සත්ත්වයන්ගේ ජීවිතවලට හිංසා කිරීමේ පාප කර්ම මුල් කරගෙන ඒ පුද්ගලයන්ටම හේතුවට අනුකූල වූ ඵලය ලෙස ඒ පාප කර්මය ඇදිල එන්න පුළුවන්. එවැනි පුද්ගලයෙක් සමහර විට ඒ ජාතියේම බිත්තරයක් තුළට ඇවිත් උපදින්න පුළුවන්. ඒත් කරපු පාප කර්මය නිසා කළලය නොවැඩී තිබී මනුෂ්‍ය ආහාරයට ගොදුරු වෙන්නත් පුළුවන්.** එහෙම වෙන්නේ වැඩෙන්න අවශ්‍ය රස ධාතුවක් අඩුවෙලා, කර්ම බලවේගයෙන්ම මනුෂ්‍යයන්ට එහි ජීවයක් නෑ කියන අදහස දීලා, ඒවා මනුෂ්‍ය ආහාරයට ගැනීම නිසයි. එවැනි බිත්තර රැක්කත් පැටව් හැදෙන්නෙ නැත්තේ ඒ රස ධාතුව අඩුවෙච්ච නිසයි.

නමුත් එහෙම වෙච්ච පළියට ඒකෙ ජීවයක් නෑ කියන්න බෑ. මොකද **කිකිලි බිත්තරය දාන කොටම ඒ තුළ ජීවයක් හටගෙන අවසානයි. හේතුව ගන්ධබ්බයකුගේ ඔක්කන්ති වීමක් (පැමිණීමක්) නැති නම් බිත්තරයක් නිපදවෙන්නෙ නෑ. හැබැයි මේ කාරණය මිනිස් ඩිම්බයක් බිත්තරයක් විදිහට අරගෙන ඒකත් එක්ක සංසන්දනය කරල විසඳගන්න බෑ.** මොකද මිනිස් ඩිම්බයක් සම්බන්ධ වෙලා සත්ත්වයෙකුගේ උපත හටගැනීම මීට හාත්පසින්ම වෙනස් ක්‍රමවේදයක්. ඒ ක්‍රමය ජලාබුජයි. බිත්තරවලින් ජීවය හටගන්නා ක්‍රමය අණ්ඩජයි. මේ නිසා ස්ත්‍රියකගේ මාසිකව සිදුවන මාස් ශුද්ධිය වගේ, කිකිලි බිත්තර දාන එක සමාන කරන්න බෑ. බිත්තරයක් නිපදවුණා කියන්නේ කළලයක් හැදුණා කියන එකයි. ඒ කළලය මෝරල පැටව් බිහිවෙන්නෙ නැති එක වෙනම ☞

කතාවක්. ඒකට හේතුව අර කියපු කර්ම බලවේගයන් නිසා රස ධාතූන්ගේ අඩුවීමයි. සමහර විට අඩුවෙච්ච රස ධාතුව ගැබ් කරන්න පුළුවන් නම් පැටවෙක් බිහිවෙන්නත් පුළුවන්. හැබැයි ඒකත් කර්ම ශක්තිය අනුවයි තීරණය වෙන්නේ. ඒකත් හේතු ඵලයි.

ඉතින් නවීන වෛද්‍ය විද්‍යාව **කිව්වත් කරුණු සියල්ලෙන්ම පූර්ණ විද්‍යාවක් නෙවෙයි.** ඒ නිසා අඩු වෙච්ච රස ධාතුව සමහර විට හොයාගන්න බැරි වෙන්නත් පුළුවන්. ඉදිරි කාලයේ දී ඒවා හොයාගන්න පුළුවන් නම් සමහර විට ඒ බිත්තර වැඩෙන බව හොයාගන්නත් පුළුවන්. **වැඩුනත් නැතත් බිත්තරයක් කියන එක හැදෙන්නේ ගන්ධබ්බයෙක් සම්බන්ධ වෙලයි.** එතැනින් තමයි වැඩේ පටන් ගන්නේ. බිත්තරයේ වැඩීම සිදුවන්නේ දෙයාකාරයකින්. **''ඒකජංවා ද්විජං වාපි''** කිව්වේ ඒකයි. **ජීවියා එක අවස්ථාවකදී සම්පූර්ණ නොවී අවස්ථා දෙකකදී සම්පූර්ණ වෙන්න පුළුවන්.** බිත්තරය ඇතුළෙ වැඩෙන්නේ පළමු ජනිතයා. බිත්තරයෙන් පැටවා බිහිවීම තමයි දෙවැනි ජනිතයා. (දළඹුවත් එහෙමයි. දළඹුවා කියන්නේ පළමු ජනිතයා. කෝෂයක් හදාගෙන එන දෙවැනි ජනිතයා තමයි සමනලයා. බිත්තරය හැදීමෙන් එන ගන්ධබ්බයා තමයි දළඹුවා වෙන්නේ. ඒ තමයි පළමුව සිදුවන ඔක්කන්තිය.) සමහර වෙලාවට **බිත්තරයට කිකිලියගේ සම්බන්ධයක් නැතිවත් උෂ්ණත්වය ලැබිල පැටව් එළියට එන ක්‍රමයක් තියෙනවා.** මේ වගේ බිත්තරවලින් පැටව් එළියට එන විවිධ ක්‍රම රටාවල් තියෙනවා. තවද උපන් මනුෂ්‍යයාගේ ගති ගුණ, ක්‍රියාකලාප වෙනස් වෙනකොට දෙවැනි ජාතියක් හැටියට සලකන ක්‍රමයකුත් තියෙනවා. ඒක මීට අදාල නෑ.

කළලයක් හටගැනීමේදීත් විවිධ ක්‍රම රටාවල් තියෙනවා. **කුකුළෙක් හඬලන ශබ්දයට කිකිලිය බිත්තර දමන අවස්ථා තියෙනවා.** එතකොට කොහොමද ස්ත්‍රී පුරුෂ සම්බන්ධය වෙන්නේ? "මාතා පිතරෝච සන්නිපාතා'' කියන මව්පිය එකතුවීම ශබ්ද ස්පර්ශයෙන් වෙන්නත් පුළුවන්. ඒක බොහෝ කොට සතුන් අතර සිද්ධ වෙන සම්බන්ධයක්. තවත් ක්‍රම තියෙනවා. උදාහරණ විදිහට මොණරා පිල් විදහාගෙන නටනකොට ඒ සතාගෙන් පිටවෙන ධාතු ගැහැණු සතා මුඛයෙන් අරගෙනයි ගැබ් ගන්නේ. ඒක තමයි ගැබ් ගැනීමට අවශ්‍ය කරන ආහාරය. එහෙම නැතිව උන්ගේ සංවාසය එකතුවීමකින් නෙවෙයි සිද්ධ වෙන්නේ. මේ වගේ **හඬ අහලා ගැබ්ගන්නා ක්‍රමය සතුන් අතර සුලභ වුනත් මිනිසුන් අතර සිද්ධ වෙන්නේ අති දුර්ලභවයි. නමුත් ඒක විද්‍යාවට අහුවෙන්නෙ නෑ.** වැඩිය ඕන නෑ, ස්ත්‍රියක් පුරුෂයකු වීමත්, පුරුෂයකු ස්ත්‍රියක් වීමත් විද්‍යාවෙන් පිළිගත්තේ මේ ඉතා මෑත කාලයේදි. නමුත් අදින් වසර දෙදහස් පන්සීයකටත් පෙර බුදුන් වහන්සේ වැඩ හිටපු කාලයෙත් මේ වගේ දේවල් සිද්ධ වෙච්ච බවට සාක්ෂි තියෙනවා. **භික්ෂුවක් භික්ෂුණියක් වූ අවස්ථාත්, භික්ෂුණියක් භික්ෂුවක් වූ අවස්ථාත්** දේශනාවල සඳහන් වෙනවා. **ඒ ආකාරයට ලිංග විපර්යාසයන්ට ලක්වූ භික්ෂු භික්ෂුණීන්ට අදාල විනය නීතීන් පවා බුදුන් වහන්සේ විසින් පනවා තියෙනවා.** ඒ වගේම සමහර පණුවො ඉන්නවා, තනි පණුවා තමයි ස්ත්‍රී පුරුෂ දෙදෙනාගේම කාර්ය සිද්ධ කරන්නේ. උගේ ඇගේ **ස්ත්‍රී පුරුෂ ලක්ෂණ දෙකම පිහිටල තියෙනවා. මේ ලක්‍ෂණ දෙකම තියෙන (ද්විලිංගික) කිකිලියොත් ඉන්නවා.** හැබැයි ඒ ලක්‍ෂණය හැංගිලයි තියෙන්නෙ. ඒවා අවස්ථානුකූලව මතුවෙලා එන්න පුළුවන්.

කිකිලියකගේ බඩේ බිත්තර හැදෙන ක්‍රම රටාවක් තියෙනවා. කොහොමද ඒ බිත්තර බඩේ හැදුනේ? කිකිලිගේ නියපොතු, පිහාටු කියන්නේ උගේ ශරීරයේ තියෙන කොටසක්. ඒවා හටගෙන වැඩෙන්න තවත් කාගෙන්වත් ආධාරයක් අවශ්‍ය නෑ. කිකිලි කන බොන ආහාරයත් සම්බන්ධ කරගෙන, කිකිලි ජනිත වූ කර්ම ශක්තියෙන්, ඒ හටගත්තු ජාතියට අවශ්‍ය කරන අංගෝපාංග වශයෙන් නියපොතු, පිහාටු ආදිය හැදෙනවා. කිකිලි පහරන මළපහ පවා උෟට අයිති කොටසක්. වැඩියෙන් කෑවොත් පිට කරන මළපහ කොටසත් ලොකු වෙනවා.

නමුත් **බිත්තරය කියන්නේ** එහෙම එකක් නෙවෙයි. ඒක **කිකිලිගේ අංගෝපාංගයක් නෙවෙයි,** පැහැදිලිවම අමතර කොටසක්. බිත්තරයක් නිෂ්පාදනය කිරීමට කිකිලි ගන්නා ආහාරයෙන් පෝෂණය ඇදගැනිමට යම්කිසි ශක්තියක් (කර්ම ශක්තිය) තියෙනවා. බිත්තරය කියන්නේ ඒ ශක්තිය තුළින් වැඩෙන එකක් මිසක් කිකිලිට ශක්තියක් නෑ බිත්තරය පෝෂණය කරන්න. දාපු බිත්තරය රකින එක විතරයි උෟට කරන්න පුළුවන්. ඒක කිකිලිගේ ශරීරයේ ස්වභාවයකුත් නෙවෙයි, බිත්තරය පෝෂණය කරන්න සිද්ධ වෙන මූලික ධර්මතාවයක්. බිත්තරයක් හටගත්ත නම් ඒක හටගන්නකොටම යම් ක්‍රමවේදයකටයි හටගන්නේ. ඒක කර්ම ශක්තියේ ප්‍රභවයක්. කර්මය නිසා යම්කිසි සත්වයෙකුගේ සම්බන්ධයෙන් සිද්ධ වන දෙයක් නිසාම තමයි ඒක ඒ විදිහට හටගන්නේ. සත්ත්වයෙක් වශයෙන් හටගැනීමට අවශ්‍ය කරන ඕජස කිකිලිගේ ශරීරයේ තියෙන පෝෂණයෙන් ඒ සත්ව ස්වභාවය, කර්මජ ප්‍රභවය නිසා ඇදල අරගෙන සකස් වෙනවා. එහෙම නැතිව දැනගෙන කවුරුවත් බිත්තරය හදනව නෙවෙයි.

මෑතකදී සිදු කරපු විද්‍යා පර්යේෂණවලිනුත් මේ කාරණය ඔප්පු වෙලා තියෙනවා. **කිකිලියන්ට දෙන ආහාරවල අඩංගු සියලුම කැල්සියම් කෘතීමව ඉවත් කරල, කැල්සියම් නැතිව උන්ට ආහාර සපයලත් උන් දාන බිත්තරවල කැල්සියම් සහිත කටුව හටගෙන තියෙනවා.** නමුත් අද බිත්තර කටුව හැදෙන්න කියල කිකිලියන්ට සිප්පි කටු වගේ කැල්සියම් අඩංගු ආහාර දෙනවා. නමුත් මේ පර්යේෂණයෙන් ඔප්පු වෙනවා, බාහිරින් කැල්සියම් ලැබුණත් නැතත් කැල්සියම් සහිත බිත්තර කටුව හැදෙන බව. එතකොට **ඒක කෙරෙන්නේ විද්‍යාවට හසු නොවන කර්ම ශක්තියෙන්.**

ඊළඟට මේ **බිත්තරය මහත පැත්තෙන් බැලුවොත් බිත්තර කටුවෙන් ඇතුලේ එක්තරා සිවියකින් වටවෙලා යම්කිසි වායු ප්‍රමාණයක් ගැබ්වෙච්ච පුංචි ඉඩ ප්‍රමාණයක්** දකගන්න පුළුවන්. ඔක්සිජන් වායුව එක්තරා මට්ටමක් එතන තියෙනවා. බිත්තරයක් කඩන වෙලාවක හිමින් සීරුවේ පරීක්ෂා කරල බැලුව නම් ඒක පේනවා. මේක ගම් බිත්තරවල විතරක් නෙවෙයි ජීවයක් නැතැයි කියමින් කෑගහන ෆාම් බිත්තරවලටත් පොදු දෙයක්. ඊට යටින් තමයි සුදු මදය, කහ මදය කියන ශ්‍රාවයන් වෙන වෙනම පිහිටල තියෙන්නේ. මේ ටික හැදුනෙ කොහොමද? ඇයි අර විදියට වායුව පොඩ්ඩක් ඉතිරි වුනේ? බිත්තරය ඇතුලේ පැටවා හැදිල එනකොට උෟට පොඩ්ඩක් හුස්ම ගන්න දඟලන්න ඕන. හැදිච්ච පැටියා හුස්මක් අරගෙන තමයි එහාට මෙහාට පැනල ඇඟ හොලවන්නේ. උෟට ඒ වෙලාවෙ හුස්ම ගන්න වාතය තිබුනෙ නැත්නම් බිත්තර කටුවට හිරවෙලා ඒක ඇතුලෙම මැරෙනවා. ඔන්න ඕකට තමයි ඔය වායුව පොඩ්ඩක් වෙන්වෙලා තියෙන්නේ. හැදිච්ච ගමන්ම උගේ හෘද ස්පන්දනය ක්‍රියාත්මක වෙලා ආස්වාස ප්‍රස්වාස කරන මොහොතක් එනවා. ඒ මොහොත වෙනකොට උෟ පෝෂණය වෙලා වැඩිල ඉවරයි. දැන් කටුවෙන් එළියට එන වෙලාව. හොටෙන් ඇනලයි කටුව බිඳගන්න ඕන. ඒ සඳහා හුස්ම ටිකක් අරගෙන පෝෂණය වෙන්න ඕන. නැත්නම් ඒ ශක්තිය ගන්න බෑ. ඔය වායු පොඩ්ඩෙන් තමයි ඒ මොහොතේදී හුස්ම අරගෙන හොටෙන් ඇනලා කටුව හිල් කරගෙන වායුව අවශ්‍ය ප්‍රමාණයට ඇතුලට ඇදල ගන්නෙ. ඊට පස්සෙ උෟ හිමින් හිමින් බිත්තර කටුව බිඳගෙන එළියට එනවා.

දැන් මේ කියපු කාරණාවන් කිකිලි කරන දේවල් නෙවෙයි. මේ වගේ කිකිලිගේ බඩේ ඉඳලම ඒ ජාතියේම

සත්ත්වයෙක් ලෙස ගොඩනැගෙන්න අවශ්‍ය කරන කොටස් ටික එකතු වෙලා බිත්තරය හැඩයකට හැදෙනවා. අර ශ්‍රාවය සිවියකින් වැහිලා, කටුවකින් සකස් වෙලා ඒ විදියට පූර්ණව සකස් වුනේ කොහොමද? කවුද ඒක කරල දුන්නේ? ලෝකයේ යමක් යම් ආකාරයකින් සිද්ධ වෙනව නම්, සතෙක් හැදීමට අවශ්‍ය කරන දේත් ඒ විදියටම සිද්ධ වෙනවා. එහෙම හැදිච්ච බිත්තරය තමයි රැක්කෙව්වම පැටව් හැදෙන්නේ. නමුත් සමහර බිත්තර රැක්කෙව්වම පැටවු හැදෙන්නෙ නැති එකයි මේ ප්‍රශ්නෙ වෙලා තියෙන්නේ. හැදෙන්න අවශ්‍ය කරන කොටසක් ඒකෙ අඩුවෙලා තිබුනොත්, තියෙන ටිකෙන් විතරක් හැදෙන්න පුළුවන් ප්‍රමාණය හැදෙනවා, වැඩෙන්න තියෙන කොටසට මදි වුනොත් එතනින් වැඩීම නවතිනවා. (ඔරොත්තු නොදෙන මට්ටමට ආවොත් මැරිල යනවා.) එතකොට ඉතුරු ටික හැදෙන්න විදියක් නෑ.

යම් මට්ටමකට හැදෙන්න අවශ්‍ය කරන්නා වූ පෝෂණය සත්ත්වයෙකුට ලැබෙන කල් ඒ මට්ටමට පෝෂණය වෙලා හැදෙනවා. ඔය පෝෂණය වෙන අතරතුරදී ඊට අවශ්‍ය කරන ආහාරයේ හිඟයක් ඇතිවුනොත් මොකද වෙන්නේ? ඒ සතා ඒ ප්‍රමාණයට වැඩිල නොමැරී ඉතිරි වෙනවා. ඔරොත්තු නොදෙන මට්ටමට ආවොත් තමයි එතනින් මැරිල යන්නේ. මැරුණොත් එතැන් පටන් කුණු වීම ආරම්භ වෙනවා. දවසක් යනකොට කුණු වෙනවා. ඉතින් ඇතුලෙ ජීවයක් නැතිව බිත්තරයක් හැදුනොත් එහෙම දවසක් යනකොට කුණු වෙන්න ඕන. නමුත් ජීවය තියෙන නිසා තමයි බිත්තරය කුණු නොවී රැකෙන්නේ. ජීවයක් තියෙන තාක් එහෙම ස්වභාවයක් බිත්තරයට තියෙනවා. ඒ නිසා තමයි බිත්තරයක් අධිසීතකරණයක හෝ වතුර යට පැය කිහිපයක් තියල නැවත අරගෙන එළියෙ තිබ්බොත් දවසක් දෙකක් ඇතුලත කුණු වෙන්නෙ. මොකද ඒ තුළ පරිසර සාධක වෙනස් වෙලා ඌට හුස්ම ගන්න බැරි නිසා හෝ අධික සීතලට ඔරොත්තු නොදීම නිසා එතනින් මැරිල යනවා. අද සමාජයේ බිත්තරයක් කුණු වෙලාද නැද්ද කියල බලාගැනීමට යොදාගන්නා ක්‍රමයක් තමයි බිත්තරය ජලය මතුපිට පාවෙනවද ගිලෙනවද කියල බැලීම. ජලය මතුපිට පාවෙනව නම් එය නරක් වූ බිත්තරයක් ලෙසට තීරණය කරනවා. එහෙනම් ජලය යට ගිලුනොත් එයින් අදහස් කරන්නේ එය නරක් වී නැති බවයි. මිනිහෙක් හෝ සතෙක් වුනත් මැරුණොත් තමයි ජලය මතුපිටට ඇවිත් මළකුණ පාවෙන්නේ. පණ තියේ නම් පා වෙන්නෙ නෑ යට යනවා. මේ අනුව බිත්තරය ජලය තුළ ගිලීමෙන් එහි ජීවයක් තියෙන බව ඔප්පු වෙනවා.

සතෙකුගේ වුනත් බිත්තරයක් දැමීමේදී මූලික වශයෙන් ඒක හැදෙන්න අවශ්‍ය කරන කොටසක් තියෙනවා. කුකුළෙක් හඬලන සද්දෙටත් එසේ අවශ්‍ය කරන කොටසකින් තමයි බිත්තරයේ කළලය සකස් වෙලා එන්න හේතු වෙන්නේ. මේ වගේ විවිධ ක්‍රමවේද තියෙනවා. නමුත් අපි හිතන් ඉන්නෙ එක ක්‍රමයයි.

ගැබක් තුළ සතෙක් හටගැනීමට නම් මව්පිය දෙදෙනෙකුගේ එකතුවීම, මව ඍතු ඇත්තියක් වීම හා ගන්ධබ්බයකුගේ ඔක්කන්ති වීම කියන කාරණා තුනක් සිද්ධ



විය යුතුයි කියල ධර්මයේ පෙන්වනවා. මෙහිදී මව ඍතු ඇත්තියක් වීම කියන්නෙ ජීවයක් හටගැනීමට අවශ්‍ය පරිසර සාධක ගැබ තුළ සකස් වීමයි. ඒ සකස්වීම විවිධ සතුන් අතර විවිධාකාරයෙන් සිද්ධ වෙනවා. මේ නිසා ස්ත්‍රීන්ගේ (මනුෂ්‍ය) මසකට වරක් ගැබ පිරිසිදු වී සකස් වීමේ ක්‍රියාවලිය වෙනත් සතුන්ට ඒ ආකාරයෙන් අදාල කරගන්න බෑ. ඒක සතාගෙන් සතාට වෙනස් වෙනවා.

මීළඟට ඉහත කියපු ආකාරයට මව් පිය දෙදෙනා එකතුවීමේ කාරණය අදාල නොවන අවස්ථාත් තියෙනවා. උදාහරණ විදිහට පොක්කරසාති නම් බමුණා නෙළුම් මලක උපන් බවත්, අම්බපාලි නම් ගණිකාව මව් පිය සම්බන්ධයකින් තොරව උපන් බවත් දහමේ සඳහන් වෙනවා. ඒ වගේම මව් පිය දෙදෙනෙකුගේ එකතුවීම කියන කාරණයත් හැම විටම කායිකවම සිද්ධ වීම අවශ්‍ය නෑ. ඒ එකතුවීම රූපයෙන්, ශබ්දයෙන්, ගන්ධයෙන්, රසයෙන් හෝ ස්පර්ශයෙන් සිද්ධ වෙන්න පුළුවන්. සමහර කුකුල් ගොවිපලවල්වල පුංචි පුංචි කොටුවල වෙන් කරල හිරකරල තියාගෙන ඉන්න කිකිලියන්ට හඬලන ශබ්දය ඇහෙන්න, හඬලන කුකුලෙක් පේන තෙක් මානයක තියල තියෙනවා. ඒ අවස්ථාවේදී හඬලන ශබ්දය මුල් කරගෙන බිත්තර දැමීමට අවශ්‍ය කරන්නාවූ මූලික හටගැනීම සිද්ධ වෙනවා. මේ එක ක්‍රමයක් විතරයි. (කුඩා ළදරුවන් සිටින කිරි මව්වරුන් දරුවා ගෙදර තියල ගමනක් ගියාම, තවත් දරුවෙක් අඬන හඬ ඇහෙනකොට මවගේ තණපුඩුවලින් කිරි වැක්කෙරෙන අවස්ථාත් තියෙනවා. දරුවාගේ හඬට මවගේ කිරි නිපදවන සෛල, ස්නායු පද්ධති ක්‍රියාත්මක වන ආකාරයත් මීට සාධකයක්.)

හැබැයි බිත්තර දාන වයසේ ඉන්න කිකිලියන්ට මේ වගේ කුකුල් හඬක් ඇහෙන්න නොදී වෙන් කරල තිව්වත් උන් බිත්තර දාන අවස්ථා තියෙනවා. එතකොට ඒ දාන්නෙත් ජීවයක් හටගත් පසුවයි. මොකද එතැනදී කුකුළෙක්ගේ සම්බන්ධයක් නැතිනම් තනි කිකිලියක-ගෙන්ම බිත්තර ගැබ් ගන්න අවශ්‍ය ශ්‍රාවය නිෂ්පාදනය වෙනවා. එතකොට ඒ කිකිලියට ස්ත්‍රී පුරුෂ ගති ලක්ෂණ දෙකම පිහිටනවා. එහෙම එක කිකිලියක් හිටියත් මුළු කිකිලි කොටුවටම සෑහෙනවා. සතුන්ගේ කර්ම ශක්තියෙන් තමයි ඒක සිද්ධ වෙන්නේ. හැබැයි ඒක විද්‍යාවට අහුවෙන්නෙ නෑ. ඒ නිසා තමයි ගොවිපලවල්වල ඇති කරන කිකිලියන් කුකුලන්ගේ සම්බන්ධයක් නැතිව වෙන් කරල තියල දාන බිත්තරවල ජීවයක් නෑ කියල කියන්න පුරුදු වෙලා ඉන්නෙ. එහෙම කියල ඒකට නමකුත් දානවා බෞද්ධ බිත්තර කියල. ඉතින් අපි නොදැන හිටියත් මේ වගේ විවිධාකාර ක්‍රමවේදයන්ගෙන් ජීවීන් ගැබ් ගැනීම සිද්ධ වෙනවා. එකම ක්‍රමයකින් නෙවෙයි සිද්ධ වෙන්නේ.

මේ කාරණය උපමාවකින් පැහැදිලි කරන්න පුළුවන්. යම්කිසි කුඹුරක නියරක් බැඳල තියෙනවා. ඒ නියරේ උස තැනක් තියෙනවා. ඒ උස් තැන පෙන්වල අහනවා, මෙන්න මේ වගේ තැන්වලින් වතුර ගලා යනවා දැකල තියෙනවද කියල. නෑ මෙතනින් නම් නෙවෙයි, අන්න අර වක්කඩ ළඟ පහත් වෙච්ච තැනින් නම් වතුර ගලාගෙන යනව අපි දැකල තියෙනව කියල උත්තර දෙනවා. මොකද පහත් තැනින් ජලය ගලා යාම තමයි ලෝකයේ පේන්න තියෙන ස්වභාවය. නමුත්

යම්කිසි අවස්ථාවකදී ඒ පහත් තැන් ආවරණය කළා නම්, වැහුව නම් දැන් අර උස් තැනින් වතුර ගලාගෙන යන්නෙ නැද්ද? එකතු වෙන වතුරට යන්න තැනක් නැත්නම්, එදා වතුර ගලා නොගිය උස් තැනිනුත් දැන් වතුර ගලාගෙන යනවා. මේ වගේ යම් **සත්වයෙක් හටගැනීමට අවශ්‍ය කරන පිරිසිදු පැහැදිලි පහසු පරිසරයක් තියෙනව නම්, ඒක තියෙන තාක් සංජාතිකයා හෙවත් ගන්ධබ්බයා එතැනට ඔක්කන්ති වෙලා (ඇදී ඇවිත්) සතෙක් වශයෙන් පහළ වෙනවා. හැබැයි පහළ වෙන්න ඉන්න සත්වයාට ඒ ස්ථානය වැහිල ගියොත්, ඊළඟට සත්වයා හැදෙන්න තවත් ක්‍රමයක් හටගන්නවා. ඒ ක්‍රමය ඊළඟට ක්‍රියාත්මක වෙලා උප්පත්තිය හටගන්නවා.** මේ විදියට ජලාබුජ උප්පත්තියක් හටගැනීමට අපහසු තැන අණ්ඩජ උප්පත්තියක් හටගන්නවා. මේ එක ක්‍රමවේදයක හැටි.

සත්ත්වයා කුරුල්ලෙක් විදියට හැදිල තියේ නම්, මව් සතාට හැකියාවක් නෑ පණුවෙක් වගේ, එහෙමත් නැත්නම් පොඩි එකෙක් වගේ පෝෂණය කරන්න. ඌට තියෙන්නේ එක්තරා මට්ටමකට හැදිච්ච සතෙකුට කන්න ටිකක් දීල පෝෂණය කිරීමේ හැකියාව විතරයි. එහෙම සත්ව කොටස් බිත්තර දාල හැදෙන සතුන්ගෙන් තමයි පෝෂණය වෙන්නේ. ඊළඟට ඇඟ ලෙව කාලා හැදෙන සත්තු ඉන්නවා. ඒ ක්‍රමය මගින් උන්ගෙ ඇඟේ තියෙන කුණු ජරාව ඉවත් කරන්න පුළුවන්. බල්ලො බලල්ලු වගේ සතුන්ට එහෙම කරන්න පුළුවන්. නමුත් හොට තියෙන සතුන්ට එහෙම කරන්න බෑ. අර හැදිච්ච පැටියා ඒ ජාතියේ ලපටි එකෙක් වශයෙන් හැදුනොත්, පෝෂණය කරන්න ඒ සතාගෙ කය ගැලපෙන්නෙ නෑ. එහෙම සතුන්ට, පැටව් දානවා වෙනුවට අර විදියට බිත්තරයක් ඇතුලෙ පෝෂණය වෙලා, ඌට තනියෙන් හොයාගෙන කන්න පුළුවන් මට්ටමට මෝරලා කටුව පලාගෙන එළියට එන්න පුළුවන් ජාතියේ ක්‍රමවේදයක් හැදෙනවා. මේ නිසා යම්කිසි සතෙකුට පුංචි කාලයේ ඉඳල පෝෂණය කරන්න පුළුවන් හැකියාව සහිත කායික ක්‍රමයක් තියෙනව නම්, ඒ මට්ටමේ සතුන්ට ජලාබුජ උප්පත්තිය එනවා. එතකොට බිත්තරවලින් හැදෙන්න ඕන නෑ.

නමුත් සතෙක් උපදින්න ඔය කියන ක්‍රම දෙකටම නැති කොට්ඨාශ ඉන්නවා. ඒ අයට පැටවෙක් හදාගන්න බලාපොරොත්තුත් නෑ. එහෙම ක්‍රමයකින් දරුවෙක්, පැටවෙක් හදාගැනීම දුකක් කරදරයක් බව දකිනවා. ''මට වැඩක් නෑ මෙහෙම ඉඳල දරුවො හදාගෙන, වෙන්කරගෙන හිර කරගෙන මගෙ මගෙ කියල ඉන්න ඒවායින් මට වැඩක් නෑ.'' මේ ආදී වශයෙන් අදහස් තියෙනකොට ඕපපාතික උප්පත්තිය ඒ අයට හිමි වෙනවා. නැවත වාරයක් දරුවෙක් බඩට ඇවිත් වඩාගෙන හදාගෙන මහන්සි ගන්න ක්‍රමයක් නැති නිසා, හැදිච්ච ශරීරය හෝ අභ්‍යන්තර පරිසරය හෝ කර්ම පරිසරයේ විපාක පරිසරය හැදිල තියෙන්නෙ ඊට අනුකූලවයි. ඒ නිසා ඒ අයට ඕපපාතික උප්පත්තිය එනවා. මේ තමයි උප්පත්ති වෙන විවිධ ක්‍රම රටාවල්.

යම්කිසි විදියකින් ලෝකයට බැඳිල රැඳිල ඉන්න පුද්ගලයෝ ඒ ඒ ගති ලක්ෂණ අනුව, මේ මගේ පුතා, මගේ දරුවා... ආදී වශයෙන් ගන්න කොට ඒ අයගේ ලක්ෂණයක් තියෙනවා. අර කියන්නා වූ කිරි දීල හදල පෝෂණය කරන විදියට එබඳු වන්නා වූ හැකියාවක් ඇති, ශරීරයක් ඇති ලොකු සතාගේ ගැබට ඇවිදින් පැටවෙක් බිහි වෙනවා. මේ තමයි ලෝක ධර්මතාවයෙන් හැදෙන ක්‍රමවේද. **සමහර වෙලාවට හැදෙන සතාට හැදෙන්නෙ නැති වෙන්න හෝ ටිකක් හැදිල මැරෙන්න කර්ම වේගවලින් ක්‍රමවේදයන් යෙදෙනවා. මොකක් නිසාද? ''ඔකෙ සතෙක් නෑ, ඔක කෑවට කමක් නෑ, ඔකෙ සතෙක් නෙවෙයි පෝෂණයක් විතරයි තියෙන්නෙ...'' මේ ආදී වශයෙන් ලෝකයාට කියල දීපු ක්‍රමයක් තියෙනවා. මෙහෙම කියල ලෝකයා රවට්ටපු උදවිය, ඇත්ත දැක්කෙ නැතිව තමන්ගේ මතය අරගෙන ඒකෙන් ලෝකයා රැවැට්ටුව නම්, ඒ අය හැදෙන සත්ත්වයන්ට බොහෝ අවැඩ කළා වෙනවා.** මේ වගේ තමන්ගේ මතයට අනුව තමන් හිතන එකෙන් මත ප්‍රකාශ කරල මේකෙ සත්‍යය දකින්නෙ නැතිව, ඔය ජාතියේ කතා කිව්ව කෙනා ඇත්තක් දැකල කතා කළා නෙවෙයි. ඔහුගේ දෘෂ්ඨිය සත්‍යයක් නොවන නිසා යම්කිසි ආකාරයකින් ඔහුට තිබිච්ච දෘෂ්ඨිය මිත්‍යා දෘෂ්ඨියක් වෙනවා. ඔහු කොහොමද ඔක නැහැ කියන්නේ? මොන ක්‍රමයටද නැහැ කියන්නේ? ඔහු දෙන හේතු මොනවද? ඔහුට නුවණක් තියෙනවද ඔකෙ සතෙක් නෑ කියල දැනගන්න? බලනකොට එහෙම නුවණකුත් නැත්නම්, එහෙනම් ඔහු ඒක ස්ථිර කරල කියන්නෙ ඇයි? බලනකොට අර **බිත්තරයේ තියෙන ලොඳය (මදය) කා ගන්න තමන්ට තියෙන ආසාව එහෙම නැත්නම් ඒක විකුණගෙන බඩ වඩාගැනීමේ ආසාව තමයි මුල් වෙලා තියෙන්නේ.**

බැරි වෙලාවත් ඔය බිත්තර, කබර බිත්තර වගේ සැර වුනා නම්, කෑවොත් මැරෙනව නම් එහෙම, අපට ඔය බිත්තර ප්‍රශ්ණයක් එන්නෙ නෑ. එහෙනම් බිත්තරවල සතෙක් ඉන්නවද නැද්ද කියල හොයන්න යන්නෙත් නෑ. ෆාම් බිත්තරවල සත්තු ඉන්නවද නැද්ද කියල හොයන්න යන්නෙත් නෑ. ඔය ඔක්කොම තියෙන්නෙ මොකටද? එක්තරා ආසාවක් තියෙනවා බිත්තර කන්න නැත්නම් ඒක විකුණගෙන කන්න. ඒ ආසාවට අවශ්‍ය කරන ක්‍රමවේද තමයි හොයන්නේ. ඉතින් මොකද කරන්නෙ, අර වගේ ඥානයක් නැති පුද්ගලයො ආසාවට වහල් වෙලා ''ඕව කෑවට කමක් නෑ, කොස් ඇට තැම්බුවා වගේ, ඔකෙ සතෙක් නෑ, සත්තු කියන්නෙ ඔහොම එවුන්ද? උන්ගෙ ඔලුව තියෙන්න ඕන, අත පය තියෙන්න ඕන. සත්තු කියන්න ඇස, කන, දිව, නාසය, ශරීරය ඔක ඇතුලෙ තියෙනවද? බිඳල බලපල්ලකො එහෙම එකක් තියෙනවද කියල. ඔය ශ්‍රාවයක් විතරයි ඔක ඇතුලෙ තියෙන්නේ. ඔක සතෙක් වෙන්නෙ කොහොමද?...'' මේ ආදී වශයෙන් මේ ජාතියේ තමන් දන්න දේට අනුව මොනව හරි කියනවා.

**තමා දකින්නේ නැති දෙයක්, ඒ වගේම එසේ නොවන, සතෙක් වන දෙයක් සතෙක් නෙවේ කියල කිව්ව නම්, ඔහුගේ දෘෂ්ඨිය මිත්‍යා දෘෂ්ඨියක්. ඔහුගේ යම් කල්පනාවක් ඒ සඳහා යෙදුනද, ඒ මිත්‍යා සංකල්පයක්. ඔහු ඒකෙ සතෙක් නෑ කියල කිව්වද, ඒක මිත්‍යා වාචාවක්. ඔක බින්දට කමක් නෑ කියල ක්‍රියාත්මක වුනාද, ඒ මිත්‍යා කම්මන්තයක්. ඔහු ඒකෙන් ජීවත් වුනා නම්, මිත්‍යා ආජීවයක්. ඔහු ඒකට ක්‍රියාත්මක වෙලා ඒක එහෙමයි කියල පෙන්වන්න උත්සාහ කළා නම්, එහෙම ජීවත් වෙන්න කටයුතු කරන්න, බිත්තර එකතු කරගන්න, සත්තු හදලා එහෙම කරන්න උත්සාහ කළා නම් ඒක මිත්‍යා වායාමයක්. ඔහු හිතා ඉන්නවා නම් මේක හරියි, සත්‍යයි කියල ඔහුට තියෙන්නෙ මිත්‍යා සතියක්. වැරදි වූ පාපී වන්නා වූ මාර්ගයක් ඔහුට සමය වශයෙන් ඇදිල තියෙනවා. ඔහුගේ සමය පාප සමයක්. ඔහු මිත්‍යා සමාධියක් ලබල අසත් පුරුෂයෙක් වෙලා ඉන්නවා.** ඔහු ඊට අනුකූල වන්නා වූ උප්පත්තියක් ලබනකොට ඔහු බැඳිල හිටියේ මොකටද? අවිද්‍යා, සංඛාර, තණ්හා, උපාදාන, භව කියන අර ආහාරයේ කෑදර කමට අවිද්‍යාවෙන් සංඛාර ගොඩනගල, එහි තණ්හාවෙන් ඇලිල, උපාදානයෙන් බැඳිල, ඒ බවට පත්වෙලා ඉඳල භව පච්චයා ජාති කියන කර්ම භවයෙන් ඒක විඳින්න උප්පත්ති භවයේ ජාතියට යනවා. ඉන්පසු ඊට අනුකූල විඤ්ඤාණ, නාමරූප, සලායතන, ස්පර්ශ, වේදනා ලබන්නා වූ තැනට ගිහින් **ෆාම් බිත්තරයේ උප්පත්තිය ලබනවා. කවුරුවත් දැක්කෙ නෑ වෙච්ච දේ.**

**දැන් තමන් දීල තියෙනව මතයක්, කාපල්ලා බෞද්ධ බිත්තර ඕවායෙ සත්තු නෑ කියල.** ඉතින් ඒ අහපු උදවිය මොකද කරන්නේ? බිත්තරේ ගත්ත තැම්බුවා, ගන්ධබ්බයා නැවත වාරයක් කිකිලිගේ බඩේ බිත්තරයට සම්බන්ධ වෙනවා.

නැවතත් ඒ මට්ටමට හැදිල ආවම බිත්තරය දමපු ගමන්ම නැවතත් ගෙනිහින් තම්බනවා. කැරකිලා ගිහින් ගන්ධබ්බයා නැවතත් බිත්තරයකට සම්බන්ධ වෙනවා. **එක වචනෙට කර්ම ශක්තිය තව කෝටි වාරයක් ගියත් ඉවර වෙන්නෙ නෑ. නමුත් මිනිස්සු ඒක දකින්නෙ නෑ.** එහෙම දෙයක් වෙනවද කියල තේරෙන්නෙත් නෑ. නමුත් ඔය **ෆාම් බිත්තරයට ගිහින් කොහොම හරි තම්බල දාන වාරයක් වාරයක් පාසා, කඩල පොඩි කරල දාන වාරයක් පාසා එතැනින් මැරි මැරී ගිහිල්ල අර ගන්ධබ්බයා** ''ගන්ධබ්භා අවක්බන්ති හෝති'' කියල **කිකිලිගෙ බඩට කොච්චර වාරයක් හරි ඉවරයක් නැතිව ඔක්කන්ති වෙනවා.** (දිවැස් පහළ වෙලා තියෙනවනම් මේ කාරණය තමන්ටම දැක බලාගන්න පුළුවන්) දවස් 15 ක් 20 ක් විතර යද්දී බිත්තරය වැඩෙනවා. වැඩුනාම දානවා. දාපු ගමන් මිනිස්සු තම්බගෙන කනවා. ඒකෙන් මැරිල ගිහින් නැවත වාරයක් කිකිලිගෙ බඩට ඔක්කන්ති වෙනවා. නැවතත් බිත්තරය හැදෙනවා, පෝෂණය වෙනවා. පෝෂණය වෙවී **කර්ම ශක්තිය කවදද ගෙවෙන්නෙ, කොයි කාලෙද ගෙවිල ඉවර වෙන්නෙ කියල කියන්න බෑ. ගෙවෙන කල් බිත්තර අඩු වෙන්නෙත් නෑ.** අඩුවක් නැතිව බිත්තර දානවා. ඒ වගේම අඩුවක් නැතිව ගෙනත් ගෙනත් කනවා. කාවද කන්නෙ? **කන්න කියපු එවුනුත් ගිහින් ඒ බිත්තරවලම ඉපදිලා අනුන්ට කන්න ගෝචර වෙනවා.**

මෙහෙම යනකොට එන්න එන්නම ඔය කියන බිත්තර ලෝකය වැඩිවෙනවා. බ්‍රහ්ම ලෝකයෙන් මනුෂ්‍ය ලෝකයට ඇවිත් ගුණ ධර්ම ක්‍රමයෙන් පිරිහිලා මෙතනින් තිරිසන් ලෝකයට යනවා. එහෙම පහළ ලෝකයන් දක්වාම ගිහින්, කෘමීන්ගෙ ඉඳල ක්ෂුද්‍ර ජීවීන් දක්වාම පහළට යනවා. ඔහොම ගිහින් මේ ලෝක විනාශය වෙන්නෙ කවදද, එදාට යනකල්ම සත්ත්වයෝ සතර අපායට පල්ලම් බහිනවා. තමන් මිත්‍යා දෘෂ්ඨියෙන් කරපු වැඩවලට අනන්ත දුක් විපාක විඳිමින් සතර අපායෙ ඉන්නවා. ඉතින් මොකටද මේ බිත්තර ගැන හොයන්නෙ? මොකටද මේව කන්නෙ? **තිරිසන් ගතවෙන වැඩවලට දඟලන්න අවශ්‍ය නෑ. මෙච්චර කන්න දේවල් තියෙනවා. අනුන්ගෙ බිත්තර කඩාගෙන කන්න ඕන නෑ. සාධාරණව හරි හම්බ කරගත්තු දෙයක් කාල ජීවත් වෙන්න පුළුවන්.**

ඊලඟට බිඳිච්ච බිත්තරවල ජීවයක් තියෙනවද කියන ප්‍රශ්නය එනවා. දැන් අපි මෙහෙම දෙයක් හිතමු. ඔලුව පැලිච්ච සතෙක් ඉන්නවා. ඔලුව පැලිච්ච නිසා ඊළඟට ඒකව මරාගෙන කනවා. දැන් ඒක හරිද? මේ වගේ බිත්තරය බිඳුනම ඒකෙ කොටසක් තුවාල වෙලයි තියෙන්නෙ. ඉතින් තුවාල වෙච්ච සතාව මරාගෙන කනව වගේ වැඩක් නේද මෙතන තියෙන්නෙ? අපි බලාගෙන ඉන්නවා ඌ මැරෙන කල්. හැබැයි මැරිල නම් ඒක කුණු වෙනවා. එතකොට කන්න බෑ. බිඳුන බිත්තරයේ පොඩ්ඩක් බිදිල පුපුරල තියෙනවා. දවසක් තිබුනා, ඉඹල බැලුවා ගඳ නෑ. ගඳ නම් ඌ මැරිලා. පැය 24 ක් ඉක්ම යනකොට කුණු වෙලා. ඊට පස්සෙ ඒක කන්න බෑ. **ඉතින් දවස් ගණනක් තිබුනත් තුවාල වෙච්ච සතෙක් මැරෙන්නෙ නැතුවා වගේ, ඔය කට්ට පොඩිවුන පළියට බිත්තරේ ඉන්න සතා මැරෙන්නෙ නෑ. හැබැයි ඉතින් හැදෙන්නෙත් නෑ. ඌ කර්ම විපාකයක් විඳිනවා.** දවස් ගාණක් බිත්තරේ ඇතුලෙ ඉඳල හිටන් ඒක ඇතුලෙ මැරිල යන



කාලයක් එනවා. **මැරෙනවා කියන්නෙ ගන්ධබ්බයා එතැනින් තවත් තැනකට යන එකයි. නමුත් අපිට ඒක නිගමනය කරන්න බෑ.** ''කට්ට පොඩිවුනාට පස්සෙ මේකා අහවල් දවසෙ මැරෙයි, මළාට පස්සෙ කනවා.'' එහෙම කිය කියා බලාගෙන ඉන්න, එහෙම නිගමනයක් කරන්න අපිට බෑ.

ඉතින් මොකටද මෙච්චර දඟලන්නේ? කොහොම හරි කමක් නෑ කටට රහට කන්න තමයි ක්‍රමයක් හොයන්නෙ. ''බැදල කාපුවාම හරි රසයි, තම්බල කාපුවාම රසයි, අමුවෙන් දාල කාපුවාම ඇඟට හොඳයි!'' මේ ජාතියේ විවිධාකාර දෘෂ්ඨි අරගෙන කොහොම හරි බිත්තරයක් කන්න ක්‍රමයක් තමයි හොයන්නෙ. මොනවා කරගන්නද, කොහාට යන්නද මේ දඟලන්නෙ? කල්පනා කරල බලන්න.

මේ කාරණයේදී ලංකාවේ එක්තරා ප්‍රදේශයක සිද්ධ වෙච්ච සිදුවීමක් මේ විදියට සඳහන් කරන්න පුළුවන්. එක්තරා ගෙදරක සුදු කුකුලෙක් ගෙනත් හැදුවා. හැබැයි ඌ ද්වීලිංගික කුකුලෙක්. කුකුල වගේ කරමලේ තිබුනට ඌ කිකිලියක් කියල කවුරුවත් දැනගෙන හිටියෙ නෑ. මේ සතා ගෙදර තනි කරල හද හදා ඉන්න අතරේ කැලේ ගිහින් තනියෙන් බිත්තර දැම්මා. මෙහෙම කාලයක් බිත්තර දමල, බිත්තර 15 ක් විතර දැම්මට පස්සෙ මේක ගිහින් රකින්න පටන් ගත්තා. නමුත් ගෙදර අය දන්නෙ නෑ. මොකුත් සෝදිසියක් කළෙත් නෑ. ඌ අඬලන සතෙක්. කරමලෙත් තියෙනවා. නමුත් කිකිලි. ටික දවසක් යනකොට බිත්තර ටික රැකල පැටවු 12 ක් එක්ක ගෙදරට ආවා. එතකොට තමයි ගෙදර උදවිය දැනගත්තෙ, තනි සතාගේ බිත්තරවලින් පැටවු හැදෙන ක්‍රමවේදයක් තියෙනවයි කියල. මේ තමයි ලෝකයේ තියෙන විපර්යාසයක හැටි.

දැන් මේක වුනේ කොහොමද? බිත්තරයක් රැකෙන්නෙ නැතිවෙන්න කුකුලෙකුගෙන් ලැබිය යුතු එක්තරා කොටසක අඩුපාඩුවක් තියෙනවා. බිත්තරය දැම්මත් ඒ අඩුපාඩුව නිසයි රැකෙන්නෙ නැත්තේ. මෙතනදී කුකුල් ගඳ (රසායනික සංයුතියක්) කියල දෙයක් තියෙනවා. බිත්තරය පෝෂණය වෙන්න අවශ්‍ය කරන දෙයක් ඒ ගන්ධයේ තියෙනවා. පෝෂණයට අදාල ඒ කොටස කුකුලෙකුගෙන් ලැබෙනවා. අනෙක් කොටස කිකිලිගෙ ශරීරයේ පරිවර්තනයෙන් හැදිලයි තියෙන්නේ. හැබැයි උපදින්න ඉන්න සතුන්ගේ කර්ම ශක්තියෙන් මේ කුකුල් ගඳ කියන එක ද්විලිංගික කිකිලිගෙන්ම ලැබෙන්නත් පුළුවන්. ඒක ලැබුන නම් ඔය හැදෙන්නෙ නෑ කියන බිත්තරත් රැකෙන තත්වයට පත්වෙලා පැටව් හැදෙනවා. ඒ ගන්ධබ්බයෙක් බිත්තරය ඇතුලෙ ඉන්න නිසයි. එහෙම නැතුව **ෆාම් බිත්තර කියල අමුතු ජාතියේ බිත්තර නෑ.** පුළුවන් උපක්‍රමයකින් ඔය බිත්තර කුකුළෙකුගේ ගන්ධය සහිතව රැක්කෙව්වොත් මේ කතාවේ අග මුල බලාගන්න පුළුවන්. හැබැයි මොන උපක්‍රම යෙදුවත් එසේ අඟපසඟ සහිතව බිත්තරයෙන් පැටව් එළියට පැමිණීම සිද්ධ වෙන්නෙත් ඒ ඒ සතුන්ගේ කර්ම ශක්තිය අනුවයි.

මේ නිසා එක්තරා පෝෂණයක අඩුවක් මිසක් ඇතුලෙ ☞

**සතෙක් නැතිව බිත්තරයක් හැදෙන ක්‍රමයක් නෑ. කොහොමටවත් ගන්ධබ්බයකුගේ ඔක්කන්ති වීමක් නැතුව, එහෙම ආරම්භ කරන්නේ නැතිව මුං ඇටයක් තරම් ප්‍රමාණයකටවත් ගැබක් තුල කළල බීජයක් හටගන්න බෑ. ගන්ධබ්බයෙක් ගැබට එන්නේ නැතිව ස්ත්‍රී පුරුෂ සෛල දෙකක් එකතුවන ක්‍රියාවලිය සිද්ධ වෙන්නෙ නෑ. මේක මූල ධර්මයක්.** මවුපිය දෙන්නෙක් සංවාසයේ යෙදුනත් ශුක්‍රාණු ඩිම්බාණු කියන ඉතාම කුඩා සෛල දෙක එකතු වෙලා ඒකෙන් තමයි මූලික සෛලය හටගන්නේ. ඒක ඇහැට පේන්නෙ නෑ. අන්වීක්ෂයකින් බලපුවාමයි පේන්නේ. එහෙම නැත්නම් දිවැසක් තියෙන්න ඕන. ඒ තරම් කුඩා දෙයක්. මේ සෛල දෙක එකතුවෙන්න නම් ගන්ධබ්බයෙක් ඔක්කන්ති වෙන්නම ඕන. **හැබැයි ඒකට පිරිමි සතෙක් ඉන්නම ඕන නෑ. තනි සතාගෙනුත් මේ සෛල දෙක හැදෙන්න පුළුවන්. ඒක සතුන්ට විශේෂයි.**

එතකොට මේ කියන ගන්ධබ්බයන් අප්‍රමාණයි. ඕනෑ තරම් ඉන්නවා. කර්ම ශක්තියෙන් ඊට අවශ්‍ය කරන පසුතලය හැදුනම විශාල ගන්ධබ්බ පිරිස් සුළං හමා යනව වගේ ඒ පැත්තට හඹා යනවා. එහෙම ගිහින් ඒ ගැබට අවශ්‍ය, ආවේණික, ශුද්ධ වෙච්ච හිමිකම් තියෙන ගන්ධබ්බයා හෝ ගන්ධබ්බයින් ඔක්කන්ති වුනාට පස්සෙ අනෙක් එවුන් එහෙමම ඇත් වෙනවා, ගහගෙන යනවා. ඒ තරම් විශාල ප්‍රදේශයකයි ඉන්නෙ. **මනුෂ්‍ය ගන්ධබ්බයන් බොහොම අඩු වුනත් සත්ව ගන්ධබ්බයන් අප්‍රමාණයි.** ඒ නිසා යන්තම් ඉඩක් තිබුනත්, පොකුරු පිටින් රිංගල එකාට මහ ගොඩක් හැදෙනවා. එහෙනම් කිකිලිට පැටව් හැදෙන ගති ලක්ෂණ කොච්චර නම් තියෙනවද? එක වතාවකට බිත්තර කීයක් නම් දානවද? කී වතාවක් නම් දානවද? නමුත් මනුෂ්‍යයන්ට එහෙම අවස්ථාවන් නෑ. සංවාසයේ යෙදුනු පළියට දරුවො ඉන්නවද? මේ පවුල් සංවිධාන ඇති කරගත්තේ අවුරුදු 25ක් 30ක් පමණ මෑත කාලයේදී. ඊට කලින් අම්මලා තාත්තලාට මොන සංවිධානයක් වත් තිබුනෙ නෑ. ඒ කාලයේ සමහර විට ගෙදර පුරුෂයන් තුන්දෙනයි. එක භාර්යාවයි. නමුත් සත්තු පැටව් දානව වගේ දරුවො ලැබුනෙ නෑ. දරුවො කී දෙනාද ගෙවල්වල හිටියෙ! වැඩි ගණන් හිටියෙ නෑ. බොහොම ටිකයි. සංවාසයේ යෙදුන පළියට දරුවො හැදුන නම් ගර්භාෂයවත් ඔරොත්තු දෙන්නෙ නෑ. ඉතින් **ඇයි මේ මනුෂ්‍ය සංවාසයක් යෙදුන පළියට දරුවෙක් බඩට නොඑන්නේ?** මනුෂ්‍ය ගන්ධබ්බයෝ බොහොම අඩුයි. මොකද **කුසලයක් කරල කුසල් හිතකින් හටගත් සත්වයෝ ලෝකයේ බොහොම අඩුයි. පාප බරිත සතර අපාගත සත්වයෝම වැඩියි.** මේ නිසා සංවාසයක් යෙදුනු පළියට බඩට දරුවෙක් එන්න මනුෂ්‍යයන්ට ඉඩ නැතුවට, එසැණින් ගැබ පිරෙනකල් පැටව් බිහිවෙන්න සතුන්ට ඉඩ තියෙනවා. ඒක ගන්ධබ්බයන් වැඩි නිසා සිද්ධවන දෙයක්. ගන්ධබ්බයෙක් එන්නම ඕන සතෙක් හැදෙන්න.

ඉතින් මේ කාරණයන් සලකා බලද්දී **තිරිසන් ගති කෙනෙකුට පහළ වුනොත් වසර බොහෝ ගණන් ගෙවන්න වෙනවා.** ලේසියෙන් ගොඩ එන්න බෑ. ''පෙර අඟනක් එක් එළු දෙනක හිස සිඳා... ඇය ඇඟ ලෝම ගණනේ හිස් කැපුම් ලදා...'' කියන මේ දහම් කවියෙනුත් ඒ බව සනාථ වෙනවා. මේ නිසා තිරිසන් සත්තු වර්ග බොහොමයක් වැඩියි. **මේ කුකුල් ගති හා කිකිලි ගති මිනිස්සු අතරත් බොහෝකොටම තියෙනවා.** ඒ ගති ලක්ෂණ දරාගෙන කුකුල වගේ රිංගන්න අස්සටම යන අයට ''ඕක හෙන කුකුලා, පරිස්සම් වෙයල්ලා''... ආදී වශයෙන් අදත් කියනවා. අද වුනත් ඔය සංඛාරයට කතා කරන්නේ එහෙමයි. ඔය සංඛාරයේ ගති ලක්ෂණ තමයි කුකුලගෙ තියෙන්නේ. ඉතින් සංඛාරයෙන් ජාතිය හටගන්නෙ ඔය විදියටයි. ඒ ජාතියේ එකාට හිමි ජාතිය ඒකමයි. ඕවාට තමයි පෝෂණය හොයන්නේ. කුකුල් පෝෂණය කුකුල් වැඩවලට. ඒවාටම තමයි ඒවා සම්බන්ධ වෙලා තියෙන්නේ. ඒව මෙහෙමයි කියල ඔය ක්‍රමවේදවල හැටි දකින්න ඕන. ඒව කවදාවත් සුගති මාධ්‍ය නෙවෙයි. පංච කාමයෙන් මත්වෙන සියලු මාධ්‍ය තියෙන්නෙ ඔය තිරිසන් කියන කොටසට හෝ ප්‍රේත, අසුර හෝ විනිපාතික අසුර කියන කොටසට. ඒක මිනිස්සු උගුලට අල්ලන ක්‍රමයක් මිසක් කවදාවත් සැනසිල්ලක් ගෙනත් දෙන්නෙ නෑ. ඕක කබලිංකාර (කය බලි කරන) ආහාරයක් වෙනවයි කිව්වෙත් ඒකයි.

මේ ඇස, කන, දිව, නාසය, ශරීරය කියන පහ හරියට බිලී කොකු 5 ක් වගෙයි. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන ප්‍රිය මනාප දේවල් ඒ බිලී කොකුවල අමුණන ඇමවල් වගෙයි. ඔය පහ යමකින් ලබාදෙනවද, ඒව තමයි අර බිලී කොකුවල ගහල තිබ්බ වගේ ගිලගන්නෙ. ඕක ගිලගන්න යම්කිසි ඡන්ද රාගයක්, රසයට තිබෙන්නා වූ තණ්හාවක් ඇත්ද, බැඳීමක් ඇත්ද ඒක තමයි ගිලගත්තම හිරවෙන තැන. ඔය තත්ත්වයට පත්වුනාම කියනවා මාරයා ගිලගත්ත කියල. අපේ මනස, අපේ ගත හිත මාරයාට ගොදුරු වුනා. මෙන්න මේ ගති ලක්ෂණ තියෙන නිසා කය බිලියක් (බලියක්) කරන්න එපා කියනවා. කය බලි කරන ආහාරයක් ගත්තොත් සිද්ධ වෙන්නෙ, ඔය කියන සතර අපායට මග පැදෙන එකයි. කය බලි කරනවා, බිලි කරනවා කියන්නෙ දෙකම එකයි. බිලියක් කරගත්තම ඇම කෑව වෙනවා. රසයට බලාපොරොත්තුවෙන් ගිලින්න ගියොත් ඇම ගිල්ල වගේ තමයි. ඒකෙන් සිද්ධ වෙන්නේ **රස තණ්හාව මුල් කරගෙන මානසිකත්වය දූෂ්‍ය වෙලා දුගතියට, තිරිසන් ලෝකයට යන්න මග පැදෙන එකයි.**

මේ නිසා කය බලි කරන කබලිංකාර ආහාරය තණ්හා නිධානයි, තණ්හා සමුදයයි, තණ්හා ප්‍රභවයි, තණ්හා ජාතියි. ඉතින් කබලිංකාර ආහාරය ගත්තම මොකද වෙන්නෙ? අවිද්‍යාව නිසා, ''රසය ප්‍රශ්ණයක් නෑ, රසය හොඳයි, මොනයම් ක්‍රමයකින් හරි රසය විඳින්න ඕන, රසය හරි වැදගත්, රසය හරි ආස්වාදයි, ඒක පාවිච්චි කළාට කමක් නෑ'' කියල ඡන්දරාගයෙන් බැඳිල නිගමනයන් ගන්නවා. ඒ නිසා ඒ ක්‍රියාවලියට අවශ්‍ය කරන සියලු කාය, වචී, මනෝ සංඛාර ගොඩනගන කොට, අවිද්‍යා සංඛාර දෙක මේ අත් බවයේම ගොඩනැගෙනවා. එහි ආස්වාදයට ඇලිල බැඳිල ඉඳල තණ්හා උපාදාන ගොඩනගනවා. පුද්ගලයා ඒ රසවත් භාවයේ ඉන්න කෙනෙක් බවට පත්වෙනවා. රසය නිතරම හොයනවා. එහෙනම් ඒ පුද්ගලයා මෙලොවදීම, උපදින්න ඉන්න සත්ත්වයාට අනුග්‍රහයක් හදාගත්ත වෙනවා.

''භූතානංවා සත්තානං ඨිතියා'' මේ කබලිංකාරාහාරයෙන් කරන එක වැඩක්. ''සම්භවේසි නංවා අනුග්ගහාය'' උපදින්න ඉන්න සත්ත්වයාට අනුග්‍රහය පිණිසත්, ඉපදුනු සතාගේ පැවැත්මටත් කබලිංකාරාහාරය හේතු වෙනවා. මේක හරි ගැඹුරු තැනක්. තවම තෝරගෙන නෑ. මොකද්ද මේ උපදින්න ඉන්න සත්වයාට අනුග්‍රහය කියල කියන්නේ? තවම මතු අත්බවට ගියේ නෑ. අන්න ඒ මතු අත්බවය හටගැන්වීමට අවශ්‍ය කරන අනුග්‍රහය කම්ම වට්ටය කොටසින් දෙනවා. ඔහු කරනවා කර්මයක්. කර්ම වට්ටය, ක්ලේශ වට්ටය කියන 2 ක් හදාගෙන විපාක වට්ටය කියල එකක් හදනවා. (වට්ටය කිව්වේ යම්කිසි වැඩපිළිවෙලක් තුළ තමන් බැඳී කරන වැඩ කටයුතු.) ඡන්දරාගය නිසා සසර ගමන යන අතරේ ඒ විපාක වට්ටය අනුව පරිසරය සකස් වුනාම විපාක දෙනවා. එතකොට අර රසය හොඳයි, රසය පාවිච්චි කළාට කමක් නෑ, ඕකෙ සතෙක් නෑ... ආදී දෘෂ්ටිවලට බැහැලා අවිද්‍යාවෙන් යුක්තව හිතන, කියන, කරන වැඩ පිළිවෙලක් ගෙනියනකොට අවිද්‍යාව සහිතව හටගන්නා වූ කර්මය සකස් වෙලා කර්ම වට්ටය කියන සසර ගමනට හේතුවන කොටස ඇති වෙනවා. ඉන්පසු තණ්හා, උපාදාන, භව කියන ක්ලේශ වට්ටය ගොඩනගනවා. එහෙනම් ඒ පුද්ගලයා කම්ම වට්ටය, ක්ලේශ වට්ටය කියන දෙකෙන් සසර ගමනට හේතුකාරක වන ☞

''සම්භවේසී නංවා අනුග්ගහාය'' කියන කාරණය මෙලොවදීම සිද්ධකර ගන්නවා. ඉන්පසු සංඛාර පච්චයා විඤ්ඤාණං කියල පටිසන්ධි විඤ්ඤාණයක් අරගෙන, විඤ්ඤාණ පච්චයා නාමරූපං, නාමරූප පච්චයා සළායතනං, සළායතන පච්චයා ඵස්සෝ, ඵස්ස පච්චයා වේදනා කියන තැන දුක් වේදනාවන් විඳින්න හේතු වන කාරණා ටික විපාක වට්ටය වශයෙන් ලබනවා. එහෙම ලැබුවට පස්සෙ **තමන් අනුන්ට යම්කිසි අවැඩක් අසාධාරණයක් කළාද, ඒ කරපු අවැඩ අසාධාරණය වගේම ප්‍රතිවිපාකයකට ගොදුරු වෙච්ච එකෙක් වෙලා තමන්ටත් උපදින්න සිද්ධ වෙනවා.**

එහෙනම් කුකුළෙක් මරාගෙන කන එකේ පවක් නෑ, ඒක හොඳයි කියල ඒ ජාතියේ කතාවක් සමාජගත කළා නම්, මරාගෙන කන කුකුළෙක් වෙලා උපදින්න තමන්ටත් විපාක වට්ටය හැදෙනවා. කුකුල් විඤ්ඤාණයකින් ගිහින්, කුකුල් ගැබක කුකුල් නාමරූපයෙන් උපදිනවා. ඊටපසු සළායතන, ස්පර්ශ හැදිලා **තැලෙන, පොඩිවෙන, කැපෙන, කෙටෙන ඔක්කොම වේදනා විඳින්න සිද්ධ වෙනවා. කරපු කර්මයේ විපාක ඉවර වෙනකල් ඔය විපාක වට්ටය ගෙවන්න ඕන.** බිත්තර කෑවට කමක් නෑ, හොඳයි කියල ඒ රසයට ගිජු කරලා ඒ මතය සමාජයට දුන්න නම් ඒකෙන් කර්ම වට්ටය හදල අවිද්‍යා, සංඛාර, තණ්හා, උපාදාන භව වෙලා, කර්ම වට්ට ක්ලේෂ වට්ට දෙක හදල, භව පච්චයා ජාති කියන උප්පත්ති ජාතියට කාරණා වෙලා, පටිසන්ධියක් ඇල්ලුවා නම් පටිසන්ධි විඤ්ඤාණයේ පටන්ගෙන විපාක විඤ්ඤාණය හටගෙන විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ, වේදනා කියල ඊළඟ භවයට ඕක විඳින්න විපාක වට්ටයක් හැදෙනවා.

මේ තමයි සසර ගමන හැදෙන හැටි. ඉතින් මේක මහා භයානක දෙයක්. **අපි නොදන්නා කමට, ඇත්තක් දැක්කෙ නැති කවුරුන් හෝ කියන තර්ක වාදයකට කොටුවෙලා, මතයකට වහල් වෙලා, උතුමන් දිවැසින් දැකල කියපු සත්‍යය යථාර්ථය පැත්තකට දාල අපිට ඕන ඒවා කරන්න ගියාම ඔය කියන්නා වූ අවිද්‍යා වැඩ පිළිවෙලට බැහැල අනන්ත දුක් විඳින්න සිද්ධ වෙනවා.** මෙහෙම විපාක වට්ටයක් එන කර්ම වට්ටයක් නම් කරන්නේ, මෙලොවදීම ඊට අනුරූප ක්ලේස වට්ටය කියන කොටසක් ඇතිවෙනවා. ඒකට එකතු වෙනවා කියල දැනගත්ත නම් අපි කවදාවත් ඔය ක්ලේස වට්ටය ඇතිකරන කම්ම වට්ටය කරන්නෙ නෑ. **මේ කියන ක්ලේස වට්ටය අපිට දකින්න පුළුවන්. නමුත් සැඟවිච්ච පැත්ත තමයි විපාක වට්ටය කියල මැරුණට පස්සෙ ගිහින් සිද්ධ වෙන ක්‍රියාදාමය. ඒක දිවැසින් දකින්න ඕන.** මෙන්න මෙහෙම පාප කර්මයක් සිද්ධ කරපු පුද්ගලයා අවිද්‍යාව නිසා ඇත්ත තෝරගන්න බැරිව මුලාවකට ඇත්ත කියල රැවටිලා කරන ලද්දා වූ කාය කර්ම, වචී කර්ම, මුල් කරගෙන, ඒකෙන් හටගත්තා වූ ක්ලේස වට්ටයක් ගොඩනගාගෙන මෙන්න මේ විදියට තමන්ගේ මානසිකත්වය කෙළෙසගෙන, ඒ ගති ලක්ෂණයෙන් උපාදාන වෙලා ඉඳලා, උපාදාන පච්චයා භවෝ, භව පච්චයා ජාති කියල පටිසන්ධි විඤ්ඤාණයකින් ඊළඟ භවය අල්ලල, කර්මජ චිත්තජ වශයෙන් නාමරූප, සළායතන කියල සූක්ෂම කය හදාගෙන ගන්ධය නමැති සූක්ෂම උතුජ ආහාරයෙන් ගොඩනැගුණු නාමරූපයෙන් ගන්ධබ්බයා හැදිල, මව් ගැබට ගිහින් මව්ගේ ගැබෙන් ගත් ආහාරයෙන් සැකසුණු සළායතනයෙන් මස් ලේ සහිත ඝනීභවන කයක් හදාගෙන ස්පර්ශය ලබල, දුක්ඛ ස්පර්ශයෙන් දුක්ඛ වේදනාවෙන් දැවිල, පිච්චිලා, කැපිල, කෙටිල අනෙක් අයට ගොදුරු වෙනවයි කියන කාරණය දිවැස් ඇති අය දකිනවා. කර්මයේ විපාක තියෙන තාක් කොච්චර හරි විපාක වශයෙන් විඳින්න සිද්ධ වෙනවා.

මේ කාරණය යථාර්ථයෙන් තේරුම් ගත්ත නම් නැවතත් ඔය ගැන හිතන්න යන්නෙ නෑ. ''කවුද කියන්නෙ මේ බිත්තරය ඇතුලේ සතෙක් නෑ කියල? බිත්තරය නිකන් හටගන්නවා කියල කවුද කියල තියෙන්නෙ? මොන දිවැසිවරයද කිව්වේ? මොන බුදුන්ද? මොන පසේ බුදුන්ද? මොන රහතන් වහන්සේද? මොන ඍද්ධි බලයක් ඇති දිවැස් ඇති කෙනෙක්ද කිව්වේ? එහෙම නැත්නම් මොකවත්ම නැති නිකන් පරීක්ෂණ කරන භෞතිකවාදී කෙනෙක්ද ඕව කියල තියෙන්නෙ?'' යථාර්ථය දන්නව නම් මෙහෙම කියල එවැනි මත ප්‍රතික්ෂේප කරනවා.

බිත්තර ඇතුලෙ සතෙක් නැහැයි කියන එක නිසි තතු නොදන නොදක භෞතිකවාදීන් කියපු කතාවක් මිසක්, වෙනත් හරයක් ඔය මතවල නෑ. **අධ්‍යාත්මික වූ ඉතාම සුළු දෙයක්වත් හොයාගන්න බලාපොරොත්තුවක් නැති භෞතිකවාදීන් කොහොමද ඇත්ත හොයන්නෙ?** ඇහැට පෙනෙන, කනට ඇහෙන, දිව, නාසය, ශරීරය, කියන මේවාට දැනෙන ප්‍රමාණයෙන් කොහොමද ඇත්තක් හොයාගන්නෙ? ඔය පංචේන්ද්‍රිය ගෝචර මට්ටමෙන් වාසියට අරගෙන මත හදාගෙන තර්ක වාද හදාගෙන, **බුදුන් වහන්සේගේ අනාවරණඥානයට පමණක් ගෝචර වන, එහෙම නැත්නම් බුදුන් වහන්සේට හා දිවැස් ඇති අභිඤ්ඤා ලාභීන්ට පමණක් ගෝචර වන සමහර යථාර්ථවාදී කරුණු තර්ක වාදයෙන් විසඳන්න යනවා.** නමුත් ඒවා බුදුන් වහන්සේගේ අනාවරණ ඥානයට පමණක් හා සමහර කරුණු බුදුන් වහන්සේ ඇතුළු දිවැස් ලාභී අභිඤ්ඤා ලාභීන්ට පමණක් ගෝචර වන නිසා තර්ක වාදයෙන්වත්, භෞතික පරීක්ෂණවලින්වත් විසඳන්න බෑ. මේ වගේ පටු මුලා තර්කවලින් ලෝකයේ සිද්ධ වන අති සියුම් සිද්ධිවල ඇත්ත තෝරගන්න බෑ. ඉතින් කරන්න ගියොත් සිද්ධ වෙන්නේ ඒ මතයට, තර්කවාදයට මූලික වෙච්ච කෙනාට අප්‍රමාණව විඳින්න සිද්ධ වීමයි. ඒවාට සම්බන්ධ වෙච්ච අයටත් මුක්කු ගහලා විඳින්න සිද්ධ වෙනවා. කරන්න දෙයක් නෑ. එහෙම දිගටම යන ස්වභාවයක් තමයි තියෙන්නේ.

**මේ නිසා අපට දැනගන්න පුළුවන් වුනත් නැතත්, බිත්තරය කියල යමක් හටගන්න විදියක් නෑ හේතුවක ඵලයක් වශයෙන් මිසක් වෙන විදියකින්.** හේතුවක් නැති ඵලයක් ලෝකයේ හටගන්නෙ නෑ. සතෙක් හටගැනීමට අවශ්‍ය කරන්නා වූ යම්කිසි ශ්‍රාවයන් එක්තැන් වෙලා, ඊට අවශ්‍ය කරන්නා වූ යම්කිසි මූලික සම්පිණ්ඩනයකින් විශේෂිතව හැදිච්ච ගැබක් තමයි බිත්තරය කියන්නේ. ඒක වැඩෙන්නෙ නැතිවෙන්න වෙනම හේතු තියෙන්න පුළුවන්. ඒකයි රැක්කෙව්ව පලියට වැඩෙන්නෙ නැත්තෙ. ඒකට හිමි ආයු කාලය ගෙවිල ඉවර වුනාම ගන්ධබ්බයා පිටවෙලා ගිහින් එතැනින් ඒක කුණු වෙලා යනවා. නැත්නම් කවුරු හරි තම්බගෙන කනවා. හැබැයි තම්බන කෙනාට ඒකෙ පාපය හිමි වෙනවා. ඒ තත්ත්වයට පත්වෙලා එතැනින් එහාට වැඩෙන්නෙ නැත්තේ ලෝකයට කරපු අපරාධයට වන්දි ගෙව ගෙවා අනන්ත දුක් විඳගෙන ඉන්න සිද්ධ වෙන නිසයි.

අනෙක ෆාම් බිත්තර ගත්තම **කිකිලියන් දෙකේ දෙකේ කූඩුවලට කොටු කරල, කුකුලන්ගෙන් වෙන් කරල, උන්ගේ නිදහස අහිමි කරල, ජීවීන්ට බිහිවෙන්න ඉඩ නොදී අසාධාරණයෙන් බලහත්කාරයෙන් ලබාගන්නා දෙයක් බවත් විශේෂයෙන් තේරුම් ගත යුතුයි. ජීවයක් තිබුනත් නැතත් දයානුකම්පාව මුල්කරගෙන අසාධාරණයෙන් ගොඩනගපු දෙයක් නිසා ඒවා අනුභවයෙන් වැළකී සිටීම කොහොමත් උතුම් ගුණයක්.** මේ නිසා කොහොමටවත් හිතන්න එපා බිත්තර කියන්නේ නිකන්ම නිකන් අපට කන්න හැදිච්ච දෙයක් කියල. යථාර්ථයෙන් මේ කාරණය තේරුම් අරගෙන මෙලොව පරලොව අභිවෘද්ධිය සලසා ගන්න.

(ඉතිරි කොටස ලබන කලාපයෙන් )

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වේදනාවෙන් තණ්හාව හටගන්නා හැටි

(පසුගිය කලාපයෙන් :- වේදනා සහ සම්ඵස්සජා වේදනා අතර වෙනස)



තණ්හා කියන වචනයෙන් අදහස් කරන්නේ මොකක්ද, ඒක කොයි තරම් දුරට ව්‍යාප්ත වෙච්ච විශේෂ වචනයක්ද කියන එක විමසා බලමු

තණ්හා යන පදයෙන් මූලික වශයෙන් අපි දහම් අවබෝධයට පෙර දැනගෙන හිටියේ, ''ඔහු හරි තණ්හාකාරයෙක්, ඔහු හරිම තණ්හාව වැඩි කෙනෙක්''..... ආදී වශයෙන්. මේ විදිහට තමයි අපි හඳුන්වන්න පුරුදු වෙලා හිටියෙ. එයින් අපි අදහස් කළේ, ඔහු කිසිම දෙයක් දෙන්න අකමැති ලෝභ සහගත පුද්ගලයෙක් කියලයි. හැබැයි තණ්හා කියන වචනය හරියාකාරයෙන් තේරුම් ගත්තම මේ අදහසින් ටිකක් බැහැර වෙන්න සිද්ධ වෙනවා.

තණ්හාව කියන වචනයේ දහම් නිරුක්ති අර්ථය ගත්තොත්, තන්හි තන්හි හාවීම වශයෙන් විග්‍රහ කරන්න පුළුවන්. ඒ කියන්නේ තැන් තැන්වල හාවීම. හාවීම කියල අදහස් කරන්නෙ මොකක්ද? මේක තවදුරටත් විස්තර කළොත් සම්බන්ධ වීමක්, ඇළුම් කිරීමක්, ඇතුලත් වීමක්, ඇඳීමක් ..... ආදී වශයෙන් නොයෙක් අර්ථ ගන්න පුළුවන්. අපි යමෙක් සමග හාවෙනවා කියන්නෙ, ඒ පුද්ගලයා සමග සම්බන්ධ වෙනවා, එහෙම නැත්නම් ඇලෙනවා කියන එකයි. මේ අදහසින් තමයි හාවීම යන්න අරන් තියෙන්නේ.

එහෙනම් තන්හි තන්හි හාවීම කියල විස්තර කළොත් ඒක මොකක්ද කියල වටහා ගන්න ඕන. අපි ජීවත්වන පරිසරයේ හාවෙන්නෙ මොන මොන දේවල් සමගද? මේ කාරණය පටිච්ච සමුප්පාද විභංගයේදී මේ ආකාරයෙන් විස්තර වෙනවා. ''තත්ථ කථමා වේදනා පච්චා තණ්හා රූප තණ්හා ශබ්ද තණ්හා ගන්ධ තණ්හා රස තණ්හා පොට්ඨබ්බ තණ්හා ධම්ම තණ්හා අයං වුච්චති වේදනා පච්චා තණ්හා''. වේදනා ප්‍රත්‍යයෙන් තණ්හාව ඇතිවීම විග්‍රහ කරල තියෙන්නේ මේ ආකාරයටයි.

එහෙනම් අපි රූප සමග හාවෙනවා, ශබ්ද සමග හාවෙනවා, ගන්ධ සමග හාවෙනවා, රස සමග හාවෙනවා, ස්පර්ශ සමග හාවෙනවා, ධම්ම හෙවත් සිතිවිලි සමග හාවෙනවා.

රූප සමග අපි හාවෙන්නෙ ඇයි? රූපයෙන් ආස්වාදයක් විඳීම සඳහා. ගන්ධ සමග හාවෙන්නේ ගන්ධයෙන් ආස්වාදයක් විඳීම සඳහා. මොකද ආස්වාදය දිගටම පවත්වාගෙන යෑමේ යම් ඉච්ඡතාවක් හෙවත් කැමැත්තක් අපි තුල තියෙනවා. ආස්වාදය දිගටම පවත්වාගෙන යන්න, නැවත නැවත ලබන්න සත්වයෝ හැමෝම කැමතියි. අපේ ඉච්ඡතාවය (කැමැත්ත) ඒකයි. නමුත් යම් කිසි දවසක ආස්වාදයත් අනිච්චයි කියල දැනගත්තට පස්සේ, **ආස්වාදය අපි කැමති විදිහට පවත්වන්න බෑ, අපි කැමති විදිහට නැවත නැවත ලබන්න බෑ, ආස්වාදය අපි කැමති වුනත් නැතත් ගෙවිල යනව කියල** ... මේ ආදී වශයෙන් ආස්වාදයෙන් පසුව එන විවිධ පෙලීම් සහිත ආදීනව දැක්කම, අපිට ආස්වාදය ගැන බැඳීමක්, හාවීමක් සිද්ධ කෙරෙන කැමැත්ත ක්‍රමයෙන් අඩු වෙන්න පටන් ගන්නවා.

එහෙමනම් මේ හාවීමෙන් ගැලවෙන්න අපි මොකක්ද කරන්න ඕන? ආස්වාද නමැති මේ හැඟීමේ ආදීනව නැවත නැවත බැලිය යුතුයි. ආස්වාද ආස්වාද වශයෙන් නැවත නැවත දකිමින් එහි මුසපත් වෙලා වෙසෙන්නෙකුගේ තණ්හාව වැඩෙන බව දහමේ සඳහන් වෙනවා. (සං:නි:(2) 145 පිටුව, <u>නිධාන සූත්‍රය</u>) හැබැයි ආස්වාදයන්ගේ ආදීනව නැවත නැවත දකිනකොට ඡන්දරාගය නිරෝධ වෙනවා. එහෙනම් ආස්වාදය පිළිබඳව එහි ආදීනව දකින ක්‍රමය විමසා බලමු.

ආස්වාදය හා ආදීනවය දෙයාකාරයි. මෙලොව වශයෙන් ආස්වාද හා ආදීනව තියෙනවා. ඒ වගේම පරලොව වශයෙන් ආස්වාද, ආදීනව තියෙනවා. මෙලොව වශයෙන් ආස්වාද ආදීනව බලනකොට මේ ආකාරයෙන් දකින්න පුළුවන්; **ආස්වාදය ගොඩනැගීම සඳහා අපි යම් මහන්සියක් වෙන්න ඕන. සමහරවිට දවස් ගණන් මහන්සිවෙලා එක්තරා මොහොතකට පමණයි ආස්වාදය ලැබෙන්නේ.** මාස ගණන් දවස් ගණන් ලොකු මහන්සියක් වෙලා ආස්වාද මාත්‍රයක් පමණක් ලැබෙන්න පුළුවන්. ඊට අමතරව, ලැබූ ආස්වාදයෙන් **පසුවත් ආස්වාදය විඳීම පිළිබඳව අපි ගෙවිය යුතු යම්කිසි ගෙවීමක් තියෙනවා.** මේකට අපි කියනවා, ආස්වාදය සඳහා බරපැනක් ගෙවීමට තියෙනවයි කියල.

යම්කිසි කටයුත්තක් කරගත්තම, මොන ආකාරයෙන් හෝ ඒකට ගෙවීමක් කරන්න සිද්ධ වෙනව කියල අපි දන්නවා. උදාහරණයකින් මේ කාරණය ☞

තේරුම් ගනිමු. අපි හිතමු එක්තරා මහත්මයෙක් තමාගේ කාර්යාලයේ වැඩ කරන හෝ බසයේදී මුණගැසෙන යම්කිසි කාන්තාවක් සමග සම්බන්ධයක් ගොඩනගා ගන්න උත්සාහ කරනවයි කියල. මේ සම්බන්ධතාවය ගොඩනගා ගන්න උත්සාහ කරන්නෙ මොකටද? ආස්වාදය විඳීමේ බලාපොරොත්තුවෙන්. ඒ සඳහා ඔහුට එක දවසක් මදි වේවි. දවස් කිහිපයක් රස්තියාදු වෙන්න සිදු වේවි. තමන්ගේ වෙනත් කටයුතු සියල්ලමත් අතපසු කරමින්, ගෙදරදොරේ වැඩ කටයුතු අතපසු කරමින්, මුදල් හදල් වියදම් කරමින්, කාලය වැය කරමින් ඔහු මේ සඳහා මාසයක් ගත කළා කියල හිතමු. හැබැයි මේ මාසය තුළ ඔහු ආස්වාදයක් ලැබුවෙ නෑ. ආස්වාදය ගොඩනැගීම සඳහා වෙහෙස මහන්සියක් ඒ කාලය තුල ඔහු සිද්ධ කළා. සමහර විට මාසයකට පස්සෙ තමා බලාපොරොත්තු වෙච්ච කාර්ය ඔහු ඉෂ්ට කරගෙන, ඒ කාන්තාවත් සමග දවසක් ගත කරල යම්කිසි ආස්වාදයක් ලැබුව කියල හිතමු. මේ ආස්වාදය කොච්චර වෙලාවක් විඳපු දෙයක්ද? සමහර විට විනාඩි කිහිපයක් වෙන්න පුළුවන්. මේ කාලය තුල ලබපු කෙටි ආස්වාදය සඳහා ඔහුගේ ජීවිතයේ මොන තරම් කැප කිරීම් කරන්න ඔහුට සිද්ධ වුණාද? ආස්වාදයෙන් වැසී යාම නිසා ඔහුට නොපෙනුනත්, ඔහු මාස ගණනක් ගත කරල තියෙන්නෙත් නින්දිත (කෙලෙස් නින්දේ නිදා සිටි නිසා) චරියාවක්මයි.

මේ කාලය තුළ ඔහු මහා බයකින් පෙලුනා. රහසේ කටයුතු කරන්න සිද්ධ වුණා. කාටවත් නොපෙනෙන විදිහට බයෙන් බයෙන් එක් එක් අවස්ථාවල ක්‍රියා කරන්න සිද්ධ වුණා. මහා දුක් ගොන්නකට ඔහු මැදිවෙලා හිටියා. අවසානයේදී ඔහු ආස්වාද මාත්‍රයක් වින්ද තමයි. නමුත් ඒ ආස්වාද මාත්‍රය විඳීම සඳහා ඔහු මහා දුක් කන්දරාවක් වින්දා. මේ තමයි ආස්වාදය නිසා විඳින්න සිද්ධ වෙන මෙලොව ආදීනවය. ඊට අමතරව මේ ආස්වාදයෙන් පසුව ඔහු මොන තරම් බැඳීමකටද අහුවෙන්නේ. ඔහුට එයින් පසු ඒ කාන්තාව නඩත්තු කරන්න සිද්ධ වේවි, නැවත නැවතත් ඇය සොයා යෑමේදී නොයෙකුත් කරදරවලට මුහුණ දෙන්න සිද්ධ වේවි. ඇය වෙනුවෙන් මුදල් වියදම් කරන්න සිද්ධ වේවි. බැනුම් අහන්න සිද්ධ වේවි. මේ ආදී වශයෙන් ආස්වාදය ලැබීමෙන් පසුව ඔහුට මහා බරපැනක් ගෙවන්න සිද්ධ වෙනවා. මේකත් ආස්වාදයේ මෙලොව ආදීනවයක්. සරලව ගත්තොත් තවත් නොයෙකුත් කම්කටොලු මේ ආස්වාදය වටා ගෙතිල තියෙන්න පුළුවන්. ඒ සියල්ල විස්තර කරන්න අවශ්‍ය නෑ, කෙනෙකුට හිතා ගන්න පුළුවන්.

දැන් මේකෙ පරලොව ආදීනවය මොකක්ද කියල බලමු. මේ ආස්වාදය සඳහා දස අකුසල්වලට අයිති වූ කීයක් නම් ඔහු කරන්න ඇත්ද? බොරු කියන්න ඇති. කේලම් කියන්න ඇති. නොයෙකුත් හිස් වචන දොඩන්න ඇති. ආස්වාදයට බාධා ආව නම්, සමහර විට ප්‍රාණඝාත, හොරකම් කිරීම් ආදී දේවල්වලටත් උත්සාහ කරන්න ඇති. මේ විදිහට දස අකුසලයේ යම් කිසි කොටසක් ඔහු විසින් සිද්ධ කරන්න ඇති. ඒ අනුව ඔහුට අකුසල් සිද්ධ වෙනවා. ඊටත් අමතරව ඔහු රාගය වඩනවා, ද්වේශය වඩනවා, මෝහය වඩනවා. මේවා ඔහුට සසර දුකට හේතු වෙනවා. මෙන්න මේ නිසා ඔහුට පරලොව වශයෙන් ආදීනවයකට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ලෝකෝත්තර වූ නිවනටත් ඒක බාධාවක් වෙනවා.

මේ ආකාරයට ආස්වාදයේ ආදීනව දකින්න පටන් ගත්තම, ආස්වාද සඳහා තන්හි තන්හි භාවීමෙන් වෙන්වීමේ ගුණය ඔහු තුල ජනිත වෙනවා. ක්‍රමානුකූලව ආස්වාදයන්ගේ ආදීනව මෙනෙහි කරත්ම භාවීමේ ස්වභාවයෙන් ඉවත් වෙනවා.

එහෙනම් රූප තණ්හා, ශබ්ද තණ්හා, ගන්ධ තණ්හා, රස තණ්හා, ස්පර්ශ හෙවත් පොට්ඨබ්බ තණ්හා, ධම්ම තණ්හා ආදී වශයෙන් භාවීම නිසා වෙන හානිය ගැන හිතුවම, එනම් භාවීමෙන් ඇතිවන ආදීනවය ගැන සිතීමෙන්, භාවීමෙන් ඉවත් වෙන්න පුළුවන්.

වේදනා පච්චා තණ්හා වශයෙන් විස්තර කරනකොට වේදනාව වශයෙන් අපි සැලකුවේ සම්ඵස්සජා වේදනාවොයි. එහෙමනම් අපිට ආස්වාද ලබා දෙන්නේ මේ සම්ඵස්සජා වේදනාවන්. සම්ඵස්සජා වේදනා කියන්නෙ මොකක්ද කියල දැන හඳුනාගෙන, එහි අනිච්චතාවය, දුක්ඛතාවය, අසාරත්වය හෙවත් අනත්තතාවය තේරුම් ගැනීම තුලින්, තන්හි තන්හි භාවීම හෙවත් තණ්හාව නිරෝධ කරන්න පුළුවන් වෙනවා.

විභංග ප්‍රකරණයේ (1) හි <u>සච්ච විභංගය</u> මාතෘකාව යටතේ 186 පිටුවේ, තණ්හා කොහි උපදීද යන්න පිළිබඳව ගැඹුරු විස්තරයක් අඩංගු වෙනවා. තණ්හාව උපදින තැන, තණ්හාව රැඳෙන තැන, තණ්හාව නිරුද්ධ වන තැන පිළිබඳව එහි මෙසේ සඳහන් වෙනවා. ''යං ලෝකේ පිය රූපං සාත රූපං එත්තේ සා තණ්හා උප්පජ්ජ මානා උප්පජ්ජති එත්ත නිවීස මානා නිවීසති''

මෙයින් අදහස් කරන්නේ **ලෝකයේ යම් ප්‍රිය වූ, මධුර වූ රූප ඇත්නම් තණ්හාව උපදින්නේ, තණ්හාව පවතින්නේ, තණ්හාව නිරුද්ධ වන්නේ ඒ ස්ථානවලයි** කියලයි. කිංච ලෝකේ පිය රූපං, සාත රූපං? චක්ඛුං ලෝකේ පිය රූපං, සාත රූපං, සෝතං ලෝකේ පිය රූපං, සාත රූපං ආදී වශයෙන් චක්ඛු, සෝත, ඝාන, ජිව්හා, කාය, මනෝ කියන හය විස්තර වෙනවා. ඒ තමයි තණ්හාව උපදින පළවෙනි කොටස. දෙවනි කොටස තමයි රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම කියන හය. තුන්වන කොටස චක්ඛු විඤ්ඤාන, සෝත විඤ්ඤාන, ඝාන විඤ්ඤාන, ජිව්හා විඤ්ඤාන, කාය විඤ්ඤාන හා මනෝ විඤ්ඤාන කියන හය පොල.

හතරවන කොටස නම් චක්ඛු සම්ඵස්සෝ, සෝත සම්ඵස්සෝ, ඝාන සම්ඵස්සෝ, ජිව්හා සම්ඵස්සෝ, කාය සම්ඵස්සෝ හා මනෝ සම්ඵස්සෝ කියන හය. පස්වන කොටස තමයි චක්ඛු සම්ඵස්සජා වේදනා, සෝත සම්ඵස්සජා වේදනා, ඝාන සම්ඵස්සජා වේදනා, ජිව්හා සම්ඵස්සජා වේදනා, කාය සම්ඵස්සජා වේදනා, මනෝ සම්ඵස්සජා වේදනා.

හයවන කොටස නම් රූප සංඥා, ශබ්ද සංඥා, ගන්ධ සංඥා, රස සංඥා, පොට්ඨබ්බ සංඥා, ධම්ම සංඥා කියන මේ හය. හත්වන කොටස නම් රූප සංචේතනා, ශබ්ද සංචේතනා, ගන්ධ සංචේතනා, රස සංචේතනා, පොට්ඨබ්බ සංචේතනා හා ධම්ම සංචේතනා.

අටවන කොටස නම් රූප තණ්හා, ශබ්ද තණ්හා, ගන්ධ තණ්හා, රස තණ්හා, ස්පර්ශ තණ්හා සහ ධම්ම තණ්හා කියන කොටස් හය. නවවන කොටස නම් රූප විතක්කෝ, ශබ්ද විතක්කෝ, ගන්ධ විතක්කෝ, රස විතක්කෝ, පොට්ඨබ්බ විතක්කෝ, ධම්ම විතක්කෝ. (රූප අරමුනෙහි පිහිටීම - විතක්කෝ)

දහවන කොටස නම් රූප විචාරෝ, ශබ්ද විචාරෝ, ගන්ධ විචාරෝ, රස විචාරෝ, ස්පර්ශ විචාරෝ, ධම්ම විචාරෝ කියන මේ හය. (රූප අරමුනෙහි පිහිටා එහි හැසිරීම - විචාරෝ) මේ ආකාරයට ප්‍රිය වූ මධුර වූ රූප හැට

(10x6=60) ආකාරයකින් විස්තර වෙනවා. මේ විස්තර කරපු හැට ආකාරයක් වූ අවස්ථා ප්‍රිය රූප, සාත රූප ගණයට වැටෙනවා. පියා රූපං, සාත රූපං කියනකොට රූපං යන පදයේ තේරුම මොකක්ද? ප්‍රිය රූප, සාත රූප කියන එක ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය වශයෙනුත් විග්‍රහ වෙනවා. ඒ අතරම **රූප යන පදයෙන් රූප්පනය වීමක් හෙවත් රුවක් ඔප් නැංවීමක්** වශයෙනුත් තේරුම් ගන්න පුළුවන්. **ආස්වාදයක් ගොඩනැගීම සඳහා රුවක් හෙවත් රූපයක් නිර්මාණය විය යුතුයි. ඒක ඇසින් දකින රූපයක්, කනෙන් අහන ශබ්ද රූපයක්, නාසයෙන් ගන්න ගන්ධ රූපයක්, දිවෙන් ගන්න රස රූපයක්, කයෙන් ගන්න ස්පර්ශ රූපයක් හෝ මනෙන් ගන්න ධම්ම රූපයක් වෙන්න පුළුවන්.**

ආස්වාදයක් ගොඩනැගීමට නම් රූප මාත්‍ර රාශියක් එකතු වෙලා හඳුනා ගන්න පුළුවන් රූපයක් ගොඩනැගිය යුතුයි. එවැනි රූපයකට පමණයි භාවීමක් හෙවත් තණ්හා වීමක් සිද්ධ වෙන්නේ. ශබ්දයත් එසේමයි. ශබ්ද මාත්‍රවලට ආස්වාද ගොඩනගන්න බෑ. ශබ්ද මාත්‍ර රාශියක් එකතු වෙලා ශබ්ද රූපයක් ගොඩනැගීමෙන් පමණයි ආස්වාද ගොඩනගන්න පුළුවන් වන්නේ. උදාහරණයක් විදිහට **ගීතයක වචන ටික වෙන වෙනම ගත්තොත් එයින් ආස්වාදයක් ගොඩනැගෙන්නෙ නෑ.** ඒ වචන එක්තරා ක්‍රමයකට ගලපලා ශබ්ද රූපයක් හෙවත් ගීතයක් ගොඩනැගුවොත් පමණයි ඒකෙන් ආස්වාදයක් ලබා ගන්න පුළුවන් වෙන්නේ.

මේ විදිහට හැම ආකාරයකින්ම පෙන්වපු ප්‍රිය රූප, සාත රූප වෙන වෙනම තේරුම් ගත යුතු අතර, ඒවාට රූපය යන නම යෙදුවෙ ඇයි කියලත් වටහාගත යුතුයි. මේ හැම ආකාරයකින්ම පෙන්වපු ප්‍රිය මධුර රූපවලින් විද්‍යමාන වෙන්නේ ස්කන්ධ පංචකයයි. ඒ කොහොමද කියල දූන් හොයල බලමු.

චක්ඛු, සෝත, ඝාන, ජිව්හා, කාය, මන සහ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධම්ම යන කොටස් දොළහ රූපස්කන්ධය නිරූපනය කරනවා. චක්ඛු විඤ්ඤාන, සෝත විඤ්ඤාන, ඝාන විඤ්ඤාන, ජිව්හා විඤ්ඤාන, කාය විඤ්ඤාන, මනෝ විඤ්ඤාන යන කොටස් හයෙන් විඤ්ඤානස්කන්ධය නිරූපනය වෙනවා.

චක්ඛු සම්ඵස්සෝ, සෝත සම්ඵස්සෝ, ඝාන සම්ඵස්සෝ, ජිව්හා සම්ඵස්සෝ, කාය සම්ඵස්සෝ, මනෝ සම්ඵස්සෝ කියන මේ හයයි, චක්ඛු සම්ඵස්සජා වේදනා, සෝත සම්ඵස්සජා වේදනා, ඝාන සම්ඵස්සජා වේදනා, ජිව්හා සම්ඵස්සජා වේදනා, කාය සම්ඵස්සජා වේදනා, මනෝ සම්ඵස්සජා වේදනා කියන මේ හයයි වේදනා ස්කන්ධය නිරූපනය කරනවා.

රූප සංඥා, ශබ්ද සංඥා, ගන්ධ සංඥා, රස සංඥා, ස්පර්ශ සංඥා, ධර්ම සංඥා කියන සංඥා හයෙන් සංඥා ස්කන්ධය නිරූපනය කරනවා.

රූප සංචේතනා, ශබ්ද සංචේතනා, ගන්ධ සංචේතනා, රස සංචේතනා, පොට්ඨබ්බ සංචේතනා, ධම්ම සංචේතනා කියන හයත් රූප තණ්හා, ශබ්ද තණ්හා.... ආදී හයත්, රූප විතක්කෝ, ශබ්ද විතක්කෝ.... ආදී හයත්, රූප විචාරෝ, ශබ්ද විචාරෝ.... ආදී හයත් වශයෙන් ගත් කොටස් 24 ක් සංඛාරස්කන්ධය නිරූපනය කරනවා.

කල්පනාකාරීව සූක්ෂම ලෙස බලනකොට ප්‍රිය රූප, සාත රූප වශයෙන් විස්තර කරපු අංග 60 නිරූපනය කරන්නේ ස්කන්ධ පංචකයයි. එහෙනම් තණ්හාව උපදින්නේ රූපස්කන්ධය, වේදනා ස්කන්ධය, සංඥා ස්කන්ධය, සංඛාර ස්කන්ධය හා විඤ්ඤානස්කන්ධය මත බව පැහැදිලියි. තණ්හාව සමග ඒ පහ එකතු වුනාම, පංච උපාදානස්කන්ධය වෙනවා.

මෙසේ ස්කන්ධ පංචකයේ භාවීමෙන් තමයි අපි ආස්වාද විඳින්නේ. ආස්වාදත් අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දැකීමෙන් පමණයි ස්කන්ධ පංචකයට භාවීමෙන් හෙවත් තණ්හා වීමෙන් වළකින්න පුළුවන් වෙන්නේ.

මේ විදිහට ආස්වාද සඳහා ස්කන්ධ පංචකයට භාවීම තුළින් ආස්වාද විඳීමෙන්, ඒ ස්කන්ධ පංචකය පිළිබඳව ඡන්දරාගයක් උපදිනවා. ඒ පංචස්කන්ධය වටිනා දෙයක් වශයෙන් දකිනවා. ඒක නැවත නැවතත් බලාපොරොත්තු වෙනවා. මේ නැවත නැවතත් බලාපොරොත්තුවීම පංචස්කන්ධය උපාදාන කිරීම හෙවත් පංච උපාදානස්කන්ධය වශයෙන් හඳුන්වනවා.

ආස්වාදයේ අනිච්චතාවයත්, ඒ නිසා වන දුක්ඛතාවයත් හොඳින් හඳුනාගත් රහතන්වහන්සේ පංචස්කන්ධය ආශ්‍රිතව ලබන ආස්වාදවල දුක් ආදීනව හොඳින් හඳුනා ගන්නවා. ඒ නිසා උන්වහන්සේ පංචස්කන්ධය පිළිබඳව ඡන්දරාගය ගොඩනගාගන්නෙ නෑ. එනම් පංච උපාදානස්කන්ධය උන්වහන්සේ ළඟ නෑ. මී ළඟ කලාපයෙන් තණ්හා ප්‍රත්‍යයෙන් උපාදාන ඇතිවන හැටි සාකච්ඡා කරමු.

**නුගේගොඩ වින්සර් රෝහලේ සභාපති**
**වෛද්‍ය ආර්. පී. වීරසිංහ**
MBBS/DFM/MCGP/MPFAM

# විශේෂයෙන් සැලකිය යුතුයි

හෙළ බොදු පියුම දහම් සඟරාවේ මෙතෙක් පලවූ කලාපවල අනිච්ච සහ අනත්ත යන වචනවලට අනිච්ඡ සහ අනත්ථ කියා පෙන්නුවේ, එකී වචන සිංහලට නැගීමේදී ඇති වූ සංස්කෘත ආභාෂය නිසා, අනිත්‍ය හෙවත් ස්ථිර නැත කියාත්, අනාත්ම හෙවත් ආත්මයක් නැත කියාත් කර ඇති අදහස් විකෘතිය පෙන්වා දීමටයි. එසේ වුවත් බුදුපියාණන් වහන්සේ අනුමත නොකළ, එසේම භාවිතා කළොත් දුකුලා ඇවතක් වේ යැයි පනවා වදාළ ලෝකායත සාස්ත්‍රවාදීන්ගේ කෘතිම භාෂා නිරුක්ති ඉදිරිපත් කරමින් කරන කලබලකාරීත්වය හේතුවෙන්, දහම් පත් කියවන පාඨකයින්ට එය බාධාවක් නොවනු පිණිස, ඒ ඒ තැනට ගැලපෙන ලෙස අනිච්ච, අනත්ත ලෙස යොදා ඇත.

අනිච්ච කීවත්, අනිච්ඡ කීවත් එහි නියම අර්ථය ස්ථිර නැත යන්නට සීමා කර නැති බවත්, අනත්ත කීවත්, අනත්ථ කීවත් එහි අර්ථයත් ආත්මයක් නැත යන්නට සීමා කර නැති බවත් දැන, දහම් විස්තර කරනවිට නැගෙන නියම අර්ථය වටහාගෙන දහම් අවබෝධය ලබාගැනීමට උත්සාහ දැරිය යුතුයි.

# අරුත යටපත් වූ අනිච්චතාවය නිවැරදිව

ගැඹුරු බුදු දහම තුළ අනිච්ච කාරණය පිළිබඳව පැහැදිලි විග්‍රහයක් බුදුපියාණන්වහන්සේ ආනන්ද හිමියන්ට දේශනා කරල තියෙනවා. ගිරිමානන්ද සූත්‍රය බැලීමෙන් මේ බව නිරවුල්ව දැනගන්න පුළුවන්. ''කථමාචානන්ද සබ්බ සංඛාරේසු අනිච්ච සංඥා ඉධානන්ද භික්ඛු සබ්බ සංඛාරේහි අට්ටීයති හරායති ජිගුජ්ඡති අයං වුච්චතා නන්ද සබ්බ සංඛාරේසු අනිච්ච සංඥා''.

මෙහි පෙන්වා ඇති පරිදි අනිච්ච සංඥාව විග්‍රහ කරල තියෙන්නේ අට්ටීයති, හරායති, ජිගුජ්ඡති කියන වචන තුනකින්. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණයන්ගේ අභිසංකරනයක් ඇද්ද, ඒ සියල්ල සබ්බ සංඛාරවලට අයත් වන අතර ඒ තුළින් ආස්වාද මාත්‍රයක් විඳින්න ගිහින් සුවයක් ඇති නොවන වින්දන පහළ කරන්න මූලික වන අභ්‍යන්තර වූ කය නමැති පසිඳුරන් සහිත මේ රූපයට හා ඒ ඇසුරෙන් ගොඩනැගෙන (බාහිර ලෝක ස්පර්ශයත් හේතුකොට) වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංචස්කන්ධයට ඡන්ද රාගයෙන් බැඳෙමින් කායික මෙන්ම මානසිකවත් දුක් වේදනාව ගොඩනගන මූලික වස්තුවල ස්වභාවය මේ වචන තුනෙන් පෙන්වා එය අනිච්ච ලක්ෂණය ලෙස විග්‍රහ කරල තියෙනවා.

මෙහි අට්ටීයති කියන්නේ පෙළෙන ස්වභාවයයි. එනම් සීතල, උෂ්ණය, බඩගින්න, පිපාසය, මැසි මදුරු උවදුරු, විවිධ කෘමි උවදුරු, විවිධ ලෙඩ රෝග- කැඩී බිඳීයාම්, නින්දා අපවාද, අභූත චෝදනා, හතුරු කරදර, යුද්ධ ආයුධවලින් කැපීම් කෙටීම්, හදිසි අනතුරු, වැහැරී දුර්වලවීම්, මරණ වේදනා, ඥාති ව්‍යසන, භෝග ව්‍යසන ආදී දහස් ගණන් ආපදාවලින් මේ කය නිතර පෙළෙන ලක්ෂණය අනිච්ච ලෙස දේශනා කරල තියෙනවා. ඒනිසා ඒ ඇසුරෙන් ගොඩනැගෙන සිත සම්බන්ධ සියල්ලත් අනිච්ච බව තේරුම් ගත යුතුයි. ඉහත කී පෙළීම් ලක්ෂණය පංචස්කන්ධයට උරුම නිසයි අරිහත්වය ලැබුවත් පෙළීමේ කායික දුක අනුපදිසේස පරිනිර්වාණය සිද්ධ වෙන තුරු විඳින්න වන්නේ.



**මෙබඳු අසාර කය සැපයක් කියල සිතීම පවා ලජ්ජාවට හේතුවන කරුණක් බව අවබෝධ කරගෙන, මළ මුත්‍ර වැනි අපද්‍රව්‍යවලින් හැඳුනු කුණු ගොඩක් බව මනා සේ වටහා ගැනීම අනිච්ච ලෙසත් පෙන්වා තියෙනවා. මේ කයට සිදුවන ඉහත කියපු නොවැළැක්විය හැකි ස්වභාවයන්වලට ප්‍රිය කරන්නේ කවුද?** එවැනි කයක් ඉච්ඡ විදිහට බාරගන්න කැමති කවුද? ඉච්ඡ සේ හෙවත් නිසි සේ නැති සියල්ල අනිච්ච හෙවත් අනිසි බව දැකීමයි මුල් කාලයේ සිංහලෙන් කිව්වේ.

අද්ධුවං, අනියතං කිච්වෙ ස්ථිර නැති බව හඳුන්වන්න ප්‍රකාශ කරන පාලි වචනයි. **හටගත් විද්‍යමාන වූ දේවල් කැඩිල බිඳිල විනාශ වෙලා යාම ඒ වස්තූන්ගේ උරුමතාවයක් බව ඇත්ත. නමුත් ඒවා ඉහත කියපු අනිච්ච ලක්ෂණය නෙවෙයි. යමක් කැඩිල බිඳිල විනාශ වෙනකොට ඒවායින් වුනත් යම් පෙළෙන බවක් එනව නම් ඒ කොටස අනිච්ච ලක්ෂණයට අයිතියි.** අවිද්‍යා, තණ්හා, කම්ම, ආහාර, නිබ්බත්ති යන ලක්ෂණ නිසා පංචස්කන්ධය උපදින හැටිත්, ඒ පහ නිරෝධ වෙනකොට පංචස්කන්ධය ගොඩනොනැගෙන හැටිත් දකිනකොට, ගොඩනැගෙන්නේ දුකක්ම බවත්, නිරෝධ වන්නේ දුකක්ම බවත් කියන මේ දහම් නුවණ පහළ වෙනවා.

මේ තමයි බුදුන් වහන්සේ පෙන්වා දුන් අනිච්චතාවය. මේ අනුව දැනට වසර සිය ගණනක පටන් අනිච්ච **යන්න සිංහලට තෝරන්න ගිහින් අනිත්‍ය යන සංස්කෘත පදය ඒ වෙනුවට දීල ස්ථිර නැති නිසා අනිච්ච කියන බවට කර ඇති විග්‍රහයෙන් ත්‍රිලක්ෂණයේ අනිච්ච ලක්ෂණය විකෘති වී ඇති බව** පෙනී යනවා. චුල්ලවග්ගි පාලි (2) 101 පිටුවේ පෙන්වා ඇති පරිදි **''බුදු වදන චන්දසට නොනැගිය යුතුය, යමෙක් නගන්නේනම් දුකුලා ඇවැත්වේ''** යනුවෙන් දේශනා කරල තියෙද්දිත්, **පෙල දහම සිංහලට තේරුම් කරන්න ගිහින් සංස්කෘත පද යෙදීම නිසා සිදුවෙලා තියෙන අවුල මනාව** පැහැදිලි වෙනවා.

දීඝනිකාය (3) 412 පිටුවේ එන සංගීති සූත්‍රයේ අනිච්ච සංඥා, අනිච්චේ දුක්ඛ සංඥා, දුක්ඛේ අනත්ත සංඥා කියල පෙන්වල තියෙනවා. අනිච්ච සංඥාව, අනිච්චයෙහි දුක්ඛ සංඥාව, දුක්ඛයෙහි අනත්ත සංඥාව කියල **අනිච්ච යම් තැනකද දුක්ඛ හා** අනත්ත ඊටම බැඳිල ගොඩනැගෙන ආකාරය පෙන්වා තියෙනවා. අනිච්ච සංඥාව ඉහතින් විග්‍රහ කළා. ඒ අනුව **අනේකවිද පෙළීම් ලක්ෂණ තියෙන මළ මුත්‍ර වැනි මේ අසුබයන්ගෙන් හැදිච්ච පසිඳුරන්, මායා සිතක් ගොඩනගමින් බිඳි බිඳී යන්නේ කිසි සාරත්වයක් ඉතිරි නොකර අනත්ත භාවයෙන් බවත්,** ආස්වාද මායාවන්ට රැවටෙමින් මේ පවත්වන්නේ මූලා

☞

සහගත දුක් කඳක් බවත් නුවණින් දැකීමයි අනිච්චයෙහි දුක්ඛ සංඥාව සහ දුක්ඛයෙහි අනත්ත සංඥාව කියන්නෙ.

මෙසේ අනිච්ච බව දුකෙන් හා අනත්ත බවෙන් වෙන් කරන්න බැරි විදිහට ආදීනව දකල පුරුදු වුනාම බාහිර රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ ආදිය හා ඒවා අරමුණු වෙනකොට පහළවන සිත්වල නිසරු බව, ඒ ඒ අරමුණු මුණගැසෙන අවස්ථාවලදීත් මෙනෙහි කරල පුරුදු වුනාම ක්‍රමයෙන් තණ්හා නිරෝධ වෙනවා. ආසාව, ඇලීම, ඉච්ඡාව (ඉච්චාව) ආදිය තණ්හාව පෙන්වන්න තියෙන අධි වචනයි.

**වසර 2600 ක පමණ කාලයක පටන් පවත්වාගෙන, මහසඟ පරපුර විසින් ආරක්ෂා කරගෙන ආපු මූලික දහම් අදහස් නිරුපද්‍රිතව තියෙද්දිත්, ඒ තුලින් අර්ථය තේරුම් නොගෙන බමුණන්ගේ වේදය සහ සංස්කෘත කරගහ ගත් පණ්ඩිතයන්ට එන විකෘති අදහස්වලින් අර්ථ විග්‍රහ කරන්න යාම නිසා සිදුවන්නේ තව තවත් දහම් අර්ථය යටපත් වීමයි.**

අං.නි (1) 299 පිටුවේ එන ජානුස්සෝණි සූත්‍රය - ත්‍රිවේදපරප්‍රාප්ත ජානුස්සෝණි බ්‍රාහ්මණයා බුදුරජුන් ඉදිරියේ දහම් ශ්‍රවනය කිරීමෙන් පසු කියා සිටියේ, **ආර්ය විනයේ ත්‍රිවිද්‍යාව අනුව බමුණන්ගේ ත්‍රිවිද්‍යාව සොලොස් කලාවෙන් කලාවක්වත් නොවටිනා බවයි. නමුත් අද බමුණු වේදය, ටිකක් ඉගෙනගත් සිංහල බමුණු පිරිස් කියන්නේ, බණ කියන්න පෙර වේදය ඉගෙන ගන්න ඕන කියලයි. දහම් අවබෝධයට බමුණු වේදයෙන් ගන්න හරයක් තියේනම් බුදුන් වහන්සේ මෙහෙම දේශණා කරන්නෙ නෑ.**

චුල්ලවග්ගපාලි (2) 103 පිටුව - මහණෙනි, ලෝකායත ශාස්ත්‍රයන් හි සාරයක් දක්නා සුළු තැනැත්තා මේ සසුනේ වැඩීමට නැගීමට, මහත් බවට පැමිණිය හෙන්නේ (පැමිණෙන්නේ) ද? වහන්ස, මෙය නොවන්නේම යැයි භික්ෂූන් පිළිතුරු දුන්නා.

මහණෙනි, මේ සසුනේ සාරය දක්නා සුළු තැනැත්තා ලෝකායත ශාස්ත්‍රය පිරිවහ ගන්නේ දැයි උන්වහන්සේ ඇසුවා. මෙය නොවේමය වහන්ස යැයි භික්ෂූන් උත්තර දුන්නා.

මහණෙනි, ලෝකායත ශාස්ත්‍රය නොපිරි වැහිය යුතුයි (ඉගෙන ගන්න එපා). යමෙක් පිරිවහන්නේ නම්, ඔහුට දුකුලා ඇවැත් වන්නේ යැයි උන්වහන්සේ දේශණා කලා.

**ලෝකයේ ප්‍රිය ස්වභාවයක් ඇති නිසාම සත්වයෝ ඇලෙනවා කියන කාරණය** බුද්ධ දේශණාවක්. ඒ ඇලීමට හේතුව අවිද්‍යාව බව ඔවුන්ට නොපෙනෙන නිසයි, ප්‍රිය ස්වභාවයම බලාපොරොත්තු වෙන්නේ. ඔවුන්ගේ කැමැත්ත ඒක වුනත්, යං පිච්ඡං නලබති තම්පි දුක්ඛං කියන දේශණාව පරිදි **ඔවුන්ගේ ඉච්ඡා භංගත්වය නිසා සිදුවන දුක උහුලා ගන්න බැරිව සිය දිවි පවා හානි කර ගන්නවා.**

යං ලෝකේ පිය රූපං සාත රූපං එත්තේසා තණ්හා උප්පජ්ජ මානා උප්පජ්ජති එත්ත නිවීස මානා නිවීසති කියන මේ බුදු වදන් අනුව ඇස, කන, නාසය, දිව, කය කියන මේවා නිසා තරුණ කාලය දක්වා ඇතිවන ප්‍රබෝධය අවිද්‍යා තෘෂ්ණා ගති හේතුවෙන් ප්‍රිය කාලයක් ලෙස සලකනවා. යථාවබෝධය සඳහා රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාන කියන මේ උපාදානස්කන්ධවල ආස්වාදය ආස්වාදය ලෙසත්, ආදීනවය ආදීනවය ලෙසත්, නිස්සරනය නිස්සරනය ලෙසත් දැකිය යුතුයි.

මේ පංච උපාදානස්කන්ධයන්ගේ ආකාරයත්, ඒවායේ නැගීමට, වැඩීමට හේතුවන ඡන්දරාගයත් අනිච්ච දුක්ඛ අනත්තයි කියන ආදීනව දැකීමෙන් එහි කෙලවර වීම හෙවත් අත්තගමයත් දකිමින්, යලි යලි සිහි කරමින් කටයුතු කරනකොට ඒකම උත්තරීතර නිවන් මග බවත් සං. නි (3) 267 පිටුවේ අනිච්ච සංඥා සූත්‍රයෙන් පෙන්වල තියෙනවා.

**මේ නිසා අනිච්ච කියන්නේ ස්ථිර නෑ කියන පටු අදහසකට (බමුණු මතයකට) සීමා නොකර,** සිහල තෙරවරු අනිච්ච කියන එකට අනිස කියල දක්වල තියෙන පදයේ අදට යෙදෙන අනිසි කියන අර්ථය අරගෙන ධර්මයට ගැලපෙන විදිහට තෝරගත යුතුයි.

අං.නි (6) 218 පිටුව, පඨම සුඛ සූත්‍රය - සාමන්ඩිකානි පිරිවැජියා සැරියුත් හිමියන්ගෙන් දුක කුමක්ද, සැප කුමක්ද කියල අහපු ප්‍රශ්ණයට, අභිනිබ්බත්තිය දුකයි කියල දේශණා කර, ඒ දුක ගොඩනැගීම සිදුවන හැටි මෙසේ පෙන්වා තියෙනවා. **අභිනිබ්බත්තිය හෙවත් අලුත් කයක් පහළවීමත් (තිබුණු කය මළාට පසු) සමගම ඇතිවන සීතය, උෂ්ණය, සා පිපාසා මළ මුත්‍රා බර සහ ඒවා ඉවත් කරන දුක, ගිනි ස්පර්ශවීම දඬු මුගුරු වැදීම, සැත් පහර වැදීම, ඥාති මිත්‍රාදීන් සතුරන් එක්වී කෝප ගැන්වීම ආදී දුක්වල පහළවීම වෙනවා.**

**අනභිනිබ්බත්තිය (නොඉපදීම) නිසා මේ දුක් එන්නෙ නෑ. ඒ තමයි සැපය.** රූපය ඇසුරු කරල නැගෙන මේ හිරිහැර නිසා වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාන ආශ්‍රයෙන්ද මේ දුක විඳිනවා. **මෙබඳු ස්වභාව තියෙන පංච උපාදානස්කන්ධයක් සැපයි හොඳයි යහපතයි කියල ගන්නවනම් දහම් දැකපු අයට ඒක ලජ්ජා වීමට කරුණක්.** මේ හරායති කියන ලජ්ජා විය යුතු අනිච්ච ස්වභාව ලක්ෂණය. මම, **මගෙ කියමින් මුලාවන, වටිනාකම් දෙන මේ කය මළ මුත්‍ර ගොඩක්, අසුභයක් ලෙස දැකීමයි** ජිගුප්ජති කිව්වේ.

පටි: මග්: ප්‍ර: ආනාපාන ස්මෘති කථා 364 පිටුවේ 'අනිච්ච' තෝරල තියෙන්නෙ මෙහෙමයි. කේනට්ඨේන අනිච්චා - උප්පාද වයට්ඨේන අනිච්චා පංචන්නං ඛන්දානං උදයං පස්සන්තෝ පංච වීසති ලක්ඛනානි පස්සන්ති වයං පස්සන්තෝ පංච වීසති ලක්ඛනානි පස්සන්ති පංචන්නං ඛන්දානං උදයබ්බයං පස්සන්තෝ ඉමානි පඤ්ඤාස ලක්ඛනානි පස්සන්ති.

මෙහි සිංහල තේරුම:- අනිච්චයි කියන්නෙ මොන අර්ථයෙන්ද? උප්පාද හා වය අර්ථයෙන්. උප්පාද දකින්නේ විසිපස් ලක්ෂණයක් දකී. වය දකින්නේ විසිපස් ලක්ෂණයක් දකී. උප්පාද වය දකින්නේ පනස් ලක්ෂණයක් දකී.

උදයව්‍ය (උදය+වැය)පනස් ලක්ෂණය පටි.මග්. ප්‍රකරණ ඤාණ කථා 105 පිටුවේ එන උදයබ්බ ඤාණ යටතේ දක්වල තියෙනවා. රූපස්කන්ධය පිළිබඳ උදය ඤාණ පහ - 1. අවිජ්ජා සමුදයෙන් රූප සමුදය වේ. 2. තණ්හා සමුදයෙන් රූප සමුදය වේ. 3. කම්ම සමුදයෙන් රූප සමුදය වේ. 4. ආහාර සමුදයෙන් රූප සමුදය වේ. 5. නිබ්බත්ති ලක්ෂණයෙන් රූප සමුදය වේ.

1. පංච උපාදානස්කන්ධ සංඛ්‍යාතලෝක දුකක් බව යතාභූත ඤාණයෙන් අවබෝධ කර නොගැනීම නිසා ආස්වාද මාත්‍රයෙන් මත්වෙලා සැප යැයි නුනුවනින් (අනුවනින්) මෙනෙහි කිරීමෙන්, අසාර ලෝකය සාරයි කියල දෘෂ්ටියක් නැගී උපාදානස්කන්ධය වෙත යලි යලිත් හමා යාම නිසා රූප සමුදය වෙනවා. මේ අවිද්‍යාව නිසා රූප පහලවන ක්‍රමයයි.

2. ඉහත කී අවිද්‍යාව නිසා රූප උපාදානය වන තණ්හාව නැගෙනවා. ඒ තණ්හා සහගත මානසිකත්වය රූපාස්වාදය කරා හඹායාම නිසාත් රූප පහල වෙනවා.

☞

3. මේ අවිද්‍යා තණ්හා නිසා හිතින්, කයින්, වචනයෙන් මනෝ කර්ම, කාය කර්ම, වචී කර්ම සිදුකරන කොට ඒ කර්ම බලවේග අනුවත් රූපස්කන්ධ පහල වෙනවා.

4. කබලිංකාරාහාරයේ බැඳුන තණ්හාව නිධානකර, තණ්හාව මුල්කර, තණ්හාව ජාතිකර, තණ්හාව ප්‍රභවය කර රූපස්කන්ධය පහල වෙනවා.

5. තණ්හා සහගතව රූප ඇසුරු කළේ කෙබඳු ආස්වාදයක් සඳහාද, ඒ මට්ටමට ලඳරුව හටගත් රූපය මෝරන්නේ පෙර තිබුණ බලාපොරොත්තුව පරිදි නිපදවන හෙවත් නිබ්බත්ති ලක්ෂණයෙන්.

**ලෝකයේ යම් තාක් රූප පහල වෙනවනම්, මේ ක්‍රම පහෙන් හෝ කිහිපයකින් හෝ එකකින් හෝ සිද්ධ වෙනවා.**

මේ තමයි රූප පිළිබඳ උදය ඤාණය, මේ හේතු නිසා රූපස්කන්ධය කියන ඵලය පහලවෙන බව දකින නුවණයි. **නුවණ කියන්නේ අකුරු හෝ පද හෝ භාෂාවක් හෝ ව්‍යාකරණයක් හෝ නෙවෙයි. මේ පිළිබඳ යථා වැටහීමයි.**

1. මේ රූප උපාදානස්කන්ධ නිසා විඳින්න සිද්ධවෙන විවිධ දුක් සහගත පෙළීම් දකිනකොට, දුක් ගොඩක් සැපයි කියල බදාගන්නා මුලාව ලජ්ජා වෙන්න කරුණක් මිසක් උද්දාම වෙන්න සුදුසු දෙයක් නොවන බවත්, හොඳ යහපත් දේවල් කියල පෙර නිගමනය කළේ මළ මුත්‍ර ගොඩවල් වැනි අසුභ දේවල් බවත් දකින නුවණ පහල වෙනකොට අවිද්‍යාව නිරෝධ වෙනවා. අවිද්‍යා හේතුවෙන් යම් රූපස්කන්ධයක් හටගත්තනම් මේ විදිහට අවිද්‍යා නිරෝධයෙන් රූපස්කන්ධ මෙන්ම උපාදානයත් හට ගැනීමේ ස්වභාවය නිරෝධ වෙනවා. මේ පළමු රූපස්කන්ධ නිරෝධ ඤාණයයි.

2. පෙර කියපු අවිද්‍යාව නිසා බැඳුනු තණ්හාවක් තිබුණනම්, අවිද්‍යා නිරෝධ වෙනකොට ඒකත් නිරෝධ වෙනවා. තණ්හා නිරෝධයෙන් තණ්හාව නිසා හටගන්නා යම් රූපස්කන්ධයක් තියෙනවනම්, ඒකත් නිරෝධ වේ කියල නුවණින් දකීද මේ දෙවැනි රූප ස්කන්ධ නිරෝධ ඤාණයයි.

3. අවිද්‍යා තණ්හා නිරෝධ වෙනකොට, අවිද්‍යා තණ්හා සහගතව කෙරෙන යම් කාය කර්මයක්, වචී කර්මයක්, මනෝ කර්මයක් තිබුණනම් ඒවා නිරෝධ වන බව නුවණින් දකිනවා. ඒ අවිද්‍යා තණ්හා හේතුවෙන් යම් කර්ම ගොඩනැගීමෙන්, රූපස්කන්ධයක් හෝ උපාදානයක් තිබුණනම් ඒක නිරෝධ වන බව නුවණින් දකිනවා. මේ තුන්වැනි රූපස්කන්ධ නිරෝධ ඤාණයයි.

4. කබලිංකාරාහාරයේ රස තණ්හාවෙන් තණ්හා නිධාන කොට, ජාති කොට, ප්‍රභවය කොට, හේතු කොට කරන කාය, වචී, මනෝ කර්ම මුල් කරගෙන ආහාර තණ්හාව නැගී, ඉන් මුසපත් වෙනකොට එයින් නැගෙන විඤ්ඤානය රූපස්කන්ධයක් හටගන්වන්න මුල් වෙනවා. **එබඳු ගිජු බවින් ගන්නා ආහාර පසුපස හඹායාම, එහි ලැගීම නිසා ඇම ගිලගත්තම කොක්කේ ඇමිනෙන මාළුවා වගේ කෙලවරක් නැති දුක් දෙන කයකට උරුමකම් කියන්න වන ආකාරයත්**, කාම ලොව මහා දුක් කඳකට ගොදුරුවෙන්න සිද්ධ වන ආකාරයත් සිහිකරන කොට, ආහාරයේ ගිජු බව නිරෝධ වෙනවා. එවිට ආහාරය නිසා යම් රූපස්කන්ධයක් නැගෙනකොට ඒක නිරෝධ වෙනවා. ඒ ඡන්ද රාගයත් නිරෝධ වෙනවා. මේ විදිහට දකින නුවණ හතරවෙනි රූප ස්කන්ධ නිරෝධ ඤාණයයි.

5. **ආහාරයට රස රාගයෙන් මත්වෙලා, ඒ පසු පස ඡන්ද රාගයෙන් හඹායනකොට උපන් රූපස්කන්ධයත් වේගයෙන් වැඩෙනවා. මතු රූපස්කන්ධයට හේතුවන විඤ්ඤාණයත් වැඩෙනවා.** මේ කරජ කාය කියන දුක් කඳ හටගන්න, වැඩෙන්න හේතුවන ආහාරය ආදීනව ලෙස දකිනකොට, කෑදරකමට ආහාරගැනීම නිරෝධ වෙනවා. මතු කයක් හටගන්න තියෙන හේතු නිරෝධ වෙනවා. තිබෙන කයත් විපරිනාමයට පත්වෙලා නිරුද්ධ වෙනවා. මේ විදිහට දකින්නේ රූපස්කන්ධය නිරෝධය පිළිබඳ වූ පස්වෙනි ඤාණයයි.

රූප උපාදානස්කන්ධය පිළිබඳව උදය ඤාණ පහත්, වැය ඤාණ පහත් මේ විදිහට දකිනකොට රූපස්කන්ධ පිළිබඳව උදයව්‍ය ඤාණය පහල වෙනවා. රූපං අනිච්චං කියන දෙවෙනි වටයෙහි විස්තරය මෙහෙමයි.

මේ අනුසාරයෙන් වේදනා උපාදානස්කන්ධයත් දැනගත යුතුයි. වේදනා ස්කන්ධය පිළිබඳව අනිච්ච ඤාණ දහය මෙසේය.

<u>උදය ඤාණ</u>, 1. අවිද්‍යා සමුදයෙන් වේදනා සමුදය වේ. 2. තණ්හා සමුදයෙන් වේදනා සමුදය වේ. 3. කර්ම සමුදයෙන් වේදනා සමුදය වේ. 4. ස්පර්ශ සමුදයෙන් වේදනා සමුදය වේ. 5. නිබ්බත්ති ලක්ෂණයෙන් වේදනා සමුදය වේ.

<u>වැය ඤාණ</u>, 1. අවිජ්ජා නිරෝධයෙන් වේදනා නිරෝධ වේ. 2. තණ්හා නිරෝධයෙන් වේදනා නිරෝධ වේ. 3. කර්ම නිරෝධයෙන් වේදනා නිරෝධ වේ. 4. ස්පර්ශ නිරෝධයෙන් වේදනා නිරෝධ වේ. 5. විපරිනාමයෙන් වේදනා නිරෝධ වේ.

<u>සංඥා ස්කන්ධ පිළිබඳ උදය ඤාණ පහ</u>, 1. අවිජ්ජා සමුදයෙන් සංඥා සමුදය වේ. 2. තණ්හා සමුදයෙන් සංඥා සමුදය වේ. 3. කර්ම සමුදයෙන් සංඥා සමුදය වේ. 4. ස්පර්ශ සමුදයෙන් සංඥා සමුදය වේ. 5. නිබ්බත්ති ලක්ෂණයෙන් සංඥා සමුදය වේ.

<u>සංඥා ස්කන්ධ පිළිබඳ වැය ඤාණ පහ</u>, 1. අවිජ්ජා නිරෝධයෙන් සංඥා නිරෝධ වේ. 2. තණ්හා නිරෝධයෙන් සංඥා නිරෝධ වේ. 3. කම්ම නිරෝධයෙන් සංඥා නිරෝධ වේ. 4. ස්පර්ශ නිරෝධයෙන් සංඥා නිරෝධ වේ. 5. විපරිනාමයෙන් සංඥා නිරෝධ වේ.

මේ සංඥා පිළිබඳ උදයව්‍ය ඤාණ දහයයි. සංඥා අනිච්චයි කිව්වේ මේකටයි.

මීලඟට <u>සංඛාර උපාදානස්කන්ධ පිළිබඳ උදය ඤාණ පහ</u> 1. අවිජ්ජා සමුදයෙන් සංඛාර සමුදය වේ. 2. තණ්හා සමුදයෙන් සංඛාර සමුදය වේ. 3. කම්ම සමුදයෙන් සංඛාර සමුදය වේ. 4. ස්පර්ශ සමුදයෙන් සංඛාර සමුදය වේ. 5. නිබ්බත්ති ලක්ෂණයෙන් සංඛාර සමුදය වේ.

<u>සංඛාර උපාදානස්කන්ධය පිළිබඳ වැය ඤාණ පහ</u>, 1. අවිජ්ජා නිරෝධයෙන් සංඛාර නිරෝධ වේ. 2. තණ්හා නිරෝධයෙන් සංඛාර නිරෝධ වේ. 3. කම්ම නිරෝධයෙන් සංඛාර නිරෝධ වේ. 4. ස්පර්ශ නිරෝධයෙන් සංඛාර නිරෝධ වේ. 5. විපරිනාමයෙන් සංඛාර නිරෝධ වේ.

මේ දකින ඤාණ දහය සංඛාර පිළිබඳ උදයව්‍ය ඤාණයයි. සංඛාරා අනිච්චා කිව්වේ මේකටයි. <u>විඤ්ඤාණ උපාදානස්කන්ධය පිළිබඳ උදය ඤාණ පහ</u>, 1. අවිජ්ජා සමුදයෙන් විඤ්ඤාණ සමුදය වේ. 2. තණ්හා සමුදයෙන් විඤ්ඤාණ සමුදය වේ. 3. කම්ම සමුදයෙන් විඤ්ඤාණ සමුදය වේ. 4. නාම රූප සමුදයෙන් විඤ්ඤාණ සමුදය වේ. 5. නිබ්බත්ති ලක්ෂණයෙන් විඤ්ඤාණ සමුදය වේ.

<u>විඤ්ඤාණ උපාදානස්කන්ධය පිළිබඳ වැය ඤාණ පහ</u>, 1. අවිජ්ජා

නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධ වේ. 2. තණ්හා නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධ වේ. 3. කම්ම නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධ වේ. 4. නාම රූප නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධ වේ. 5. විපරිනාමයෙන් විඤ්ඤාණ නිරෝධ වේ.

මේ විඤ්ඤාණ උපාදාන-ස්කන්ධය දකින උදයව්‍ය ඥාණ දහයයි. විඤ්ඤාණං අනිච්චං කිව්වේ මේකයි.

මේ විදිහට උප්පාද වය අර්ථයෙන් අනිච්ච දැක්කම, බොහෝ පෙලීමෙන් දුක් විඳින්න වෙන, ලැජ්ජාවිය යුතු කුණු ගොඩවල් ලෙස දැකිය යුතු පංච උපාදානස්කන්ධ දකින දුක්ඛේ ඥාණං පහල වෙනවා.

මේ පංච උපාදානස්කන්ධයෝ නිරෝධ කරන, හේතු නිරෝධය දකින කොට දුක්ඛ නිරෝධේ ඥාණං පහල වෙනවා.

මේ සම්බන්ධයෙන් **පොතේ තියෙන අකුරු, වාක්‍ය කටපාඩම් කරගෙන මතක තබා ගැනීම නෙවෙයි කරන්න ඕන. ඒවායේ තියෙන සත්‍යතාව නුවණින් විමසමින්** බලනකොට හෙවත් විපස්සනාකරනකොට (විදර්ශනා) පංච උපාදානස්කන්ධ පිළිබඳව ඒවායේ දුක්ඛිත ස්වභාවය, ඒවා හටගන්න හේතු , ඒවා නිරෝධ වන ආකාරය සිහි නුවනින් දකින කොට ඒ විපස්සනාව ආසේවිත (ඇසුරු කිරීම), භාවිත (යළි යළි ඇසුරු කිරීම), බහුලී කම්ම (බොහෝ කොට ඇසුරු කිරීම) කළ යුතු බව වටහාගෙන, ඒ මගට බහිනකොටම සත්‍යය දකිනකොට සම්මා දිට්ඨිය වැඩෙන්න පටන් ගන්නවා. පෙර තිබිච්ච ඡන්දරාගය ක්‍රමයෙන් ගෙවිල යනවා. කාම කල්පනා දුරුවෙමින් නෙක්ඛම්ම සංකල්පනා නැගෙනවා. ලොව අල්ලා ගන්න බදා ගන්න තිබිච්ච තණ්හාව ටික ටික දුරු වෙනවා. ව්‍යාපාදය සහ හිංසා සිතිවිල ගෙවිල යනවා. මෙසේ සම්මා සංකප්පය වැඩෙනවා.

**ඉස්සර බොරු කිව්වේ, කේලම් කිව්වේ, පරුෂ වචන කිව්වේ, ප්‍රලාප කිව්වේ ලෝකාස්වාදයට බැඳෙමින් ඒ හිස් දේවල් වටින ලෙස හිතල මම කරගන්න, මගෙ කරගන්නයි. නොවටිනා බව, අසාර බව, දුක් බව දකින කොට බොරු කියල කවුරු කුමකට රවටන්නද, කේලම් කියල කවුරු කුමකට බිඳවන්නද, පරුෂ වචන කියල කුමකට සැඩ බවට පත් කරන්නද, ප්‍රලාප කියල ඇලී ගැලී මොන සුව ආස්වාදයක් විඳින්නද කියල ප්‍රඥා ගෝචරව වැටහෙමින්** ඒ පාප අදහස් අතහැරෙන්න පටන් ගන්නවා. මේ සම්මා වාචාවයි.

**මෙබඳු හිස් වූ දුක් සහිත අසාර ලෝකයක කුමක් අයිති කරගන්න, කුමක් රැක ගන්න ප්‍රාණ ඝාත කරන්නද, හොර මැර වංචා කරන්නද, සුරා සූදු දුරාචාර කරන්නද කියල ඒවායේ අසාර බව, හිස් බව, දුක්ඛිත බව, අසුභ බව වැටහෙමින් ඒ අදහස් අත්හැරී යනවා.** සම්මා කම්මන්ත මාර්ගය වැඩෙනවා.

**මෙබඳු හිස් වූ, දුක් වූ, අසාර වූ, අසුභ වූ ලෝකයක මොන සුවයක් ලබා ගන්න, අසාධාරණ විදිහට ලැබූ පරිහරණයන්ගෙන් ජීවත් වෙන්නද කියල, ඒවායෙන් නිදහස් වෙලා පැවැත්ම ගෙනියන ස්වභාවය ඇති වෙනවා.** මේ සම්මා ආජීවයයි.

මේ විදිහට දුක සහ දුකට හේතුව මනා නුවණින් දැකල එයින් මිදීමේ නිදහස, වටිනාකම නුවණින් තේරුම් ගත්තම යලි යලිත් නිරන්තරයෙන් විපස්සනා වැඩීමේ වටිනාකම සිහිවෙනකොට, දිවා රාත්‍රී, උත්සාහයෙන් විර්යෙන්, මනා සිහි නුවණින් යුතුව මුලා වෙච්ච ඡන්ද රාගයෙන් කෙරන කායික, වාචසික ක්‍රියා අතහරිමින් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ ආදී අරමුණු ඉන්ද්‍රිය ගෝචර වන මොහොතේ මනා සිහියෙන් ඉඳිමින්, ඇලීමට ගැටීමට පත් නොවී, ඒ අරමුණුවල ඡන්ද රාගයෙන් බැඳීමේ ආදීනව දකිමින්, හිතට දැනෙන සැප, දුක්, මධ්‍යස්ථ වේදනා වල නොඇලී, නොගැටී, මුසපත් නොවී ඒවා නිසා ඇතිවන, ඇතිවෙන්න පුළුවන් පීඩා දුක්, වෙහෙස... ආදිය මනා සේ විපස්සනා නුවණින් දකිමින්, එසේම අරමුණු සම්බන්ධ ක්‍රියා වගේම ඒ ඇසුරේදී ඇතිවන වින්දන හේතුවෙන් අනවශ්‍ය සිත් පහලවෙන්න නොදී, එබඳු සිත් පහල වෙන්න එනකොටම මොහොතකින් ඒ නිසා වන අවැඩ, දුක, දාහය, නිසරුව සිතමින් නොකටයුතු සිත් පහල වෙන්න ඉඩ නොදී, සිහි නුවණින් කටයුතු කරමින්, ලෝක පැවැත්මට හේතුවන විවිධ වූ නීවරණ ආදී ධර්මතා අසාර බව, දුක්ඛ බව, පීඩාකාරී බව, අසහනයන්ට හේතුවන බව දැකල ඒවායේ ඡන්ද රාග දුරුවන විදිහට විපස්සනා නුවණ නිතර වඩමින් කටයුතු කරන කොට සම්මා සතිය වැඩෙනවා.

ලෝකයේ කෙබඳු හෝ සමාධියක් ලෞකික වූ කෙබඳු අරමුණක් ඇසුරු කරල හෝ පහල වෙනවනම්, ඉහත කියපු කාරණා හතෙන් සිහි නුවණින් කටයුතු කරන කොට ලෞකික වූ කිසි අරමුණක නොබැඳුනු නිශ්චල වූ නිහඬ වූ අකම්ප්‍ය වූ ලෝකෝත්තර සමාධියක් පහල වෙනවා.

මේ අත්දැකීම එනකොට, **ලෝකය කියන්නේ දුක් කඳක් බවත්** මුලාවෙන් කෙරෙන ඡන්ද රාගය ඒ දුක් කඳ ගොඩනැගෙන හේතුව බවත්, ලෝකය නමැති දුකෙන් නිදහස්වන නිදහස් ස්වභාවය නිරෝධය ලෙසත්, ඉහත කියපු විදිහට කෙරෙන විපස්සනාව මාර්ගය ලෙසත් දකින, අවබෝධ වන ලෝකෝත්තර ඥාණයත් පහල වෙනවා. එය විමුක්තිය අරමුණු කරන අතර ඒ විමුක්තිය ලෝකය හා සම්බන්ධ නෑ. **මේ සියළු අවබෝධයන් අකුරු නෙවෙයි, පද නෙවෙයි, වාක්‍ය නෙවෙයි, කිසිම භාෂාවක් නෙවෙයි, ඒක සිංහලත් නෙවෙයි, දෙමලත් නෙවෙයි, පාලිත් නෙවෙයි, සංස්කෘතත් නෙවෙයි, කිසියම් ජාති ආගම් කුල ආදියක් හෝ ලෝකයේ විද්‍යමාන කිසිවක්ද නෙවෙයි. කිසිවකින් කියන්නත් බෑ, සියලු රූපත් නෙවෙයි, වේදනාත් නෙවෙයි, සංඥාත් නෙවෙයි, සංඛාරත් නෙවෙයි, විඤ්ඤානත් නෙවෙයි, නමුත් ලෝකයේ තියෙන සියලු ගිනි ඒ ස්වභාවයේ නෑ. එනම් අසංඛත ස්වභාවයයි. එය හේතුවක ඵලයක් ලෙස සකස් වුන එකක් නෙවෙයි හෙවත් නිවනයි.**

මේ ස්වභාවය සමග ලෝකය සහ ලෝකය ගොඩනැගෙන ඡන්ද රාගයත්, පටිච්ච සමුප්පන්නව දකිනවා. ලෝක නිරෝධය සහ නිරෝධ මාර්ගය පටිච්ච සමුප්පන්න නිරෝධයෙන් දකිනවා.

කෙබඳු වචනවලින්, කෙබඳු පදවලින්, කෙබඳු භාෂාවලින්, කෙබඳු ආකාරයකින් විස්තර කෙරුවත් ඒ සියල්ල පටිච්ච සමුප්පාදය හෝ පටිච්ච සමුප්පාද නිරෝධය නෙවෙයි. ඒවා ලෝක සම්මත විතරයි. මේ සියල්ලෙන් කෙරෙන්නේ අවබෝධයට රුකුල් දීමක් විතරයි. **මේ අවබෝධයට ආධාර වන විස්තර කිරීම්වලට අකුරු, පද, නිරුක්ති, ආකාර, බෙදීම් අප්‍රමාණයි. අවබෝධ කරපු උදවිය විවිධ ක්‍රම මගින් අන්‍යයන්ගේ අවබෝධයට රුකුල් දෙන දේශනා කරනවා.**

අදහස වැටහේවා, වචනය අමතක වේවා කියල කාල සිටු පුත්‍රයාට බුදුපියාණන් වහන්සේ කරපු ධර්ම දේශනාව සිහියට අරගෙන, පටිච්චද? පටිච්ඡද? කියල මුලා වූ වාද නොකර සත්‍යාවබෝධය ලබනවනම් ඒක බුදු සසුන බබලන්න හේතු වෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් සමග කළ සාකච්ඡා ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

02 වෙනි පිටුවෙන්...

## සැඟව ගිය බොදු මග යළි මතුවීමට එරෙහි කෙනෙහිලිකම්වල බරපතළකම

විසින් පෙන්වා දුන් නිර්මල දහම් මග අර්ථ විපරීතව සැඟවිලා ගිහින් ඇති කාල වකවානුවක, යම් පමණකින් හෝ ඒ දහම් මග නැවතත් මතුවෙමින් එන කොට, ඊට එරෙහිව ක්‍රියා කරන්න පුළුවන් මොන බෞද්ධයාටද? **ඒ නිර්මල දහම් මග මතුවීමට අකැමැති වෙන්න පුළුවන් මොන බෞද්ධයාටද? එහෙනම් ඒ බෞද්ධ කම මොකද්ද? ඒ බෞද්ධ කමින් පෙන්වන නිවන් මග මොකද්ද? ඒ මගින් නිවන් ලැබුවේ කවුද?** මේ නිසා අපි විශේෂයෙන් තේරුම් ගත යුත්තක් තියෙනවා. **ශාසන න්‍යාය කියන එක බොහොම බරපතලයි. හරියට දැළි පිහියෙන් කිරි පැණි කනව වගේ වැඩක්. හරි ගියොත් හරි ගියා වගේම තමයි** වැරදුනොත් වැරදුනාමයි. ධර්මයට පහර ගහන්න ගිහින් වරද්ද ගෙන ''අනේ අපොයි අපි කරගත්තු අපරාධයක්'' කියල සිහියට එන කොට වෙන්න ඕන ටික වෙලා ඉවරයි. ඒක තමයි හේතුවට අනුකූල වූ ඵලය.

ඒ වගේම විවිධ ධර්ම දේශකයන් වහන්සේලා (ගිහි/පැවිදි), මෙන්න නියම බුදු දහම කියා තම අදහස් ඉදිරිපත් කරන කොට, ඒක ශ්‍රී සද්ධර්මයට නොගැලපෙන බව වැටහුණ නැණවතුන්, ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මයේ සූත්‍රයන් සමගින් හේතු ඇතිව කරුණු පෙන්වා දෙනකොට, තම මතයම නිවැරදි බවට තර්ක කරන සමහරු ඒවා ත්‍රිපිටක ග්‍රන්ථවලට පසුව ඈඳාගත් බමුණු මත යැයි කියමින් ප්‍රතික්ෂේප කිරීමත්, එසේ නැත්තම් පෙනි පෙනී තියෙන සත්‍ය දහම් අර්ථ ව්‍යංගාර්ථ විදිහට විකෘති කර දහමට නොගැලපෙන විවිධ අර්ථ කථනයන් ඉදිරිපත් කරමින් තම තමන්ට අවශ්‍ය කොටස් පමණක් හුවා දක්වමින් කටයුතු කිරීමත් අද පේන්න තියෙන කරුණක්.

මේ අයට කිව යුතු කරුණ නම්, වසර 2600 ක පටන් අතීතයක සිට මේ දක්වා ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මයේ අර්ථ විකෘති කිරීමක් හෝ අලුත් විකෘති අර්ථ ඇති සූත්‍ර හදා එකතු කිරීමක් හෝ කර ඇති බවට සාක්ෂියක් මෙතෙක් කල් ගිහි පැවිදි කිසිම පඬිවරයෙකු විසින් අඩු තරමින් තල් පත් ඉරුවකවත් කර තිබුණු සටහනක් මෙතෙක් සොයාගෙන නොතිබීමයි. ඤාණගෝචර වූ සෑම අතින්ම ගැලපෙන දහමක් එදා මෙදා තුර ධර්මාවබෝධය ලබල හිටපු මහ සඟ පරපුර දනගෙන හිටපු නිසයි ඒ ත්‍රිපිටක ධර්ම රත්නය එසේම ගෙනවිත් තියෙන්නේ.

ත්‍රිපිටකයේ මේ මේ සූත්‍ර වැරදි යැයි අද සමහරු කරන තර්කවාද හරි නම්, වසර 2600 ක් පමණ ත්‍රිපිටක ධර්ම රත්නය භේද බින්න නොකර රැකගෙන ආපු මහ ථෙර පරපුර මෝඩ අඥාන පිරිසක් විය යුතු අතර නියම ධර්මධර උතුමන් නම් වසර 2600 කට පසු මෙකල තැනින් තැන පහළ වෙලා ත්‍රිපිටකය විවේචනය දේශකයන් විය යුතුයි. නමුත් බටහිරින් ඉර පැයුවත් ඒක එහෙම වෙන්න විදිහක් නෑ. එමනිසා සියලු බුද්ධ ධර්ම දේශකයන් වහන්සේලා තම අදහස් ත්‍රිපිටක ධර්මයේ කිසිම සූත්‍රයකට විරුද්ධ නොවන ලෙස නියමාකාර අවබෝධය ලබා දේශනා කරනවනම්, දහම් විකෘතියක් සිද්ධ නොවන අතර, ධ්‍යාන මාර්ගඵල සහිත ධර්මාවබෝධ මාර්ගය බබලන්න හේතු වනු ඇති. මාර්ගඵල අවබෝධයට පරම දුර්ලභ කරුණ නම් ශ්‍රී සද්ධර්මය බව එවිට පෙනී යන්න ඕන..

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ,**
**අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව,**
**දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ**
**අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද**
**නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත**
**බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net www.nirvanadhamma.com mp3.hiddendhamma.net www.helabodhupiyuma.net

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.




**සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා පැවැත්වෙන සදහම් වැඩසටහන් මාලාව සජීවීව විකාශනය කෙරෙන අන්තර්ජාල ගුවන් විදුලි සේවාවට සවන්දීම සඳහා www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ ''දම් සභා ගුවන් හඬ''ට පිවිසෙන්න.**










# තණ්හාය ජායතී සෝකෝ

කල දුටු කලට වල ඉහගෙන කන ඇත්තූ
බල බල තවත් වස්තුව ගොඩ ගහ ගත්තූ
එල දැන නොගෙන පව් කළ මවු පිය පුත්තූ
මළ ගිය දාට උපදිනවා වී සත්තූ

තම වස්තුවම වැඩි කර ලබනට වාසී
ඇම දී නොයෙක් අනුනට ගන්නව කාසී
කිම නෙක පිරිවරා ගෙන හිටියත් දාසී
නොම දී සැපක් දුගතියටම වෙයි වීසී

පෙර කළ කරුමයක පව් විඳවන නුඹද
කරගෙන වස්තු මගෙ යැයි කියමින නිබඳ
දීරකඩ වන කයින් තව හිටියද සුබද
ජර මර නැති ලොවක් හමු වේවිද සබඳ ?

රත් වූ පොළොව ගිනි දැල් විහිදන මැද්දේ
මත් වූ සතන් වස්තුව රකිනට යුද්දේ
අත් වූ ඉරණමකි හිල් වූ නැව පැද්දේ
පත් වූ ලොබින් භව සයුරටමය ඇද්දේ

මේ කය දමා යන විට පරලොව දිනක
දාහය සිතට එන වදනින් කිව නොහැක
ලෝකය බදා ගෙන හිටියත් කොයි තැනක
මෝහය මුල්ව දුක් ගිනි ඇවිලෙයි සැනෙක

කාලය ටිකයි මේ මිනිසත් බවට හිමී
බාලය නොවැඩුවොත් ගුණයක් පිනට නැමී
ආලය කළොත් ලෝකෙට ගිනි නොමැත නිමී
සීලය පිහිටියොත් කෙටි වෙයි සසර බැමී

පබැඳුම - හිරිකඳු චන්ද්‍රා සිරිවර්ධන












# අත්තානං

## උපමං කත්වා













එක් සතෙකුගේ දිවි තොර කරනට ගන්නා
දක්නට තියෙන කාලය නම් සුළු වෙන්නා
සක්තිය ඉන් නැගෙන එනමුත් බලයෙන්නා
මොක් පුර රුවන් දොර ඇරීලත් එල දෙන්නා

පර පණ නැසීමෙන් පසු එන ගිනි කන්ද
තොර කළ නොහැක ගැල සක මෙනි ගොනු බැන්ද
කරනට පෙරදී නොම වී නම් නෙත් අන්ධ
මරණෙට සැවොම බිය බව නොපෙනුනෙ මන්ද ?

කළොත් පාප වැඩ ලෝ සත සුවය පතා
මළොත් දාහ දුක් කඳ එයි දැඩිව ඕතා
හලොත් කුසල දම් උස් මිටි වෙනස නැතා
බලොත් කරන්නට සෙත යහපතම වෙතා

උපමා කරනු තම පණ නල පළමු කොට
නොපමා දකිනු අන් පණ ගැන දෙවෙනියට
තොප මා සමග අන් සතුනුත් මරණයට
කොපමණ බයද තම දිවි තොර කරන විට ?



පාපය වුනත් සුළුවෙන් දුටු තැන අල්ලා
සාපය නැගෙන්නට පෙර කර ගනු මෙල්ලා
කෝපය නොගෙන බිඳ කෙලෙසුන් නම් බිල්ලා
දීපය දල්ව ගනු නිවනම කර එල්ලා





පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විහාර පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී